සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

44 වෙනි කලාපය

ශ්‍රී බු. ව. 2559ක් වූ පොසොන් මස (ව්‍යවහාරික වර්ෂ 2015 ජූනි)



## රාජ්‍ය නායකයන්ගේ පහළ වීම

### දහම් ඇසින්...

රු. 20/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# සමානයන් අතර විසම වී...



එකම ලෙසට පෙනුනත් මුල් උපත මත
විසම වෙ මැයි කල් යන විට නැගෙන අත
එ සැම හේතු ඵල අනුවම විසම වෙත
අසම ගතිය සුළු වූවත් වෙනස ඇත

වෙනස නිසා ලෝ සත තරඟයට බට
මනස දුවයි අරමුණු මුල් තැනක සිට
වනස ගන්න බහුතරයක් දුවන විට
නැණස ඇති අයම ජය ගෙන විඳිත තුට

බහු හේතුකයි ලොව හට ගත් හැම දේම
පහු වෙන විටයි දෙ ඇසට ගෝචර වීම
ලිහු විට අවිදු අඳුරුව හිරු එළි සේම
අහු වෙත දහම නැණ ඇති සත හට සෑම

දනන් ලොවේ නිතරම වෙනසකට තැවේ
කරන්නට දරයි වෙර සම ලෙසට ලොවේ
භවින් චුතව තව අනතව සසර දිවේ
නිවන් පිරි විටදි කවුරුත් විසම නොවේ

පෙර ගොඩ නැගුණු පොදු හේතුව මුල රැගෙන
දුර යන විටදී නෙක හේතුද ගොඩ නැගෙන
හැර ගිය හේතුවෙන් පෙර පෙනුමද නොගෙන
අර ගෙන හේතු නව වෙන පෙනුමකි හැඟෙන

පණ ඇති නැති කියන මේ හැම දෙයක ඇතී
වෙනසට නොවෙනසට බහු හේතුවම වෙතී
නැණ නැති ඇති දනන්ගේ විසමයෙහි පැතී
වැනසුම දියුණුවම ආපසු රැගෙන එතී

රහත් වුවත් හැකියාවෙන් වෙනස් වෙන
මහත් ඵලයි අවසානය නිවන් දෙන
පහත් කමින් ලොව ජය ගෙන ගියත් දන
නහත් කවද හරි සසරෙහි ගියොත් පණ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# රහතුන්ගේ උදම් වැකි

**4 වන කොටස**

අරිහත් භික්ෂුණීන් වහන්සේලා අතර ප්‍රඥාධික වූ තෙරණියක් වන ධම්මදින්නා රහත් තෙරණිය ගැන බොහෝ පින්වතුන් අහල ඇති. ''අපදාන පාළිය තුලින් නිවන් මග'' කියන ලිපි පෙළින් මේ භික්ෂුණීන් වහන්සේගේ පටන් ගැන්ම ගැන විස්තරයක් ඉදිරිපත් කළා. දැන් මේ කියන්න යන්නෙ ඒ උත්තමාවිය තමන් වහන්සේ ලබාගත් අරිහත් ඵලය / ඒ සැනසීම සම්බන්ධයෙන් කියපු උදාන වාක්‍යය ගැන.

ඡන්දජාතා අවසායී මනසා ච ඵුඨා සියා
කාමේසු අප්පටිබද්ධ චිත්තා
උද්ධං සෝතාති වුච්චතීති

සරල සිංහල තේරුම,

(අග්‍ර ඵලය පිණිස) උපන් ඡන්දය ඇත්තී මහණුවම්හි අවසානය (නිවන) පතන්නී සිතින් (නිවන) ස්පර්ශ කළා වෙයි. කාමයෙහි පිළිබැඳි සිත් නැත්තී උද්ධං සෝත" යැයි කියනු ලැබේ.

දැන් මේ උදාන වාක්‍යය කියවන පින්වතුන්ට හිතෙන්න පුළුවන්, ඇයි ඒ උත්තමාවිය ''උපන් ඡන්දය ඇත්තී මහණුවම්හි අවසානය (නිවන) පතන්නී සිතින් (නිවන) ස්පර්ශ කළා වෙයි'' යනුවෙන් පටන් ගත්තෙ කියල. නැවතත් හිතෙන්න පුළුවන්, ඡන්දය කියන්නෙ නිවන වහන එකක් නෙ, එහෙම කෙනෙක් කොහොමද අවසාන කෙලවර නිවන් දකින්නෙ කියල. මෙතන ඡන්දය කියල අදහස් කළේ සතර සෘද්ධිපාදවල එන ඡන්දය. පිළිවෙලින් ඡන්දය, වීර්ය, චිත්ත සහ විමංසා කියන කොටස් හතරට තමයි සතර සෘද්ධිපාද කියන්නෙ. ඒ කියන්නෙ නිවන අවබෝධ කරගන්න යන සැදැහැවතෙකුට අවශ්‍යයෙන්ම පිහිටිය යුතු කාරණා හතරක්. ඒකෙන් එකක් තමයි ඡන්දය කියන්නෙ. ඉතින් නිවන අවබෝධ කරගන්න ඕන කෙනෙකුට නිවනට කැමැත්තක් තියෙන්න ඕන. ඒ කියන්නෙ නිවන් දකින්න අවශ්‍යතාවයක් තියෙන්න ඕන. එහෙම අවශ්‍යතාවය තියෙන කෙනාට තමයි මේ සතර සෘද්ධිපාදවල එන ඡන්දය හෙවත් නිවනට ඇති කැමැත්ත අවශ්‍ය වෙන්නෙ. විරිය කියන්නෙ ඒ සඳහා කරන උත්සාහය. චිත්ත කියන්නෙ අධිෂ්ඨාන කරල පිහිටවපු හිත. විමංසා කියන්නෙ සිහි නුවණින් විමසල කටයුතු කිරීම.

නිවෙන්න නම් පත්තු වෙන දෙයක් දකින්න ඕන. එහෙම දැක්කමයි නිවෙන්න අවශ්‍ය වෙන්නෙ. ගින්නක පොදු ලක්ෂණය තමයි, යම් කිසි දෙයක් දවා අළු කර දැමීම. ඒ ගින්න දැවෙන්න උදව්වුන දේම ඒ ගින්නෙන්ම දවා අළු කරල දානවා. උදාහරණයක් විදිහට, ගින්න පත්තු වෙන්න එක හේතුවක් වූ දර (හෝ වෙනත් දෙයක්) ඒ ගින්නෙන්ම විනාස වෙලා යනවා. අපේ මනසත් ඒ ජාතියේ ගිනි ඇවිලෙන්න උදව් වෙන දාහකයක්. යම් කිසි ප්‍රිය මනාප මධුර දෙයක් දැක්කොත් ඉබේම ඒකට ඇලෙනවා. ඇලෙන්න ගිහින් ඊට විරුද්ධ දෙයක් එනකොට හිත පිච්චෙනව වගේ දැනෙනවා. මනස තුල මහ දාහයක් කැකෑරෙනවා. මේ දැවිල්ල ඇති වෙන්නෙ අර පිච්චෙන ගතිය නිසා. ගින්නක් ඇති වුන නිසයි පිච්චෙන්න වුනේ.



යම් දේකට ඇලෙනව නම්, ඒ ඇලෙන්නෙ රාගය නිසා. ස්ත්‍රියක් පුරුෂයෙකුට වෙන්න පුළුවන්, පුරුෂයෙක් ස්ත්‍රියකට වෙන්න පුළුවන්, එහෙම නැත්නම් ගේ දොර වතුපිටිවලට වෙන්න පුළුවන්, මුදල්වලට වෙන්න පුළුවන්, කොටින්ම තමන් දාගෙන ඉන්න සෙරෙප්පු දෙක හෝ වෙන්න පුළුවන්, ඒ ඒ කෙනා රාගයෙන් බැඳෙන දේ ඒ ඒ කෙනාට පෞද්ගලික දෙයක්. කෙනෙක් රාගයෙන් බැඳෙන දේ තව කෙනෙකුට අප්පිරිය වෙන්න පුළුවන්. ලෝකයෙන්ම උදාහරණයක් අරගෙන බැලුවොත්, සමහර රටවල උදවිය හරිම ආසාවෙන් ගොලුබෙල්ලෝ වගේ සත්තු ආහාරයට ගන්නවා. හරිම රසයි කියල තලු මර මර ඒකට බැඳෙනවා, මතු මතුත් පතනවා. දැන් අපේ රටේ කෙනෙක්, මෙහෙම කෙනෙක් දැක්කොත් මොකද හිතන්නෙ? ඒ පුද්ගලයා ඒක අප්පිරිය කරනවා. මොන ජරාවක්ද උන් ඒ කන්නෙ, අප්පෝ මළ පෙරේතයො ජාතියක් කියල හිතෙන්න පුළුවන්. හොඳයි එහෙම කිව්වට, දැන් අපේ රටේ කෙනාගෙ රාගය නෑ කියල කියන්න පුළුවන්ද? ගොළු බෙල්ලො ආහාරයට ගන්න රාගය නැති වුනාට සමහර විට ඒ පුද්ගලය ඒ ගානටම කජු මාළුවකට තලු මරන්න පුළුවන්, මතු මතුත් පතන්න පුළුවන්.

ඉතින් රාගය කියන එක පුද්ගලයා අනුව වෙනස් වෙන දෙයක්. පුද්ගලයාගෙන් පුද්ගලයාට රාගය ඇති වෙන හේතු වෙනස් වෙන්න පුළුවන්. ඒ නිසා ඇති වෙන දැවිල්ල විවිධ ප්‍රමාණයෙන් එන්න පුළුවන්. ඒත් ඒ දැවිල්ල දැවිල්ලමයි. ඇහුවොත් හැමෝම කියන්නෙ, අම්මෝ මගේ පපුව පිච්චෙන්න වගේ ආවා, ඒක ඇහුවම මගේ බඩ පපුව පත්තු වුනා කියල. ඒ කියන්නෙ මහත් අපහසුතාවයකට පත්වෙනවා. ඉතින් මේ ගින්න ඇති වුනේ මොකක් නිසාද කියල හොයල බලල ඒක නවත්වන්න කිව්වොත්, ඒ අය මොන ජාතියේ කතාවක් කියයිද? ''අපෝ පිස්සුද එයාව එහෙම

අමතක කරන්න පුළුවන්ද? මට ඒ ජාතියේ ගෙයක් නැතුව ඉන්න පුළුවන්ද? අනේ මගේ අලුත්ම කාර් එක පොඩ්ඩක් හීරුනාට කමක් නෑ කියල මට නිකං ඉන්න පුළුවන්ද?'' ඉතින් පොදුවේ ඒ ඒ දේවල් නිසා දාහයක් එනවයි කිව්වට පිලිගන්න කැමති නෑ. හිතල බැලුවොත් අපි වැඩිපුරම දුක් විඳල තියෙන්නෙ, වැඩියෙන් ඇලුම් කරන දේ නිසාද, අඩුවෙන් ඇලුම් කරන දේ නිසාද?

අනේ මගෙ රත්තරන් පුතා, මගේ පණ කියා ගෙන ඉන්නවා. නිකං හරි ආරංචි වුනොත්, අන්න පුතා ගඟේ නාන්න ගිහින් ගහගෙන ගිහිල්ල කියල, ඒ අම්මගෙ තාත්තගෙ හිතට මොන තරම් ගින්නක් පත්තු වෙයිද? ඒ අය විලාප නොතියා ඉදියිද? ඊට පස්සෙ නැවතත් ආරංචියක් එනවා, ඒ ඔයාලගෙ පුතා නෙවෙයි එකම නම තිබ්ච්ච වෙන ළමයෙක් කියල. දැන් ඒ අම්ම තාත්ත මොන වගේ කතාවක් කියයිද? ඒ අයට නිකම්ම කියවෙයි, අනේ දෙයියො අපේ මූණ බැලුවා, දැන් තමයි ඇඟට ලේ ටිකක් ඉනුවෙ කියල. හැබැයි කවුරු හරි ළමයෙක් ගඟේ ගහගෙන ගිහින් මැරිල. එතකොට අර අම්ම තාත්ත දැනුයි කිව්වෙ සැනසීමක් ලැබුනෙ කියල. ඒ අයට දැන් අර කලින් පත්තු වෙච්ච ගින්න නෑ. ඕන නම් ඒ වෙලාවට විතරක් පුංචි දුකක් හිතෙයි, අනේ කාගෙ හරි ළමයෙක්නෙ කියල. ඒත් අර කලින් තරම් ගින්නක් පත්තු වෙන්නෙ නෑ. ඇයි ඒ? ඒ ළමය තමන්ට කිසි සම්බන්ධයක් නැති නිසා, ඒ ළමයට තමන්ගෙ රත්තරන් පුතා තරම් බැඳිල නැති නිසා. අන්න ඒ නිසයි කිව්වෙ, අපිට වැඩියෙන්ම දුක එන්නෙ අපි වැඩියෙන්ම ඇලුම් කරන දෙයින් කියල. ඉතින් මේ ගින්න ලෝකයට ඇලුම් කරන හැමෝටම පොදුයි. මේ ඇලුම් කරන ඡන්දය නීවරණයක්, නිවන වහන එකක්. මේ ඡන්දයෙන් නිවන් දකින්න බෑ. එතනදි ඡන්දය කියන්නෙ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ පිළිබඳව යම් කිසි කාමයක් තියෙනව නම් ඒවාට මම, මගෙ කියල බැඳිල අල්ල ගෙන ඉඳීම. ඒක තමයි කාමච්ඡන්දය කියන්නෙ. කාමය නිසා සිත අන්ධ කරනවා. හැබැයි මේ ගින්න නොදැක සතර සෘද්ධිපාදවල එන ඡන්දය හෙවත් නිවනට කැමැත්තක් ඇති වෙන්නෙත් නෑ. කොහොමද මේ ගින්න යථා ස්වභාවයෙන් දකින්නෙ?

අපි ඇලුම් කරන දේවල්වලට පොදු ලක්ෂණයක් උරුම වෙලා තියෙනවා. මේ පොදු ලක්ෂණය නුවණින් දකින්න ඕන. මොකක්ද මේ පොදු ලක්ෂණය? තමන් කැමති හෝ නැතා හෝ යමක් හටගත්ත නම්, ඒක ජරාවට මරණයට පත්වෙනවා ඒකාන්තයි. ඒ ගැන ඕන තරම් අත්දැකීම් අපට තියෙනවා. අපි කුඩා කාලෙ තරුණව හිටපු අය, අපි වැඩි මහල් වෙනකොට මහළු වෙනවා. ඒ කාලෙ මහළුව හිටපු අය මියයනවා. සමහරු ලෙඩ රෝගවලින් මියයනවා. සමහරු අකාලයේ විවිධ අනතුරුවලින් මියයනවා. කොහොම හරි ජරාව, මරණය ඒ අය කරා එනවා. භෞතික වස්තුවලටත් එහෙමයි. අනේ හොඳට තිබ්ච්ච කමිසය දැන් පාට අඩු වෙලා වැඩට අඳින්න බෑ, ගෙදරට අඳිනවා. එහෙම හිතෙනවා. අපෝ මේක දැන් ගෙදරටවත් අඳින්න බෑ, මොකක් හරි පිහින්න ගන්න හොඳයි. ඊළඟට එහෙම හිතෙනවා. අලුතින් ගත්ත කමිසය, වැඩට ඇන්ද කමිසය ටික කලකින් ගෙදරට අඳිනවා. ගෙදරට ඇඳපු එක ටික කලකින් පිහින වැඩවලට ගන්නවා. ඒකත් ටික කලකින් පාපිස්සට ගන්නවා. අන්තිමට දිරල ගියාම විසි කරනවා.

නිකං හරි අර අලුතින් ගත්ත කමිසයට, කවුරු හරි යම් දෙයක් හැලුවොත් මොන තරම් තරහක් එයිද? ඒත් ඒ කමිසයම ජරාවට පත් වෙලා පිහින්න ගන්න කොට මොකක් හැලුවත් ප්‍රශ්නයක් තියෙයිද? එකම කමිසය, එකම සිද්ධිය. කාල දෙකකදි අපට ඇති වන හැඟීම් වෙනස්. එතකොට ඒ කාරණය තේරුම් ගන්න ඕන. අපි බාහිර ඔප මට්ටමටයි වටිනාකමක් දෙන්නෙ. ඒ ඔප මට්ටම ගියාම ඒ වටිනාකම නැතිව යනවා. ඒ ඔප මට්ටම රැක ගන්නයි නොවිඳිනා දුක් විඳින්නෙ. කොච්චර දුක් වින්දත් ඒ ඔප මට්ටම ඒ විදිහට තියා ගන්න බෑ. ඒක කවද හරි නැති වෙලා යනවා. මේ විදියට තේරුම් ගත්ත දාට, අර දීපු වටිනාකම නැති වෙලා යනවා. ඔප මට්ටම තිබුණත් එකයි නැතත් එකයි, ඇත්ත ඇති ආකාරයෙන් දැකල තියෙන නිසා මොනවායින් මොනව වුනත් හිතේ ගින්නක් ඇති වෙන්නෙ නෑ.

ඉතින් සුළුවෙන් හෝ නිවීම අත් දැක්ක කෙනාට, ඒ නිවීමට කැමැත්තක් ඇති වෙනවා. ඒ සුවය මොකක්ද කියල හිතල බලනවා. ඒ සුවය ලැබුනෙ කොහොමද කියල හිතනවා. මම අල්ලගෙන ඉන්නකල් නැති සුවයක්, අතහැරියම ලැබුනා. ඒක කොච්චර සහනයක්ද? ඒ සහනය උපරිමයෙන් ලබන්න කැමැත්තක් ඇති වෙනවා. මෙන්න මේ කැමැත්තට තමයි සතර සෘද්ධිපාදවල එන ඡන්දය කියන්නෙ. මේ කැමැත්ත, සුවය ලැබෙන්න ලැබෙන්න ඒ සුවය ලැබෙන අතට ගමන් කරන්න උත්සාහ කරනවා, ඒ ගැන හිතනවා. මේ සුවය තියෙන අතට සෝත කියල කියනවා. එතකොට කාමයන්ගෙන් ගිලිල ඉන්න කෙනා ටික ටික කාමයන්ගෙන් ලිහෙනවා. තව තවත් සුවය තියෙන අතට යනවා, සැහැල්ලු වෙනවා. සාමාන්‍යයෙන් සැහැල්ලු දෙයක් ඇදෙන්නෙ උඩ අතට. ඒ වගේම බර දෙයක් ඇදෙන්නෙ පහතට. මේ සැහැල්ලුව නිසා සුවය තියෙන අතට යනවා. හැබැයි මේ කියන්නෙ වේදනා චෛතසිකයෙන් ගන්න විඳින සුවයක් නෙවෙයි, අවේදයිත සුවය. ඒ නිසා කාමයන්ගෙන් ලිහී ලිහී උඩ අතට යන ගමනට උද්ධං සෝත කියල කියනවා. හිත තියන්නෙ අන්න ඒ සුවයට. ඒකම මෙනෙහි කරගෙන ගමන යනවා. අවසානයේ උපරිම සුවය වූ නිවන සාක්ෂාත් කරගෙන ගින්න නිවා ගන්නවා.

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ථේර ථේරී ගාථා ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**

**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

## සතුට පතා
## දුක කැඳවයි...

වැනසෙන දේම් කැඳවා

නොකැඩෙන නොබිඳෙන ලෙසයි

පැතුවත් නිසරු පැතුමන්

ජර මර ලෝකයේ

අජර අමර දේ නැත

බිඳී වැනසී යයි සෑම

පෙළා පොතුජ්ජන සිත්

සසර යදමින් බැඳි

**යසස් දර්ශණප්‍රිය**
**අළුත්ගම**

# ධම්ම පදය තුලින් නිවන් මග

**11 වන කොටස**

මේ ලිපියෙන් කියන්න යන්නෙ, යම් කෙනෙකුට දඬුවම් කිරීම හෝ හිංසා පීඩා කිරීම ඇතුලු ඒ දේවල් තමන්ටත් සිද්ධ වෙනකොට ඇති වෙන හැඟීම් ගැන ධම්ම පදයේ විස්තර කෙරෙන දණ්ඩ වර්ගයේ එන ගාථාවකින්. ඉතින් කලින් ගාථා වගේම මේ ගාථාවත් බුදු පියාණන් වහන්සේ විසින් දේශනා කරන්න එක්තරා සිද්ධියක් මුල් වුනා. ඒ සිද්ධිය තමයි, ඒ කාලෙ පැවිදි වෙලා හිටපු භික්ෂුණ් වහන්සේලා දෙකොටසක් අතර ඇති වෙච්ච ගැටුමක්. මේ ගැටුමට මුල් වුනේ එක් භික්ෂුණ් වහන්සේලා කොටසක් විසින් පිළියෙල කරපු ආසන, අනෙක් භික්ෂුණ් වහන්සේලා විසින් ඉල්ලා සිටීම. ඉතින් ඒකෙන් ඇති වෙච්ච බහින් බස් වීම නිසා, ආසන පිළියෙල කරපු භික්ෂුණ් වහන්සේලාට ආසන ඉල්ලා සිටි භික්ෂුණ් වහන්සේලා විසින් පහර දුන්නා. ආසන පිළියෙල කරපු භික්ෂුණ් වහන්සේලා මර බියෙන් කෑ ගහන සද්දය ඇසුන බුදු පියාණන් වහන්සේ කාරණය විමසල, උන් වහන්සේලාට විනය නීතියක් පනවල පහත ගාථාව දේශනා කළා.

සබ්බේ තසන්ති දණ්ඩස්ස
සබ්බේ භායන්ති මච්චුනෝ
අත්තානං උපමං කත්වා
න හනෙය්‍ය න ඝාතයේ,

සරල සිංහල තේරුම,

**ලොව සියල්ලෝම දඬුවමට තැති ගනිත්. සියල්ලෝම මරණයට බිය වෙත්. එබැවින්, අන්‍යයන් තමන්ට සමාන සේ සලකා අන්‍යයෝ නොනැසිය යුත්තාහ, අනුන් ලවාවත් නො නැසවිය යුත්තාහ.**

මේ ගාථාවෙන් ලොව්තුරා බුදු පියාණන් වහන්සේ, ලෝක සත්වයා තුල තියෙන මහත්ම බයක් විස්තර කරනවා. ලෝක සම්මතයෙන් විස්තර කරන කොට තියෙන මහත්ම බයක් තමයි, කෙනෙක් දඬුවම් විඳින්න තියෙන බය / අකමැත්ත. සතා සිවුපාවා වුනත් කෝටුවක් අතට ගත්ත ගමන් දුවනවා. උන්ට තීරණයක් ගන්න හැකියාව නොතිබුනත්, සහජයෙන් පිහිටන, දඬුවමට තියෙන බය තෝර ගන්න පුළුවන්. ඉතින් මේ බය එසේ මෙසේ බයක් නෙවෙයි. මුලින්ම එන්නෙ තමන්ට හිංසාවක් පීඩාවක් කරයි කියන බය. ඒකට හේතුව, ඒකෙන් එන වේදනාව සුවයක් නොවන නිසා. කුඩා දරුවා පටන් වැඩිහිටියා දක්වාම මහා බයක් තියෙන කාරණයක් තමයි මේ. සැරෙන් අත උස්සන කොට, සැර කරන කොට පොඩි දරුව පවා මුහුණ පුළුටු කරගන්නෙ, තැති ගන්නෙ මේ බය නිසා. ඉතින් ගහන බනින කොට මෙච්චර බය නම්, මරණයට තියෙන බය ගැන අහන්නවත් දෙයක් නෑ. ඒ නිසා තමයි ලොව්තුරා බුදුන් වහන්සේ ''ලොව සියල්ලෝම'' කියල විශේෂයෙන් සඳහන් කළේ. හැබැයි ''ලොව සියල්ලෝම'' කිව්වම රහතන් වහන්සේ අයිති වෙන්නෙ නෑ. මොකද උන් වහන්සේ ලෝකයට අයිති නෑ. ලෝකයෙන් එතෙරයි. සත්ව / පුද්ගල කියන දෙකොට්ඨාසය තමයි ලෝකයට අයිති වෙන්නෙ. රහතන් වහන්සේ මේ කොටස් 2 ම ඉක්මවල ඉන්නෙ. වෙනත් විදිහකින් කියනව නම් සිය + අල්ල හෙවත් තමන් අල්ල ගත්ත දේ තමයි සියල්ල කියන්නෙ. රහතන් වහන්සේ කිසිවක් අල්ල ගෙන නෑ. එතකොට බුදුන් වහන්සේ සියල්ල දකින ඥානයෙන් ලෝකය දිහා බලල කරපු දේශනාවක අඩුපාඩු නෑ.



ඉතින් ලොව සියල්ලෝ කිව්වම, කිසිම කෙනෙක් අතහැරෙන්නෙ නෑ. නමුත් බය වෙන ප්‍රමාණය, බය වෙන විදිහ වෙනස් වෙන්න පුළුවන්. පොදුවේ ගත්තම තමන්ට වේදනාවක් එන දෙයක්, වෙන කෙනෙක් කළොත් ඒකට විරුද්ධව නැගී සිටිනවා. බැරි අය පලා යනවා. කොටසක් කරන්න දෙයක් නැති කමට බයෙන් විඳ දරා ගන්නවා. ඒ විදිහට නැගී සිටින්නෙත්, විඳ දරා ගන්නෙත්, පලා යන්නෙත් තමන් ඒ දේට අකමැති නිසා. නැගී සිටින කෙනා තමන්ට බලය තියෙන නිසා නැගී සිටිනවා. ඒ වගේම බලය නැති කෙනා කරබාගෙන ඉන්නවා. දෙන්නම ඒ දේ කරන්නෙ, අර තැලීමට පෙලීමට කැමති නැති නිසා. කැමැත්ත තියෙන්නෙ සුව පහසු වේදනාවකට. නමුත් ඊට විරුද්ධව එන දේට කැමැත්තක් නෑ. මේකට කියනවා වේදනා චෛතසිකය කියල. සාමාන්‍ය ලෝකයා හැම දෙයක්ම තීරණය කරන්නෙ වේදනා චෛතසිකයෙන්. තමන් ආස කරන සුව පහසු දෙයක් විඳින කොට කැමතියි, කිසිම බයක් නෑ, ඒකටමයි හිත යන්නෙ. තරුණයෙක් තරුණියකටත්, තරුණියක් තරුණයෙකුටත් ඇතිවෙන ඇලීම බැඳීම හරිම සුවයි. කවුරු හරි කිව්වොත් ඕකටයි බය වෙන්න ඕන කියල, ඒ කියපු කෙනා ලෝක සම්මත සමාජයේ නිකම්ම පිස්සෙක් වෙනවා. මොකද පිටින් බැලුවම හොඳටම පේන්න තියෙන දෙයක්, ඒ දෙන්නා සතුටින් ඉන්නවා. රූපය දැකීම පවා ඒ අයට සතුටක්. උපරිමයට ගිය කායික වින්දනය කොහොමත් ඒ අයට සුවයක්. ඒ වගේ මොහොතක ඉන්න කෙනෙකුට, ඒක දුකක් / බයක් කිව්වොත් මොනවා අහගන්න වෙයිද?

ඉතින් මේ විඳින සුඛ වේදනාව දකින මේ කෝණයට තමයි වේදනා චෛතසිකය කියන්නෙ. ලෝකයා බය වෙන්නෙ ඒක කඩල බිඳල දමන්න ආවොත්, ඒ දෙන්නව වෙන් කරන්න ගියොත් තමයි. අර වේදනා චෛතසිකයෙන් දැක්ක සුවය විනාශ කරනවට බයයි. එතකොට ඒ අයට මරණය මහා බියක් ගෙන දෙන්නෙත් මේ හේතුවෙන්. මැරුණම එතනින් ඉවරයි, ගොඩ නගපු දේවල්, නෑදෑ හිතවත්තු සේරම දාල යනව කියල දන්නවා. නැවතත් ඒ අය ළඟට එන්නෙ නෑ කියන මතය තමයි ඔළුවෙ තියෙන්නෙ. ඒකත් අර වේදනා චෛතසිකයෙන් ගන්න තීරණයක්. පොදුවේ කියනව නම් යාන වාහන, ගොඩනැගිලි, නෑදෑ හිතවත්තු, බිරිඳ, සැමියා, දූ දරුවො... මේ සේරම අයිති වෙන්නෙ කාමයන්ට.

තමන් ඇතුලු ඒ සියල්ලටම උරුම පොදු ලක්ෂණයක් තියෙනවා. ඒ තමයි දිරල වැනසිලා යන උරුමය. මේකට තව නමකින් කියනව නම්, ක්ෂය වෙනව කියනවා. ඇයි ක්ෂය වෙනවා කියන වචනය දුන්නෙ? මේ තිබුණා, මේ නැති වෙන්නෙ නෑ. ටික ටික නැති වෙන්නෙ. අද පුටුවක එක කොනක වේයො කාපු පොඩි ලකුණක් තියෙන්න පුළුවන්. ඒක ☞

හෙට වෙනකොට තව ටිකක් වැඩි වෙනවා. ඔය විදිහට ටිකෙන් ටික වැඩි වෙලා තමයි ඒ පුටුව කැඩිල බිඳිල යන්නෙ. එහෙම ගිහින් අන්තිමට වැඩක් නැති තත්ත්වයට පත් වෙනවා. ඒකයි ක්ෂය වෙනව කිව්වෙ. මේ හැම දෙයක්ම ක්ෂය වෙන දේවල්. ලෝක සත්වයා ඒ දේවල් හරි වටිනවයි කියල ගන්නවා, සුවයි කියල ගන්නවා. කොටින්ම මේවා නැතුව බෑ. හරියට අමෘතය වගේ. මෙන්න මේ ක්ෂය වෙන දේවල් අම හෙවත් අමෘතය කියල හිතල තමයි ලෝක සත්වයා ක්‍රියා කරන්නෙ, හැසිරෙන්නෙ. මෙන්න මේ ක්ෂය වෙන දේවල් අම ලෙස ගැනීම තමයි කාමය කියන්නෙ.

ඉතින් මේ කාමයන් විඳින කොට, ඒක විනාස කරන්න ආවොත් බය වෙනවා. විනාස වෙනකොට බය වෙනවා. ඒක පෘථජ්ජන හැම කෙනාටම පොදුයි. අනුන්ගෙ ගේ කැඩුවත් එකයි, මගේ ගේ කැඩුවත් එකයි කියන කාරණය තේරුම් අරගෙන, තමාව උපමා කරල නිතරම හිතන්න පුරුදු වෙන්න කියලයි බුදුන් වහන්සේ දේශනා කළේ. මම විඳින කාමයන් මගෙන් උදුර ගන්න, විනාස කරන්න එනකොට මට දැනෙන බය, මගේ මරණ මොහොත එනකොට මම මේ වින්ද කාමයන් දාල යන්න වෙනකොට එන බය වගේම තමයි අනෙක් අයටත් එන්නෙ කියන කාරණය හිතල, ඒ සිතිවිල්ල අරගෙන ජීවත් වෙන්න ඕන. එතකොට අනෙකාට හිංසා පීඩා කරන්න හිතක් එන්නෙ නෑ. ඒ මොනව කිව්වත් මේ කාමයන් විඳින්න කවුරුවත් බය නෑ. අනෙකා තලල පෙලල හෝ නීත්‍යානුකූලව හෝ විඳින්නයි බලාපොරොත්තුව. බය වෙන්නෙ මේ කාමයන්ගෙ විඳීම නැති වෙන්න එනකොට. නමුත් මේ මනින මිම්මට එහා ගිය මිම්මක් තමයි සියල්ල සියලු ආකාරයෙන් දකින ලොව්තුරා බුදු පියාණන් වහන්සේ දැකල පෙන්නුවෙ. බය කියන්නෙ කාමයට කියන තවත් නමක්. මේ තමයි උන් වහන්සේගෙ දේශනාව.

දැන් බැලු බැල්මට මේ කාරණය සාමාන්‍ය ලෝකයාට තේරුම් ගන්න බෑ. ''ඇහ්! ඒ මොකක්ද කිව්වෙ?'' ඒක අහල ලෝකයා විස්මය පළ කරන්න පුළුවන්. කාමය කියන්නෙ බයලු, එහෙම වෙන්නෙ කොහොමද?'' කෙනෙකුට මෙහෙම හිතෙන්න පුළුවන්. එහෙම හිතෙන එකත් එක්තරා විදිහකට හොඳයි. මොකද ඒ පුද්ගලයා යමක් හිතන්න පෙළඹිලා තියෙනවා. ඒත් එහෙම හිතපු අයගෙනුත් සමහරක් අය, ඕක මොන පිස්සු කතාවක්ද කියල අතහැරල දානවා. තව කෙනෙක් ශ්‍රද්ධාව නිසා මෙහෙමත් හිතනවා. ''ලොව්තුරා බුදුන් වහන්සේ ආවට ගියාට නිකං කතා කියන්නෙ නෑ, උන් වහන්සේ දෙයක් කිව්වොත් අනිවාර්යෙන් ඒකට හේතුවක් තියෙනවා. උන් වහන්සේගෙ ශ්‍රී මුඛයෙන් ආවට ගියාට වචන පිට වෙන්නෙ නෑ. ඒ නිසා හොයල බලන්න ඕන.''

කාමය කියන්නෙ බය කියල කිව්වට, වේදනා චෛතසිකයෙන් හිතන කෙනෙකුට මේක කොහොමත් තේරුම් ගන්න බෑ. හරියට පොඩි ළමයෙකුට ඒ ළමයා කන අයිස් ක්‍රීම් එක රහ නෑ විසි කරන්න කිව්ව වගේ කතාවක් තමයි ඒ අයට හැඟෙන්නෙ. ඒකයි වේදනා චෛතසිකයේ තීරණය. නමුත් බුද්ධ දේශනාවෙ තියෙනවා, මා මේ කියන දහම තෝරන්න පුළුවන් ප්‍රඥාවන්තයින්ට පමණයි කියල.

එතකොට බය කියන්නෙ කාමයට කියන තවත් නමක් කියන කාරණය තෝර ගන්න, වෙන විදිහකට හිතන්න වෙනවා. අපි වෙනද තෝරපු විදිහට ගන්න බෑ. වෙනද අපි තෝරපු සිතිවිලිවලට කියනවා වේදනා චෛතසිකය කියල. මොකද ඒකෙන් ගත්ත තීරණය තමයි, බය කියන්නෙ කාමයන්ට කියන තව නමක් කියන කාරණයට වඩා, සැප කියන්නෙ කාමයන්ට කියන නමක් කියන කාරණය. ඒක බැලු බැල්මට මතු පිටින් පේනවා, දකිනවා. නමුත් මේක තේරුම් ගන්න ඊට එහා ගිය සිතිවිල්ලක් ඕන. උපමාවක් අරගෙන තෝර ගත්තොත්, එක ගෙදරක දුප්පත් මනුස්සයෙක් ඉන්නවා. ඔහු ජීවත් වෙන්නෙ පොඩි ගෙදරක. ඒ වගේම ඒ මනුස්සයා ඉන්න ගෙදර ඉස්සරහ හරිම ලස්සන ලොකු ගෙයක් තියෙනවා. හැමදාම මේ දුප්පත් මනුස්සයා ඒ ගේ දකිනවා. දැන් හීන මවන්නෙ ඒ ජාතියේ ගෙයකට. ඉතින් ලස්සන ගෙවල් ජාතියකට හිත බැඳිලා, ලස්සන ගෙයක් හදන්න කොහොම හරි උත්සාහ කරනවා. උදේ හවා වෙහෙසෙනවා. පොඩි ගෙදරක ඉන්න නිසා මුල ඉඳන්ම දුකයි. අර ගේ දකින්න දකින්න බලාපොරොත්තු පොදි බැඳ ගන්නවා. හිතට වාවන්නෙ නෑ. අනේ මට එහෙම ගෙයක් නෑ නෙ, කොහොම හරි මම ගෙයක් හදනවා කියල, ගේ දකින කොටත් දුකයි. ඉතින් මේ මුල ඉඳන්ම පටන් ගන්න දුක් සිතිවිල්ලට කියනවා දුක්ඛ දුක්ඛය කියල. මොකද පටන් ගන්නෙම දුකකින්. නමුත් අර අවසාන ප්‍රතිඵලය විදිහට බලාපොරොත්තු වෙන්නෙ ලස්සන ගෙයක් නිසා ඒ දුක පේන්නෙ නෑ . ඒක ඔළුවෙ ඇඳිල තියෙන්නෙ, ''මෙහෙම හදනවා, මේ ජාතියේ තීන්ත ගානවා, හොඳ විදුලි බුබුළු අල්ලනවා''.... ආදී වශයෙන්. ඒ ගැන හිතෙන කොටත් ආස්වාදයි. ඒ නිසා අර දුක විඳගෙන මේ බලාපොරොත්තුව උඩ දුවනවා.

ඉතින් බලාපොරොත්තුව ඉෂ්ට කරගන්නත් ඕන. ඒ නිසා නිකං ඉන්නත් බෑ. වෙනදට රස්සාව කරල ගෙදර එන මනුස්සයා, දැන් වැඩිපුර සල්ලි හොයන්න අතිරේක පැය ගානක් වැඩ කරනවා. සිතෙන්, කයෙන්, වචනයෙන් දුක් විඳිනවා. වෙලාවට ගෙදර යන්න නෑ. අන්තිම බස් එක යන්න කලින් යන්නත් ඕන, ඒත් හිතෙන් දුක් විඳනවා. වෙනද වැඩ කළාට වඩා වැඩිපුර වැඩ ප්‍රමාණයක් දැන් කරන නිසා කයින් දුක් විඳිනවා. ඒ වගේම බැංකුවලින් ණය ගන්න කතා කරනවා. නමුත් බැංකුවලින් බෑ කියනවා, පඩි මදි කියනවා. නැවතත් කතා කරනවා. ඉතින් වචනයෙනුත් දුක් විඳිනවා. සිතෙන්, කයෙන් වචනයෙන් කරන වැඩවලට පොදුවේ සංඛාර කියල කියනවා. දැන් අර මනුස්සයා සිතෙන්, කයෙන්, වචනයෙන් දුක් විඳිනවා. ඒ නිසා සංඛාර දුක්ඛය කියල කියනවා. ඒක පේන්නෙත් නෑ. ඇයි ඒ? අර මහ බලාපොරොත්තුව නිසා. ඒක සුවයි, ආස්වාදයි. ඒ ගැන හිතෙන කොටත් සංතෝසයි. ඒ නිසා දුක්ඛ දුක්ඛය පේන්නෙත් නෑ, සංඛාර දුක්ඛය පේන්නෙත් නෑ.

හොඳයි මේ මනුස්සයා කොහොම හරි මහන්සි වෙලා පඩි වැඩි කරගෙන බැංකු ණයකුත් අරගෙන ගේ හැදුව කියල හිතමු. දැන් හරි සතුටුයි. තමන්ගෙ කටින්ම කියවෙනවා, මම කොච්චර දුක් වින්දද මේ ගේ හදන්න, දැන් මට සැනසීමෙන් ඉන්න පුළුවන් කියල. ඔය විදිහට සතියක් ඉන්නවා, මාසයක් ඉන්නවා, අවුරුද්දක් ඉන්නවා. ඊට පස්සෙ මොකද වෙන්නෙ? දැන් ගේ පැහැය පොඩ්ඩක් අඳුරු වෙලා. කලින් තිබ්බ ලස්සන ගිහින්, වහලෙත් සිදුරු දෙක තුනක් මතු වෙලා. මේ වෙනස් වීම දරා ගන්න බෑ. මේ වෙනස් වීම තමන්ගෙ කැමැත්තට සිද්ධ වෙන වෙනස් වීමක් නෙවෙයි. මොකද කැමැත්තට සිද්ධ වෙන වෙනස් වීමක් නම්, ඒක දරා ගන්නෙ සතුටින්. හරියට පොඩි ගෙයක ඉඳපු මනුස්සයා ලොකු වටින ගේකට ගියාම වගේ. නමුත් දැන් හදපු වටිනා ගේ තමන්ට ඕන විදිහට පවත්ව ගන්නත් බෑ. ගේ පාට අඳුරු වෙනවා. අහල පහල ළමයි සෙල්ලම් කරන්න ගිහින් බිත්තියේ මඩ පැල්ලමක් හිටල ඒක මකන්නත් බෑ අලුතින් තීන්ත ගාන්නම වෙනවා. එහෙම නැත්නම් ජනේලයක් කැඩිල. දැන් ☞

කලින් තිබිච්ච තත්වයෙන් වෙනස් වෙලා.

මේ වෙනස් වීම තමන්ගෙ කැමැත්තට එරෙහි වෙනස් වීමක්. ඒකට කියනවා විපරිණාමය කියල. පරිණාමය කැමැත්තට විරුද්ධව සිද්ධ වෙන්නෙ. මේ නිසා දැන් කොහෙත්ම සතුටක් නෙවෙයි එන්නෙ. ඒ දුකට කියනවා විපරිණාම දුක්ඛ කියල. ඒ අතර බැංකුවෙන් ලියුමක් එනවා, වාරික තුනක් ගෙවල නෑ තව එකක් හරි නොගෙව්වොත් ගේ වෙන්දේසි කරනව කියල. දැන් මොකද අර මනුස්සයට හිතෙන්නෙ! අනේ කරපු රස්සාව කරගෙන අර පොඩි ගෙදර හිටිය නම්, මම කොච්චර සතුටින්ද ඉන්නෙ කියල හිතෙනවා. මේක දැක්කෙත් ප්‍රඥාවෙන්ද? නෑ, මේකත් අර වේදනා චෛතසිකයෙන්ම දැකපු දෙයක්. දැන් තියෙන දුකෙන් පැනල යන්න, කලින් හිටිය සතුට මතක් වෙලා එතනට යන්න හදනවා. ඉතින් මේක ප්‍රඥාවෙන් දකින්නෙ කොහොමද?

මුල ඉඳල කල්පනා කරල බැලුවත්, පොඩි ගේ කියන තැනෙන් පටන් අරගෙන ලොකු ගේ හදන කල් විඳපු දුක් කන්දරාව, ලොකු ගේ හදපු තැනෙන් ඉවර වුනාද කියල බලන්න ඕන. නෑ, එහෙම ඉවරයක් වෙලා නෑ. අවුරුද්දක් දෙකක් සතුටක් තිබුන තමයි. ඒත් ගේ හදන්න අවුරුදු 10ක් විතර දුක් වින්දා, හදලත් තව අවුරුදු 15ක් විතර ණය ගෙවල ඉවර කරන්න තියෙනවා. ගේ ණය විතරද? නෑ. ඒකට ගෙවන වතුර බිල, විදුලි බිල, ළමයින්ගෙ ඉස්කෝල වියදම් ඒවත් එනවා. ඊට පස්සෙ ගේ කැඩෙන බිඳෙන කොට අලුත් වැඩියා කරන වියදම් පොඩි ගෙදරට වඩා ලොකු ගෙදර වැඩියි. සැප මාත්‍රයක් පතා ගෙන මහා දුක් ගොඩක් විඳින වැඩ පිලිවෙලකට තමයි අත ගැහුවෙ. ඒකෙන් මට දාහයක් / පෙලීමක් මිසක් සැනසුමක් ලැබුනද? මේ ලොකු ගේ කියන කාමය විඳින්න ගිහින් මට මොකද වුනේ? අල්ප මාත්‍ර සතුටකට මහා දුකක් වින්දා. ඒත් ඒක මට පෙනුනෙ නෑ. මොකද මම ගේ හැදුවට වැඩිය, හදන්න තිබිච්ච බලාපොරොත්තුව පස්සෙ දුවපු නිසා. ගේ ලැබුනම සතුටුත් වුනා. දැන් මම ඒක තියා ගන්න දුක් විඳිනවා.

මේ විදිහට හිතන කොට කලින් කිව්ව දේශනාව දැන් ඒ පැත්තටත් ගැලපෙනවා. කවුරුත් දුක් විඳින්න, දඬුවම් විඳින්න බයයි. දැන් මම දුක් විඳින්නෙ, දඬුවම් විඳින්නෙ මමම කාමයන්ට ඇලිල, මමම හදාගත්ත වැඩ පිලිවෙලක් නිසා. ඒකෙ අවසාන ප්‍රතිඵලය දුකක් මිසක් සැපක් නෙවෙයි. බයක් මිසක් සැනසීමක් නෙවෙයි. අනේ දෙයියනේ ඒ වැඩපිලිවෙල කොච්චර බයානකද? ඒ කාමයන් විඳින්න ගිහින් නේද මේ බයට වැටුනෙ? ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ කියපු කතාව කොච්චර ඇත්තක්ද? කාමයන් කියන්නෙ බයට ඇද දමන වැඩපිලිවෙලක් නේද කියල හිතෙනවා. අනේ ඒක නිසානෙ උන් වහන්සේ කිව්වෙ, බය කියන්නෙ කාමයට නමක් කියල. දැන් තීරණයකට එනවා. කලින් වේදනා චෛතසිකයෙන් සුවයි කියල තීරණය කරපු කාමයම, දැන් බයයි කියල තීරණය කරනවා. අනෙක් අය නොදකින, ඇත්ත දකින මේ සිතිවිල්ලට කියනවා ප්‍රඥා චෛතසිකය කියල.

ඒකෙන් එන තීරණය එසේ මෙසේ එකක් නෙවෙයි. මේ දුක් සහගත වැඩපිලිවෙලෙන්, බිය විය යුතු කාමයන්ගෙන් වෙන් වෙන වැඩ පිලිවෙලෙකට අත ගහනවා. දුකින් සුව අතට හැරෙනවා. සුව අතට හැරුන වැඩපිලිවෙලේ අවසාන ප්‍රතිඵලය තමයි අප්‍රමාණ සුවයක් වූ නිවන. මේ සුව අතට කියන තවත් නමක් තමයි ආර්ය අෂ්ඨාංගික මාර්ගය හෙවත් සෝත කියන්නෙ. මේ සෝත වැඩපිලිවෙලට ආපු කෙනාට කියනවා සෝතාපන්න කියල. සෝතාපන්න වෙච්ච කෙනා ගන්න තීරණවලින් මාර්ගය පූර්ණ වෙලා අවසානයේ සියලු දුකින් සහ බයින් මිදුන නිවනම ලැබෙනවා.

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්මපද පාලිය - දණ්ඩ වග්ගය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව

# ඔබ දන්නෙහිද යළි හෙළ බොදු පියුම පිපී...

සුබ පණිවිඩයකින් දස අත වැතිර සිපී
බැබලුන දහම කලකට පෙර සැඟව තැපී
ලැබ මොක් සුවය සැනසිය හැකි මගක අපී
ඔබ දන්නෙහිද යළි හෙළ බොදු පියුම පිපී

රහසින්වත් පවක් නොම කළ උතුමයෙකී
අහසින් දෙව් බඹුන් පුද ලද මුනිවරෙකී
නැණසින් දැක දෙසූ දහමද මුතු මිණකී
පහසින් පවා ලද සුවයද ගිනි ගොඩකී

දස්කම් කොතෙක් පෑවත් ලොව මවිත වන
විස්කම් කොහිද හෙට එන මරු පරද වන
පස්කම් සැප සොයා ගියහොත් වැළඳ ගෙන
විස්වාසයිද අසරණ මතු භවය ගැන

සසරෙහි බයානක බව සරදමක මෙන
සදහම් මග මෙයයි නිති විමසුමට ගෙන
දුක දෙන හැම භවයකම තතු තරම දැන
මිනිසත් භවයමයි දත හැකි හොඳම තැන

දැන දැන සිවු අපාවල දුක විඳිනවද
වෙන භව තුලද හරයක් නැත දකිනවද
සැනසුම සොයා යළි අඳුරෙහි ගිලෙනවද
බණ භාවනාවක කුසලෙහි යෙදෙනවද

පුහුදුන් කමට පෙර සසරෙහි බැඳුන ලොබ
සිත ගින්දර නිවා සැනසෙන මගකි සුබ
මෙතරම් අසිරිමත් දහමක සුවය ලැබ
සැනසෙන්නට හැකිද මහ පිංවතෙකි ඔබ

පබැඳුම : ස්වර්ණා සමරසිංහ - දෙහිවල නැදිමාල

# බෝධි වන්දනාව ගැන නොදත් දෑ...

බෞද්ධයින්ට බෝධි වන්දනාව කියන්නෙ බොහොම වැදගත් වන්දනාවක්. ඒක හරියට ජීවමාන බුදු පියාණන් වහන්සේට කරන්නා වූ වන්දනාවක් හා සමානයි. බෝධි සත්වයන් වහන්සේ ලොව්තුරා බුද්ධත්වයට පත් වෙන්න ප්‍රාර්ථනා කරපු පාරමිතාවන්වලදි තමන් වහන්සේට විතරක් මේ ඥාන ශක්තිය, නිර්වාණය ලැබෙවා කියල නෙවෙයි ප්‍රාර්ථනා කළේ. තමනුත් එතෙර වෙලා ලෝක සත්වයාටත් මේ සසර දුකෙන් එතෙර වෙන්න මග කියා දෙනවා කියන උතුම් චේතනාවෙන් තමයි මේ පාරමී දම් පිරුවෙ. ඒ ගැන බුද්ධ දේශනාවෙම මෙහෙම සඳහන් වෙනවා.

බුද්ධෝ හං බෝධයිස්සාමි
මුත්තෝ හං මෝචයේ පරේ
තිණ්ණෝ හං තාරයිස්සාමි
සංසාරෝගෝ මහබ්භයා"

මම අවබෝධ කරගෙන, ලෝක සත්වයාටත් මේ චතුරාර්ය සත්‍ය අවබෝධය ලබා දෙනවා කියන අධිෂ්ඨානයෙන් තමයි බුදු පියාණන් වහන්සේ කටයුතු කළේ. ඒකයි බුද්ධෝ හං බෝධයිස්සාමි කිව්වෙ. මුත්තෝ හං මෝචයේ පරේ කියන්නෙ, මම මේ සසර දුකෙන් මිදෙනවා, අනික් ලෝක සත්වයන්වත් මේ සසර දුකෙන් මුදවනවා කියන එක. තිණ්ණෝ හං තාරයිස්සාමි කිව්වෙ, මමත් එතෙර වෙලා ලෝක සත්වයින්ටත් එතෙර වෙන්න මග කියා දෙනවා කියන එක. සංසාරය කියන මහා රෝගය හරිම භයානකයි. ඒකයි සංසාරෝගෝ මහබ්භයා කිව්වෙ. බෝධි සත්වයන් වහන්සේ මේ ආකාරයට මේ සසර දුක කල් තියාම දැකල තමයි බුද්ධත්වය ප්‍රාර්ථනා කරමින් බුදු වෙන්න අදහස් කළේ. උන් වහන්සේ තමනුත් අවබෝධ කරගෙන ලෝකයාටත් අවබෝධ කර ගන්න මාර්ගය පාදා දෙන්න, තමනුත් මිදිල ලෝක සත්වයාටත් මිදෙන්න මග පාදා දෙන්න, තමනුත් සසර ගමනෙන් එතෙර වෙලා ලෝක සත්වයාටත් එතෙර වෙන්න මග පෑදෙන්න අවශ්‍ය සියලුම කාරණා සම්පූර්ණ වෙවා කියන අධිෂ්ඨානයෙන් තමයි ඒකට ඕන කරන පාරමී දම් පිරුවෙ. උන් වහන්සේ ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් ඒ විදිහට පාරමිතා පුරපු නිසා, බුද්ධත්වයට පත් වෙන්න අවශ්‍ය කරන ඒ ශාන්තිය මහා කරුණාවෙන් ලෝකයට විහිදුවාලන්න ඒ පාරමිතාවන් උපනිශ්‍රය වුනා.

එහෙනම් ඒ පාරමිතා ශක්තිය, ලෝකයට ඔප් නැංවිලා ආපු ප්‍රතිඵලය තමයි ජය සිරි මහා බෝධීන් වහන්සේ බාහිර ලෝකයේ පහළ වීම. ඒ වගේම ඒකට අවශ්‍ය වන දෙතිස් මහා පුරුෂ ලක්ෂණ, අසූ අනු ව්‍යංජන (කුඩා අනු ලකුණු 80ක්) සහිත දේහ ලක්ෂණ, දෙසිය සොළොස් සිරි පතුල් ලක්ෂණ සහිතව දේහ ධාරීව ඒ බුද්ධත්වයට ගැළපෙන විදියට, උන් වහන්සේගෙ ශරීරය පහළ වෙන්නෙ ඒ මහා පුණ්‍ය ශක්තිය අධ්‍යාත්මිකව ක්‍රියාත්මක වෙච්ච නිසා. මේ ආකාරයට දෙපැත්තටම (අධ්‍යාත්මිකව සහ බාහිරව) ක්‍රියාත්මක වීමේ ප්‍රතිඵලය තමයි බුද්ධ කියන්නෙ. ඒ කියන්නෙ, අධ්‍යාත්මිකව සහ බාහිර කියන දෙපැත්තක සම්බන්ධය නිසා ගොඩ නැගෙන්නා වූ බුද්ධි ප්‍රතිඵලයක්. ඒ බුද්ධිය නමැති ප්‍රතිඵලය තමයි



අධ්‍යාත්මික සහ බාහිර කියන සම්බන්ධතාවෙන් ගොඩ නැගිච්ච අග්‍ර ඵලය. ඒකට තමයි ලොව්තුරා බුද්ධත්වය කියන්නෙ.

මෙහෙම ලොව්තුරා බුද්ධත්වයට පත් වුනේ, උන් වහන්සේගෙ කටයුත්ත කළාම බෝධියේ ප්‍රශ්නෙ ඉවරයි කියන්න නෙවෙයි. මොකද ලෝක සත්වයාටත් අවබෝධය ලබා දෙන්න ඕන නිසා ඒ ශක්තියත් එක්කයි බෝධීන් වහන්සේ පහළ වෙලා තියෙන්නෙ. එහෙනම් ඒ සඳහා අවශ්‍ය කරන්නා වූ පරිසරය හදන්න යම් තරමක් උදව් උපකාර කළ හැකිද, ඒ සියලු ශක්ති ගැබ් වෙලා තමයි ජය සිරි මහා බෝධීන් වහන්සේ ලෝකයට පහළ වුනේ. අර මහා පාරමිතා බලය නිසා සුදුසු තැන, සුදුසු බල ඇතුව පිහිටීමක් තමයි ජය සිරි මහා බෝධීන් වහන්සේට තියෙන්නෙ.

එහෙම පහළ වුනා වූ බෝධීන් වහන්සේගෙ ශාඛාවක් යම් තැනකට ගියා නම්, ඒ ශාඛාවක් ශාඛාවක් පාසා, පත්‍රයක් පත්‍රයක් පාසා ඒ කියන ශක්ති විශේෂය ගැබ් වෙලා තියෙනවා. නමුත් අද සමහර උදවිය හිතාගෙන ඉන්නෙ කපුටො, කුරුල්ලො කාල දාපු ගහක ඇටයකින් මේ ගස හැදුණා, ගහක් මුල ඉඳගෙන බුදු වුනා, ඒ නිසා බෝධිය කියනවා ... ආදී වශයෙන් ඉතාම පටු අදහස්වලින්. නමුත් ඒවා වැරදි ආකල්පයෙන් ගන්න අදහස් බව සිහි තබා ගන්න ඕන.

දැන් කෙනෙක් අහන්න පුළුවන්, මේ බෝධීන් වහන්සේ වුනත් සතර මහා භූත නේ, ඔය කියන තරම් ශක්තියක් සතර මහා භූතවලින් හට ගන්නවද කියල. මේ ගස් වැල්, සත්තු, මිනිස්සු යනාදී සියල්ලම සතර මහා භූත තමයි. ඒ වුනාට සතර මහා භූතවලත් ප්‍රභේද තියෙනවා. මූල සම්ප්‍රදාය සතර මහා භූත වුනාට, සතර මහා භූතවලින් හට ගන්නා දේවල්වල විවිධ ආකාරයෙන් ප්‍රභේද හට ගන්න හේතුවක් තියෙනවා. අන්න ඒ හේතුව නිසා ප්‍රභේදයන් හට ගන්නවා. ඒ නිසා සියල්ල සතර මහා භූත කිව්වට ඔක්කොම එකම විදිය නෙවෙයි. උදාහරණයක් විදියට විසවල තියෙන්නෙ පඨවි භූත , ආපෝ භූත, තේජෝ භූත, වායෝ භූත. මීපැණිවල තියෙන්නෙත් පඨවි භූත , ආපෝ භූත, තේජෝ භූත, වායෝ භූත. දැන් මේ දෙකේම සතර මහා භූත සමානයි නෙ කියල මේ දෙකෙන් සමාන ප්‍රතිඵල දෙනවද? නෑ. පැහැදිලිවම ප්‍රතිඵල දෙකක් තමයි දෙන්නෙ. ඒ කියන්නෙ සතර මහා භූත වෙච්ච පලියට සියල්ලම සමාන ප්‍රතිඵල දෙන්නෙ නෑ. එහෙම විවිධත්වයක් ඇති කරන්න තවත් හේතු සම්බන්ධ වෙලා තියෙනවා.

මෙන්න මේ වගේ, සතර මහා භූතයන්ගෙන් ගොඩ නැගුණු බෝධීන් වහන්සේ, ඒ ගොඩ නැගෙන කොට සම්බන්ධ වෙන මහා පාරමිතා බලයේ ශක්තියත් එක්ක ක්‍රියාත්මක වෙන නිසා විශේෂ ශක්තියක් නිකුත් කරනවා. ඒ විශේෂ ශක්තිය මනුස්සයින්ට ඕන වෙනවා, උදව් වෙනවා. අධ්‍යාත්මික ආයතන විතරක් තිබුණාට, ඒක පෝෂණය කරන්න සහ අවශ්‍ය විදියට සකස් කරල දෙන්න සියලු ශක්තිය ඒකෙ නෑ. ඒකට බාහිර ලෝකයේ තියෙන අරමුණු වන දේවල්වල ශක්තියත් ඕන කරනවා. අභ්‍යන්තර ආයතන ☞

වගේම බාහිර ආයතනත් ඕන කරනවා. මේ අභ්‍යන්තර සහ බාහිර ආයතන දෙකම එකට සකස් වෙලා, එකට ගැළපුනොත් තමයි අවශ්‍ය කරන ඥාන දර්ශන පහළ කරන්න හේතු පහළ වෙන්නෙ. ඒ හේතු පහළ වීමට අවශ්‍ය කරන පසුතලය, කය යම් තරමක් නිරෝගී විය යුතුද, ඒ නිරෝගී භාවයත් එක්කම මනස ඊට අනුකූලව හැඩ ගැහෙන්න උපකාරී වෙනවා. නිරෝගී මානසිකත්වයක් ඇති වෙන්නෙ නිරෝගී කායිකත්වයක් සම්බන්ධ වුනාම. ඒවා සකස් වෙලා එන්න අවශ්‍ය කරන යථාවබෝධයේ එක්තරා ප්‍රධාන පසුතලයක් වශයෙන් තමයි ජය සිරි මහා බෝධීන් වහන්සේ බාහිර වස්තුවක් වශයෙන් පහළ වෙන්නෙ. ඒ ශක්තිය අපට ගෝචර වෙලා තමයි, අභ්‍යන්තර වස්තූන් සමග සම්බන්ධ වෙලා බුද්ධි ප්‍රභාවය මතු වෙලා බුද්ධි ප්‍රතිඵලය ලැබෙන්නෙ.

ඒ නිසා බෝධීන් වහන්සේ නැතුව ලොව්තුරා බුදු වෙන්න විදියක් නෑ. කිසිම බුදුවරයෙකුට මධ්‍ය දේශයේ ඒ ස්ථානයේම පවතින ජය සිරි මහා බෝධීන් වහන්සේ ළඟ මිසක් වෙන තැනක බුදු වෙන්න ක්‍රමයක් නෑ. අන්න ඒ විදියටම භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා කියන ඒ සිවුවනක් පිරිසටම උන් වහන්සේ ඒ වඩපු ශක්තිය විසාල ආධාරකයක් වෙනවා. ඒ ආධාරකය නැතුව මාර පාක්ෂික බලවේගයන්ගෙන් බේරෙන්න බෑ. මාර පාක්ෂික තාඩන පීඩනවලින් බේරෙන්න තියෙන එකම මාධ්‍යය බුදු පිළිසරණ නිසා ලබන ශක්තිය. ඒ ශක්තිය නැතුව, ශ්‍රාවකයෙකුට මාර්ග ඵල අවබෝධ කරගෙන ලෝකයේ අසාරත්වය දකින කල් නුවණ දියුණු කර ගන්න ඉඩ දෙන්නෙ නෑ. මොකද බලවත්ව තියෙන්නෙ මාර පාක්ෂික පැත්ත නිසා වික්ෂිප්ත කරන්න තියෙන ඉඩකඩ වැඩියි. ඒ නිසා තමයි අසංඛ්‍ය කල්ප ලක්ෂ ගණන් පෙරුම් පුරල, ඒ මාර පාක්ෂික මහා බලය දෙවැනි කරල, අහලකට එන්න බැරි වෙන්න පලවා හරින්න පුළුවන් ශක්තියක් නිකුත් කරල, ඒ බුද්ධ අධිෂ්ඨානය පරිදි ලෝක සත්වයාගෙ යහපත වෙනුවෙන් පවතින්නෙ. එබඳු ස්ථානයක මූලික වශයෙන් ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් ගොඩ නැගිච්ච යම් කිසි පාප ධර්මයක් තිබුණ නම්, ඒවා පලවා හැරල අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් ජය ගැනීමට හේතු කාරක වන ශක්තිය ආධාරකයක් වශයෙන් ලබා දීමට බෝධීන් වහන්සේගෙ ශක්තිය ක්‍රියාත්මක වෙනවා. ඒක මහා ඖෂධයක් වෙනවා.

දැන් කෙනෙක් කියන්න පුළුවන්, මෙහෙම ශක්තියක් ගොඩ නගන්න ගහකට හිතක් නැහැනෙ කියල. ගහකට හිතක් අවශ්‍ය නෑ. අධ්‍යාත්මික ආයතනවලට හිත අවශ්‍ය වෙනවා. නමුත් බාහිර ආයතනවලට තියෙන්නෙ ආධාරක විතරයි. හිතෙන් ගොඩ නැගෙන අධ්‍යාත්මික ආයතන තියෙනවා. බාහිර ආයතන වශයෙන් බාහිරින් එන දේ උදව් දෙනවා. හිතෙන් ගොඩ නැගෙන අධ්‍යාත්මික ආයතනවලට බාහිරින් ගොඩ නැගෙන උදව්වත් එකතු වෙලා හැදෙන ප්‍රතිඵලය තමයි බුද්ධිය, යථාවබෝධය කියන්නෙ. මෙතැනදි යථාවබෝධය ලබා ගැනීම පමණක් නෙවෙයි සිද්ධ වෙන්නෙ. ඒ තත්වයට පත් වෙන්න කායික ප්‍රබෝධයත්, මානසික ප්‍රබෝධයත් මුල් වෙන්න ඕන. ප්‍රීති මනස්ස කායෝ පස්සද්දති, පස්සද්ද කායෝ සුඛං දේති, සුඛිනෝ සමාධියති කියල, අන්තිමට සමාධියටත් බලපානවා. අන්න ඒ සමාධියට තමයි යථා භූත ඥාන දර්ශනය පහළ වෙන්න හේතු ලැබෙන්නෙ. ඒ ශක්ති විශේෂ ලබා ගැනීමට විසාල සහනයක් මේ බෝධීන් වහන්සේගෙන් විහිදිලා යනවා. ඉතිං කෙනෙක් ඒ සඳහා නැඹුරු වෙනකොට, ඒ ශක්තිය හේතු කාරක අනුව ඇදිල ඇවිත් ඊට අනුකූල පසුතලය හැදෙනවා. ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් යම් පසුතලයක් හැදිල තිබුණොත්, ඒ හට ගත්ත දේ මැඩ පවත්වල අලෝභ, අද්වේශ, අමෝහ පරිසරයට අවශ්‍ය කරුණු තමන් ළඟ තිබුණ නම්, ඒවා ඔප් නංවල දීල ආර්ය මාර්ගය පූර්ණ කරගැනීමට අවශ්‍ය කරන සියලු සුබ විහරණය ලබා දෙන්න හේතු වෙනවා.

එහෙම **සුබ විහරණය ලබා දෙන්න හේතු වෙන්නෙ අලෝභ, අද්වේශ, අමෝහවලින් ගොඩ නැගිච්ච දෙයක් නම්, කිසිම දාක කිසිම සත්වයෙකුට අලෝභ, අද්වේශ, අමෝහ මුල් කරගෙන ලෙඩක් ගොඩ නැගිල නෑ. යම් ආකාරයකින් ගොඩ නැගිච්ච ලෙඩක් රෝගයක් තියේනම්, ඒක ගොඩ නැගිල තියෙන්නෙ ලෝභය, ද්වේශය, මෝහය මුල් වෙච්ච දෙයක් නිසා. කෙනෙකුට යම් දුකක් කරදරයක් ආව නම් ඇවිත් තියෙන්නෙ ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් ගොඩ නැගිච්ච දේවල්වලින් මිසක් අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් කිසිම විටෙක ලෝකයාට දුකක් කරදරයක් ගොඩ නැගෙන්නෙ නෑ.** අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් ඇති වෙච්ච පාරමිතා ශක්තිය ලෝභක්ෂයට, ද්වේශක්ෂයට, මෝහක්ෂයට හේතු වන බුද්ධි ප්‍රභාවය මතු කරල දෙනවා. අන්න ඒ දක්වා සියළු ශක්තීන් ගැබ් වෙච්ච ස්වභාවයක් තමයි බෝධීන් වහන්සේ ළඟ තියෙන්නෙ.

එහෙනම් බෞද්ධත්වය අරමුණු කරගෙන, ඊට අනුකූලව කටයුතු කරන කෙනෙකුට ඒ ආශිර්වාදය ලබා ගැනීමේදී ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් සංසාර ගමනෙදි ප්‍රමාද දෝෂයන් නිසා කරපු පාපයක් තිබුණ නම්, ඒකෙන් ලැබෙන පාපයේ විපාක ශක්තිය මතු වීම දුරස් කරන්න හැකියාවක් බෝධීන් වහන්සේට තියෙනවා. තමන් ඊට අනුකූලව ගෞරවයෙන් යුතුව ඒ කටයුතු කරන කොට ඒ ශක්තිය ගැබ් වෙනවා. ඉතිං ඒ වගේ, කායික වශයෙන් ගන්නා වූ යම් ඖෂධ තියෙනව නම්, ඒ ඖෂධ වගේ දෙයක් බෝධි වන්දනාවකදි වෙනම තියල ආශිර්වාද ලබා ගන්නත් හැකියාවක් තියෙනවා. එතකොට ඒකෙත් අර ශක්තිය ගැබ් වෙනවා. බෝධීන් වහන්සේ උදෙසා යම් කිසි ආකාරයක පූජාවක් කරන්න තියෙනවනම්, අපට කරන්න තියෙන්නෙ, බෝධීන් වහන්සේ අවට පරිසරය සුද්ධ පවිත්‍ර කරල බෝධීන් වහන්සේට අවශ්‍ය කරන ජල ප්‍රමාණයක් ලබා දීම. ඒක තමයි බෝධීන් වහන්සේගෙ පැවැත්මට අවශ්‍ය කරන එකම දේ. පොහොර වගේ දෙයක් බෝධීන් වහන්සේට අවශ්‍ය වෙන්නෙ නෑ. අවශ්‍ය වෙන්නෙ ජලය විතරයි. අපි කිසියම් ජල ප්‍රමාණයක් සපයල බෝධීන් වහන්සේට ඇප උපස්ථාන කරනවා. ගරුත්වය වගේම ආරක්ෂාව සැලසිය හැකි දෙයක් තියේනම් බෝධීන් වහන්සේ උදෙසා කරන්න පුළුවන්. ඒ බෝධි ගුණය සිහි කරන්න සිහි කරන්න ඒ බලාපොරොත්තු ඉෂ්ඨ වෙන්න ශක්තිය, ආශිර්වාදය ගැබ් වෙනවා.

බෝධි වන්දනාවක් සිදු කරන කොට ඒක දෙයාකාරයකට කරන්න පුළුවන්. එකක් තමයි ඒ සඳහා විශේෂ හේතුවක් අරමුණු කරගෙන බුදු පියාණන් වහන්සේගෙ උත්තරීතර ගුණ සිහි කරල, ගුණ උපහාර පූජාවක් විදියට බෝධි පූජාවක් සිද්ධ කිරීම. එහෙම ගුණ උපහාර පූජාවක් විදියට බෝධි පූජාවක් සිදු කිරීමෙන් කාටත් යහපතක් සිද්ධ වෙනවා. ඒකෙන් චිත්ත ප්‍රසාදය ඇති වෙනවා. චිත්ත මාර්ගය වැඩීමට හේතු වෙනවා. ඒ නිසා එසේ අනන්ත වූ අප්‍රමාණ වූ ගුණ සිහි කරල, චිත්ත ප්‍රසාදය ඇති කරගෙන බෝධි වන්දනාවක් සිදු කිරීම බොහොම කුසල් රැස් වෙන කටයුත්තක්.

යම් කිසි කෙනෙක් අඑල උපද්‍රවයකට, දුකක් කරදරයකට පත් වෙන කොට ඒකෙන් මිදෙන්න බෝධි වන්දනාවක් කරල පුද පූජා පැවැත්වීම තවත් ක්‍රමයක්. මෙහෙම අඑල උපද්‍රව අවස්ථාවලදි ඒකෙන් මිදෙන්න අවශ්‍ය කරන්නා වූ දහම් ක්‍රම රටාව විද්‍යානුකූලව දැන ගෙන ඉඳීම හරිම වැදගත්. බෝධීන් වහන්සේගෙ පහළ වීම ඥාන දර්ශනය මුල් කරගෙන ඒකට එල්ල වන සියළු බාධා දුරු කරන්න හේතු කාරක වන ශක්තියක් බෝධීන් වහන්සේ නමකගෙන් නිකුත් වෙනවා. එහෙම නිකුත් වෙන්නෙ ගසක් නිසාම නෙවෙයි. ගසක මාර්ගයෙන් ලෝකයට ක්‍රියාත්මක වෙන්නෙ, බෝධි සත්වයන් වහන්සේ නමකගේ මහා පාරමිතා ගුණය තුළින් නැගෙන්නා වූ මහා ප්‍රඥාවට ආධාරකයක් විදියට.

කායික විදියට ඇති වෙන ලෙඩ රෝග බාධක තියෙනව නම්, ඒ කියන්නෙ වා, පිත්, සෙම් හිර කිරීම් වගේ ලෙඩක් තියෙනව නම්, ලොව්තුරා බුද්ධත්වයට පත් වෙන්නත් ඒක බාධකයක් වෙන්න පුළුවන්. ලොව්තුරා බුද්ධත්වය ලබා නොගෙන නොනැගිටිමියි කියන අධිෂ්ඨානය ඇතුව වාඩි වුනාට පස්සෙ, වා පිත් සෙම් කිපීමක් වෙලා හරි, අත පය කැක්කුම් ඇවිල්ල හරි එක විදියකට ඒ ආසනයේ ඉන්න බැරි වුනා නම්, ඒකත් ලොකු බාධකයක් වෙනවා. එතකොට ඒ බුද්ධ ඥාන ලබා ගන්න ඒ සඳහා හිත යොමු කරන කොට ක්ලාන්ත කැරකිලි ඇති වෙන විදියට වා, පිත්, සෙම් අමාරුවක් එහෙම ආව නම්, බුද්ධ ඥාන ලබා ගන්න සිහි කල්පනාව ගන්න බැරි වෙනවා. එහෙනම් ලෝකයේ සතර මහා භූතයන්ගෙන් හට ගන්නා යම් කිසි විපරීතයක් තිබුණ නම්, ලොව්තුරා බුද්ධත්වයට පත් වෙනකොට ඒ සියල්ලම සමතුලිත බවට පත් කරන්න ඕන. එහෙම සමතුලිත වෙන්න, ඒ බෝධි සත්වයන් වහන්සේගෙ අනන්ත පාරමිතා ගුණස්කන්ධය බලපානවා.

ඉතිං බෝධි වන්දනාවක් සිද්ධ කරන කොට, බුදු පියාණන් වහන්සේ උදෙසා කරන යම් පූජාවක් ඇත්නම්, බෝධීන් වහන්සේ ඉදිරියේ බුදු රජාණන් වහන්සේ උදෙසා මනෝමය විදියට පූජා කරන්න පුළුවන්. මොකද බුදුන් වහන්සේ උදෙසා කරන පූජාවක් සඳහා උන් වහන්සේ වැඩ ඉන්නම ඕන නෑ. ලොව්තුරා සම්මා සම්බුද්ධ වූ බුදු පියාණන් වහන්සේ උදෙසා මේ පූජාවන් පූජා කරමි, පූජා කරමි, පූජා කරමි, පූජා වේවා, පූජා වේවා, පූජාම වේවා කියල, චිත්ත ප්‍රසාද සිතින් යුක්තව යම් පූජාවක් බෝධීන් වහන්සේ උදෙසා සිද්ධ කළා නම් ඒක උද්දේසික පූජාවක් වෙනවා.

දවසක් අනේ පිඬු සිටුතුමා බුදු රජාණන් වහන්සේ හමු වෙලා මෙහෙම ඉල්ලීමක් කළා. ''අපි ඔබ වහන්සේ දකින්න එන්නෙ බොහොම ශ්‍රද්ධාවෙන්. ඒත් සමහර වෙලාවට ඔබ වහන්සේ ජේතවනාරාමයේ නෑ. එතකොට අපිට ඇති වෙන්නෙ කණගාටුවක්. ඒ නිසා ඔබ වහන්සේ නැති අවස්ථාවක වන්දනාමාන කරන්න ඊට සුදුසු දෙයක් ලබා දෙන්න"

බුදු පියාණන් වහන්සේ, ආනන්ද හාමුදුරුවො කැඳවල බුද්ධගයාවේ තියෙන බෝධියෙන් ශාඛාවක් ගෙනත් ජේතවනාරාමයේ රෝපණය කරන්න කිව්වා. ඊට පස්සෙ උන් වහන්සේ ජේතවනාරාමයේ වැඩ නොසිටින අවස්ථාවලදී, ඒ රෝපණය කරපු බෝධීන් වහන්සේට වැඳ නමස්කාර කිරීම බුදු පියාණන් වහන්සේට වැඳ නමස්කාර කළා හා සමානයි, ඒ නිසා උන් වහන්සේ ඒ ස්ථානයේ නැති විටකදී ඒ බෝධීන් වහන්සේ වන්දනාමාන කරගන්න කියල අනේපිඬු සිටුතුමා ඇතුළු පිරිසට දැන්වුවා. උන් වහන්සේ උදෙසා කරන පූජාවන් නිසා ඒ පිනේ අඩුවක් නෑ කියලත් පෙන්නුවා. ස්ථානය කොහේ වුණත් උන් වහන්සේ වැඩ ඉන්න කාලයේ රෝපණය කරපු ඒ බෝධීන් වහන්සේ තමයි පසුව ආනන්ද බෝධිය විදියට ප්‍රචලිත වුනේ. ඒ නිසා තමයි අදත් බෝධීන් වහන්සේ ළඟ බෝධි පූජා තියන්නෙ. බුදු පියාණන් වහන්සේ ජීවමානව වැඩ සිටින කාලයෙදිත් බෝධීන් වහන්සේ උදෙසා කරන පූජාවන්, උන් වහන්සේට කරන්නා වූ පූජාවන් හා සමාන බව දේශනා කළා. ඉතිං උන් වහන්සේ තමන් වහන්සේ හා සමාන ලෙස සැළකුවෙ මේ බෝධීන් වහන්සේ. එහෙම නැතුව ඊට වෙනත් පුද්ගලයෙක්ව ආදේශ කළේ නෑ. එහෙනම් මේ බෝධීන් වහන්සේ කියන්නෙ නිකම්ම නිකං ගහක් නොවන බව සිහි තබා ගන්න ඕන. ඒ වගේම බෝධීන් වහන්සේ උදෙසා නිතරම බෝධි වන්දනාවන්, පුද පූජාවන් සිද්ධ කරන කොට සිහි තබා ගන්න ඕන, ඒ පූජාව මුළුමනින්ම බුදු පියාණන් වහන්සේ උදෙසාම කරන පූජාවක් කියල. ඒ නිසා බෝධි වන්දනාවක් සිද්ධ කරන කොට මුලින්ම කරන්න ඕන දේ තමයි, මේ වන්දනාමාන පුද පූජාවන් බුදු පියාණන් වහන්සේ උදෙසාම පූජා වේවා කියන දේ හිතේ ධාරණය කර ගැනීම.

එහෙනම් බෝධි රාජයාණන් වහන්සේ ළඟ, බුදු පියාණන් වහන්සේ මේ ලෝකයට පහළ වුනා. ඒ බුදු පියාණන් වහන්සේ මහා බෝධි සත්ව කාලවලදී පූර්ණ කළා වූ ශක්තීන් නිසා බෝධීන් වහන්සේ මේ ලෝකයට පහළ වුණා. සමහරු කියන්නෙ උන් වහන්සේ ඒ බෝධි මූලයේ බුද්ධත්වය ලැබුවට පස්සෙ ඇසතු ගස් පහළ වුනා කියල. ඒක වැරදි අදහසක්. ඇසතු වර්ගයට අයිති ගහක් තමයි බුදු පියාණන් වහන්සේගෙ පාරමිතා ශක්තියෙන් ලෝකයට පහළ වුනේ. ඇසක් සෘතු කිරීම තමයි ඇසතු කියන්නෙ. ඒ කියන්නෙ දහම් ඇසක් පහළ කරනවා. ඒ පහළ වෙච්ච පරම්පරාව තමයි බෝධි පරම්පරාව. ඒ බෝධි පරම්පරාව බුදු රජාණන් වහන්සේගෙ පාරමිතා බලය හා සම්බන්ධ බෝධින් වහන්සේලා. එහෙම නැතුව සියළු ඇසතු ගස් බෝධි නෙවෙයි. ජය සිරි මහා බෝධීන් වහන්සේගෙන් විහිදුනු ඵලයක් හෝ අංකුරයක් හෝ මුල් කරගෙන සම්බන්ධ වෙච්ච එකක් තමයි බෝධි සම්බන්ධයට අයිති වෙන්නෙ. ඒ කියන්නෙ ගෞතම බුද්ධ සාසනයට අදාල බෝධිය. ඒ ජයසිරි මහා බෝධීන් වහන්සේගෙම බීජවලින් හෝ අංකුරවලින් හෝ මොනවායින් හරි සම්බන්ධයක් තියෙන බෝධීන් වහන්සේලා තමයි අද පන්සල් ආශ්‍රිතව පුද පූජා පවත්වල වන්දනාමාන කරන්නෙ.

ඒ නිසා බුදු පියාණන් වහන්සේගෙ අනන්ත වූ ගුණ සිහි කරල, ඒ බුද්ධත්වය ලබන අවස්ථාවෙදි පහළ වුනා වූ බෝධීන් වහන්සේගෙ ගුණත් සිහි කරල, එබඳු ආශීර්වාදයෙන් අපට යහපතක් වේවා කියල පතන කොට යහපතක් වෙන්න හේතු යෙදෙනවා. මොකද බුදු පියාණන් වහන්සේ මෙහෙම දේශනා කරනවා. ''ඔබලාට බයක්, තැති ගැන්මක්, ලොමු ඩැහැ ගැන්මක් වෙන කොට මාව සිහි කරන්න, ඒ බය තැති ගැන්ම, ලොමු ඩැහැ ගැන්ම නැති වෙලා යහපතක් වෙනවා, ඒ කුමක් නිසාද තථාගතයන් වහන්සේ බය තැති ගැනුම් නැහැ, පලා යන්නෙ නැහැ වීතරාගී, වීතදෝසී, වීතමෝහී ගුණ නිසා.'' එබඳු ගුණ ඇති උන් වහන්සේගෙ ශක්තිය, ආශිර්වාදය හේතු කොට ගෙන බය, තැති ගැනුම්, ලොමු ඩැහැ ගැනුම් නැති කරන්න පුළුවන් ශක්තියක් තියෙන බව උන් වහන්සේම දේශනා කළා. ඒ බව ධජග්ග සුත්‍රයේ මනාව පෙන්වා තියෙනවා.

එහෙනම් අපිට යම් ප්‍රශ්නයකදී බයක්, තැති ගැන්මක්, ලොමු ඩැහැ ගැන්මක් ඇති වෙනව නම්, ඒ සඳහා හොඳ ප්‍රතිකර්මයක් වශයෙන් ඒ ශක්තියත් ආශීර්වාදයත් ගැබ් වෙලා ඒකෙන් යම් කිසි ආකර්ශණ බලයක් පිහිටනවා. ඒ ආකර්ෂණ බලයට විරුද්ධ බලවේග විකර්ෂණය වෙලා රැකවරණයක් ලැබෙනවා. මේ නිසා බෝධි වන්දනාවකදී බෝධීන් වහන්සේ වටා තියෙන පරිසරය සුවඳවත් කිරීම, ඒ වගේම බෝධීන් වහන්සේගෙ පෝෂණයට අවශ්‍ය කරන ජලය සැපයීම, සුද්ධ පවිත්‍ර කිරීම යනාදී බෝධීන් වහන්සේ නිරුපද්‍රිතව තබා ගැනීම සඳහා කරන්නා වූ කටයුතුවලින් බාහිර බාධක දුරු වෙලා ඒ ආශීර්වාදයට මග පෑදෙනවා. ''පූජකෝ ලබතේ පූජං වන්දකෝ පටිවන්දනං" කියන, පිදුවොත් පිදුම් ලැබෙන වැන්දොත් ප්‍රතිවැඳුම් ලැබෙන ක්‍රමයක් තමයි මෙතැනදී ක්‍රියාත්මක වෙන්නෙ. ඒ කියන්නෙ කරපු දේට අනුකූලව ඵලය ලැබෙනවා. චිත්ත ප්‍රසාද ඇතුව ගරු කළේ යම් උතුම් වස්තුවක් උදෙසා නම්, ඒ කළ ගරුත්වය උදෙසා ලැබෙන ප්‍රතිචාරයත් බොහොම යහපත් වෙනවා. ඉතිං මේ ආකාරයට බෝධි වන්දනාවෙ වැදගත්කම දැනගෙන ඒ අවබෝධය තුළින් සම්මා සම්බුදු පියාණන් වහන්සේට කරන්නා වූ පූජාවක් සේ සිහි කරගෙන චිත්ත ප්‍රසාද සිතකින් යුතුව නිවැරදි ආකාරයට බෝධි පූජාවක් සිද්ධ කිරීමෙන් මහත් වූ පුණ්‍ය ගංගා කුසල ගංගා වඩා ගැනීමට උපනිශ්‍රය වන බව තේරුම් ගන්න ඕන.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ප්‍රසාද් ද සිල්වා**
**ශ්‍රී ලංකා පරිගණක හදිසි ප්‍රතිචාර සංසදය**

# සත්ත්වයාගේ භවයෙන් භවයට යන ගමන

මරණය සහ උපත අතර සිදු වන සංකීර්ණ ක්‍රියාදාමය විග්‍රහ කරමින් ආරම්භ කළ ලිපි පෙළ, එතැන් පටන් අන්තරාභවික අවස්ථාව සහ අන්තරා පරිනිබ්බායී අවස්ථාවත් විග්‍රහ කරමින්, සිය දිවි නසා ගැනීම් සහ ප්‍රාණ ඝාතය ගැනත් කරුණු ඉදිරිපත් කළා. ඊටම අදාල වූ තවත් පැතිකඩක් තමයි මේ විග්‍රහ කරන්නෙ.

යම් කෙනෙක් මරණ මොහොතට එළඹුණා කියල හිතුවොත්, දැන් ක්‍රමයෙන් සිද්ධ වෙන්නෙ මොකක්ද? ශාරීරික ස්පර්ශය දෙන පංචේන්ද්‍රියන් ක්‍රමයෙන් දුර්වල වෙලා ස්පර්ශය නොදැනී යනවා. ගඳ සුවඳ හා රසයත් නොදැනී යනවා. කන් ඇහෙන්නෙ නැතිව යනවා. දැස පෙනෙමින් නොපෙනෙමින් තිබිල බාහිර දේ නොපෙනෙන, සිහින ලෝකයක් පමණක් පෙනෙන තත්ත්වයට පත් වෙනවා. මේ වෙලාව වෙන කොට මනසින් ඇහැරී සිටින, පසිඳුරන්ගෙන් මියගිය ඒ පුද්ගලයාට මනසේ මතක සටහන් මතු කරමින් විපාක විදිහට එන කර්ම ශක්තියේ බලයෙන් මනායතනය සමග ධර්මයෝ ඝට්ටනය කරමින් සිත් පහල කරනවා. හරියට චිත්‍රපටියක් වගේ තමන් කරපු කියපු දේවල් පේන්න පටන් ගන්නවා. මෙතනදි දැනගත යුතු විශේෂ කරුණක් තමයි, **උසස් වූ ප්‍රබල පුණ්‍ය කර්ම කරපු අයට ඒ පුණ්‍ය කර්ම ශක්තියේ බලයෙන්, වෙනත් අසුබ අරමුණු අවිද්‍යමාන කරමින් සුගතියට සුදුසු පරිදි අරමුණු පෙන්නුම් කරන බව. ඒ වගේම පාප කර්ම බලවත්, පවුකම් කරපු අයට ඒ පාප කර්ම බලයෙන් දුගතියම පෙන්නුම් කරනවා.** විශේෂයෙන් මේ වගේ බොහෝ අය මරණාසන්න මොහොතෙදි දැඩි වේදනාවෙන් අඟ පසඟ පවා චලනය කරමින් කෙඳිරි ගාමින් ඒ වගේ අසුබ දර්ශනයන් ද සමගින් මියගිය අවස්ථා ප්‍රායෝගික වශයෙනුත්, සමාධි / දැහැන් වඩපු උතුමන් ඒ ආශ්‍රයෙනුත් දැකල තියෙන බව මීට පෙරත් කරුණු කාරණා ඉදිරිපත් කළා.

ඒ වගේම සාමාන්‍ය පුද්ගලයන්ට, තම තමන් පින් පවු කරපු හැටියට දැඩිවම බදාගෙන හිටපු ගති ලක්ෂණ ඇදෙමින් රඟ දක්වන ආකාරයන් ඇති වෙනවා. මේ අරමුණු, ළඟ ළඟ පෙනෙන කොටම තදින් අල්ල ගත්තු අරමුණක් නිතර නිතර දකින්න සිද්ධ වෙනවා. එහෙම වෙන්නෙ, යම් අරමුණක් වැඩිපුර හිතට අරගෙන හිටිය නම්, ඒ පිළිබඳවම සිතේ ක්‍රියාකාරිත්වය මෙහෙයවන නිසා. මේ වෙලාවෙදි නිතර ප්‍රබල කරගෙන හිටපු ගතියක් මතු වෙලා ආව නම්, ඒ පුද්ගලයගෙ ඒ ගතිය ඊට අනුරූපයන්ම මවමින් ''විඤ්ඤාණ පච්චයා නාම රූපං'' කියන ක්‍රියාවලිය සිද්ධ කරනවා. ඒ නාම රූප ධර්මයන් විඤ්ඤාණ පරපුර බලවත් කරනවා. තදින්ම හිත ගිහින් තිබිච්ච යම් ගතියක් ඇත්නම්, අනෙක්වා අමතක වෙලා තමන්ට හිත ගිය තැනම අනුකූල අරමුණු මැවිල පේන්න පටන් ගන්නවා. ඒ වගේම ගතියට අනුව උපදින තැනුත් පේන්න පටන් ගන්නවා.



එතකොට, නැගිටින්න බැරි තරම් වයසක කෙනෙක් මැරෙන කොට සිද්ධ වෙන්නෙ මොකක්ද? මෙතනදි මෙහෙම හිතන්න ඕන. අපි හීන දැකල තියෙන හැටි මතක් කර ගන්න. යමෙක් කකුල කැඩිල පැලැස්තරයක් දමල නැගිටින්නවත් බැරිව ඔත්පලව ඇඳක ඉන්නව කියල හිතුවොත්, දැන් ඒ පුද්ගලය හීනයක් දකින හැටි හිතන්න. ඔත්පල වුනත් හීනයක් නිසා, ඔහුට දැන් ගමනක් යන්න පුළුවන්. ඇවිදින්න පුළුවන්. මියගිය මව හෝ පියා කතා කරන්න පුළුවන්. මෙලොව ජීවත් වෙන කෙනෙක් හීන ලෝකෙදි දකින්න පුළුවන්. මෙතනදි වටහා ගන්න ඕන මියගිය අයම ආව කියල නෙවෙයි, මතක සටහන් සහ ගති අනුසාරයෙන් නාම රූපයෝ දකින ආකාරය. ඒ නිසා තමයි ජීවත් වෙලා ඉන්න අය වගේම මියගිය අයත් පේන්නෙ. කකුල කැඩිල නැගිටින්න බැරුව හිටියත් ඇවිදින ආකාරය පෙනෙන හැටි දකින්න පුළුවන්. නිරෝගි වෙලා යන හැටිත් මේ වෙලාවෙ හොඳින් දකින්න පුළුවන්. මරණ මොහොතෙදි කර්ම නිමිති, ගති නිමිති දකින්නෙත් මේ විදියට.

දැන් හීන ලෝකයේ දකින හැටි තව දුරටත් විමසල බැලුවොත්, සමහර විට අලි පන්නනවා. නයි පොළොංගු හපන්න එනවා. ගස්වලින් වැටෙනවා. ගල්වලින් පෙරළෙනවා. බය වෙලා දුවනවා. කැලෑවල අතරමං වෙනවා. ආයුධවලින් අනින්න එනවා. මේ වගේ හීන අපි දැකල තියෙන හැටි සිහි කළොත්, මේවා අපේ කැමැත්ත, අකමැත්ත අනුව පේන හීන නෙවෙයි. එහෙනම් කොහොමද සිද්ධ වෙන්නෙ? විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාම රූප වේ, නාම රූප ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වේ කියන්නෙ බුද්ධ වචනය. කර්ම ශක්තිය (විඤ්ඤාණ ධාතුවෙහි පිහිටි) ඒ ශක්තියට අනුව නාම රූප පහල කරනවා. ''මනංච පටිච්ච ධම්මේච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං'' කියන සිද්ධාන්තය අනුව, කර්ම ශක්තියෙන් වූ ධර්මතාවයන් මනෝ ද්වාරයේ ඝට්ටනය වෙනවා. ඒ ඝට්ටනයට අනුරූපව මනෝ විඤ්ඤාණය, අනුරූප නාම රූප ධර්ම දනවමින් නැගී සිටිනවා. ඒ නාම රූපවලදි අපිට දැන ගන්න ලැබෙන්නෙ, යම් වස්තුවක ප්‍රතිබිම්බය කන්නාඩියකට වැටෙන කොට ඒ ද්‍රව්‍ය වස්තු දිහා බැලුවොත් ඒ විදිහටම පේනවා වගෙයි, අරමුණු දැන ගැනීමේ ලක්ෂණ තියෙන සිත පහල වෙලා ඒකෙම වැද ගන්නා කැඩපත් පිළිබිඹුව වගේ නාම රූපයන්ගෙ තත්ත්වයන්. ජීවත් වෙලා ඉඳගෙන යමක් කරනවට, කියනවට, දකිනවට වඩා වෙනසක් ඒ නාම රූප මගිනුත් පේන්නෙ නෑ. ඒ විදියටම පේනවා, ඒ විදියටම දැනෙනවා. ඒ ඇයි?

මෙලොව ජීවත් වෙන කොට දකිනවා කියල, අපි දැකල තියෙන්නෙ සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තුවල ඒ භූත කොටස් නෙවෙයි. ඒවා ඇසුරින් ගත් ආකාර, ලිංග, නිමිති, ප්‍රඥප්ති, උද්දේස ආදිය. ඉතා පැහැදිලිව පෙනෙන රූපවාහිනී යන්ත්‍රයක් දිහා බලන කොට, මේ ස්වභාවය අපට හොඳින් වටහා ගන්න පුළුවන්. මේ උපමාවත් ☞

හොඳින් වටහා ගන්න පුළුවන් නම්, කරුණු මනා සේ අවබෝධ වෙනවා. රූපවාහිනී යන්ත්‍රයක රූප පටිගත කරන කැමරාවක ක්‍රියා කලාපයත්, බාහිර නාම රූප අරගෙන නාම ගෝත්‍ර විදිහට මනෝ ධාතුවේ තැන්පත් කරනවා වගෙයි. කැමරාවෙන් කරන්නෙ මොකක්ද? කැමරාගත කරන කොට සිද්ධ වෙන්නෙ යම් ක්ෂේත්‍රයකට එල්ල කරන කැමරා මුහුණත තුළින් තිත් වගේ රටාවකට අනුව උඩ යටත්, හරහටත් හැම තැනටම එල්ලවන, තත්ත්පරයකට පනස් පොළක පමණ වදින විදිහට විදුලි තිත් දහරාවක් ක්‍රියාත්මක කිරීම. තිතෙන් තිතට යමින් ඒ ඒ තැන්වල රූප කලාපවල ස්වභාවයන්ට ගැළපෙන ආලෝක ධාරාවන්ට අනුව නිපදවන විදුලි ධාරාවක්, එකම රැහැනක් වගේ ගනිමින් විදුලි කාන්දම් පටියකට (කැසට් පටියකට) ගන්නවා.

දැන් මේ පටියේ එකදු රූප සටහනක්වත් නෑ. මනුස්සයගෙ ඇසත්, ඒ ආලෝක ධාරා ඇද ගන්නා කැමරා ඇසක් වගෙයි. මනෝ ධාතු නම් වූ මනෝ ලෝකය තුළ තියෙන නාම ගෝත්‍රය, ඒ අරමුණු තැන්පත් කරපු කාන්දම් පටිය වගෙයි. ඒ මනෝ ලෝකයේ නාම ගෝත්‍රය තුළත් එකදු රූපයක් හෝ වේදනා, සංඥා ආදියක් හෝ නෑ. කාන්දම් තිත් රැහැනකට උපමා කරපු නාම ගෝත්‍ර රැහැන, මනෝ ධාතුවේ අනාදිමත් අතීතයේ පටන්ම පවතිනවා. මේවා ඒ නාම ගෝත්‍ර ඇසුරු කරපු මනෝ ශක්තියෙන් (ස්මෘති චෛතසිකයෙන්) නැවත ඇදගෙන අරමුණු කිරීමේ ශක්තියක් විඤ්ඤාණයට තියෙනවා. රූපවාහිනී කැමරාවෙන් අරගෙන පටිගත කරපු ඒ පටිය, ඒ කියන්නෙ වීඩියෝ උපකරණයෙන් ගත් පටිය ''ඩෙක්'' නමැති උපකරණයට (හෝ වර්තමානයේ ඩී වී ඩී යන්ත්‍රයකට) සම්බන්ධ කරල ක්‍රියාත්මක කළාම ඒ පටියෙ තිබ්බ්ච කාන්දම් තිත්, දර්ශන තලය මත (රූපවාහිනියේ) පතිත වෙන කොට, පෙර පටිගත කරන අවස්ථාවෙ තිබ්බ්ච රූප හා සමානව නැවත ගොඩ නැගෙනව වගේ, මනුස්සයත් ඒ විදිහට තැන්පත් කරපු නාම ගෝත්‍ර මිනිස් යන්ත්‍රය මගින් අරගෙන නැවත බලනවා. මේ උපමාව ගැඹුරු වුණත් ඊට ගැළපෙන සරල උපමාවක් ගත්තම කරුණු පැහැදිලි කිරීමට අමාරු නිසයි මේ උපමාව ගන්න සිද්ධ වුණේ.

මේ විදිහට රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන මේ අරමුණු දර්ශනය වන වෙලාවක දැන හඳුනා ගන්නා විඤ්ඤාණ ඇති තැන පවතිනව මිසක්, බාහිර විශ්වගතව ඉන්පසු තියෙනවයි කිව්වොත් ඒක ධර්ම විරෝධී වන බවත්, නිවැරදි මග නොවන බවත් තේරුම් ගන්න ඕන. මනෝ ධාතු ශක්තියත් අනන්තයි. අතීත මතක සටහන් පිළිබඳව නාම ගෝත්‍රත්, අනාගත සිදුවීම් පිළිබඳව කර්ම බලයෙන් හටගත් නාම ගෝත්‍රත් මේ මනෝ ධාතු ශක්තියේ පවතිනවා. මේ මනෝ ධාතු ශක්තියත්, මනෝ විඤ්ඤාණ ධාතුවත් දෙකක් මිසක් එකක් නෙවෙයි. මනෝ ධාතු ශක්තිය කියන්නෙ නාම ගෝත්‍ර පිහිටන අනන්ත විශ්වයේ විහිදී පවතින රූප සම්බන්ධව මැනිය නොහැකි සූක්ෂම නාම ධර්මයක්. මනෝ විඤ්ඤාණ ධාතුව කියන්නෙ භවාංගය (භාවයට අංගවන) නාම රූප ධර්මයක් සමග මනෝ ද්වාරයේ ගැටීමෙන් හට ගන්නා විපාක විඤ්ඤාණය. ඒකත් කර්ම සහ චිත්ත ශක්තියෙන්මයි



පහළ කරන්නෙ. සමහර මනෝ විද්‍යාඥයන් උඩු හිත, මැද හිත, යටි හිත කියල හිත් තුනක් ගැන කියන්නෙත් මේ කාරණය. ඒ කාරණා තුනත් මේ තුළ අඩංගුයි. උඩු හිත කියන්නෙ අපි දැන් මේ කතා කරන ඇස, කන, දිව, නාසය, ශරීරය කියන පිටින් පේන කොටසට අහුවෙන දේ. මැද හිත කියන්නෙ අපේ සාමාන්‍ය මතක සටහන්. යටි හිත කියන්නෙ ගැඹුරට අමතක වෙලා තියෙන ඒවා මතක් කිරීම. ඒ කියන්නෙ දිව්‍යැස්, දිව කන්, පූර්වේනිවාසානුස්සති ඥානය ආදියට ගෝචර වෙන්නෙ යටි හිත.

දැන් අපිට මරණය ළඟා වෙන මොහොතෙ සිහින දර්ශන පියවි දර්ශන වගේ ලැබෙන හැටිත්, කය වැහැරුණත් සිත ගත් ගති අනුව හොඳින් වැටහෙන මනෝ රූපයකින් තීරණයකට බහින හැටිත් දැන ගන්න පුළුවන්. ඒ නිසා මේ කර්ම නිමිති, ගති නිමිති මගින් චිත්ත ගතියකට බැස ගන්නා මරණ මොහොත ගැන දැන් මේ විදිහට හොයා ගන්න ඕන.

මරණාසන්න පුද්ගලයාට දැන් කය පිළිබඳ වේදනා දැනෙන්නෙ නෑ (පසිඳුරන් මියයාමට ළංව දුර්වලව ඇති නිසා). නමුත් අතීතය ආවර්ජනය කරන මනස දැන් හොඳින් ක්‍රියාත්මකයි. තමන් ඒ අත්බැවේ කරපු කියපු දේවල් වගේම පෙර අත්බැව්වල කරපු කියපු දේවලුත් එවෙලෙ වගේ පේන්න පටන් ගන්නවා. නමුත් කරපු කියපු සියල්ලම නෙවෙයි, දැඩි තණ්හා ආසාවන්ගෙන් වෙළෙමින් කරපු කියපු දේවල් විශේෂයෙන් පේන්න ගන්නවා, දැඩි බලාපොරොත්තුවෙන් කරපු දේවල් පේන්න ගන්නවා. බලවත් ශක්ති දෙන ධර්මයෝත් ඒ වගේම පේන්න ගන්නවා. දැන ගැනීමේ, විඳීමේ, රැස් කිරීමේ, පැතීමේ බලාපොරොත්තුවෙන් කරපු කියපු දේවල් මේ විදිහට පටන් ගන්නවා.

ඒ කොහොම දේවල්ද කියල බැලුවොත්, උදාහරණයක් විදිහට බොහොම ආසාවෙන් ගොවිතැන් කරපු ගොවියෙක් නම්, ඔහුට කුඹුරක් හොඳට සරුවට පැහෙන හැටි පේනවා. ගස්වැල් එල බරව තිබුණ හැටි පේනවා. හද බැඳි ආසාවෙන් මහත් ආස්වාද විඳිමින් තරුණ කාලය ගත කරපු හැටි පේනවා. ඔහුට නිතර හේන් ගැන, කුඹුරු ගැන මතක් වෙනවා. හේන් කුඹුරු සරුවට හැදිල තිබුණ හැටි, ඒ කාලෙ මතක් වෙන කොටත් හිතට හරිම සතුටුයි. ඒ කාලෙ ඔහුට පන්සලට බුදුන් වඳින්න යන්න, දානයක් දෙන්න යන්න, දානයක් දෙන්න පිං වැඩක් කරන්න කතා කළා නම්, මේ දිනවල බෑ හේන කුඹුර බලා ගන්න මම ඉන්න ඕන කියල මෙහෙමත් කියනවා. මේ ඔහුගෙ එක හිත් බැඳීමක්. මේ අතර හේනට හරක් පැනල හේන පාළු කරල තිබුණ නම්, ඔහු දැඩි කෝපයෙන් හැමෝටම බැණ වදිමින්, හරක අහුවුණා නම් මරනවා, කකුල් කඩනවා කියමින් දිවා රෑ රකිමින් හිටපු අවස්ථාත් තිබුණ කියල හිතුවොත්, මේ වගේ ක්‍රියා ඔහුගේ ජීවිතයේ තවත් අංගයක්.

ඒ වගේම ඔහු කාමුක පුද්ගලයෙක් කියල හිතුවොත්, අහල පහල ගෙදරක ස්ත්‍රියක් සමග අනියම් සම්බන්ධයකුත් ඔහුට තිබුණ කියල හිතුවොත්, අවස්ථාවක් එළඹෙන තුරු අයුතුකමටත්, චපලකමටත් යෙදුණු සිතින් මාන බලමින් ගත කරපු කාලයක් තිබුණ කියලත් හිතුවොත්, ඒ වගේම ගෙදර තිබ්බ්ච බඩු මුට්ටු හොරු අරගෙන ගිහින් ඒ ගැන යමෙක් ☞

කෙරෙහි සැක කරමින් පළි ගැසීම් කරමින් ඔහුට හිංසාවක් කරන්න මාන බලමින් කල් ගෙව්ව කියලත් හිතුවොත්, මෙහෙම හිටපු ඔහු දැන් මරණයට ළං වෙලා ඉන්නෙ වයස්ගතව. පෙර කරපු කියපු දේවල් දැන් කරන්න බැරි වුණත්, හිත නම් ඒ ගතිවලින් ගිලිහිලා නෑ කියල හිතුවොත්, දැන් ඔහු කවුරුවත් කියනවට සිල් ගන්නවා, මල් පහනුත් පූජ කරනවා. නමුත් වෙලාවකට කිපෙනවා, සාප කරනවා, රාග අරමුණුත් හිතනවා, අයුතුකම් ගැනත් හිතනවා, මැරුණොත් අපායෙ යයි කියල බයට සිල් ගන්නවා, දන් දෙනවා. මැරෙන්න පෙර දඹදිවත් ගිහින් වන්දනා කරගෙන ''මම දැන් මරණයට බය නෑ. මම හොඳට පිං දහම් කරගෙන ඉන්නෙ, මම දැන් අනිත් අයට වැඩි වෙලාවක් භාවනාත් කරනවා''... ආදී වශයෙන් මෙහෙමත් කියනවා. දැන් මරණ මොහොත මොහුට කොහොම වෙයිද ?

මැරෙන මොහොතෙ මනෝ ලෝකයේ සිත තදින් ක්‍රියා කරන මොහොතක ඔහු දැන් ඉන්නවා. ඔහු තරුණ කාලයේ තදින් ඇලී ගෙන හිටපු පවු වැඩ සහ පින් වැඩත් එවෙලෙ පේනව වගේ පේනවා. මල් පුදන හැටි පැත්තක පේනවා. සිල් ගන්න හැටි, බුදුන් වඳින හැටි, දන් දෙන හැටි, දඹදිව ගිහින් වැඳපු හැටි මේවත් පේනවා. හොඳ චුති චිත්තයක් දීමට යැයි කියමින් අනිත් අයත් මේවා ඔහුට ඇහෙන්න කියනවා. ඒ වගේම තරුණ කාලයේ ස්ත්‍රියක් සමග අනාචාරයේ යෙදුණ අවස්ථාවකුත්, ඒ වගේම සකස් වෙලා තියෙන හැටිත් පේනවා. ඇය කතා කරන හඬත් ඇහෙනවා. නිදහස් විදිහට අනාචාරයට මග පෑදිලා තියෙන හැටිත් පේනවා. හේන සරුවට වැඩිල තියෙන හැටිත් පේනවා. හේන වැඩ කරපු හැටිත්, කරන්න සූදානම් වන හැටිත් පේනවා. ගේ කඩපු හොරුන්ට පළි ගහපු හැටිත්, ඔවුන්ට යැදපු හැටිත් පේනවා.

මේ ආදී තදින් ගෙන හිටපු බලාපොරොත්තු, එවෙලෙ වෙන දේවල් වගේ චිත්‍රපටයක ජවනිකා මතු වෙනව වගෙයි, ඔහුගෙ මනසට විටින් විට දර්ශනය වෙනවා. දැන් මොකක් වෙයිද? පුද්ගලය මනෝ ලෝකයේ නිදහස්. කැමැත්තෙන්, බාධක නැතිව තෝර ගන්න මනෝ සටහන් පේනවා. තණ්හාවෙන් බලාපොරොත්තු-වෙන් කරපු වැඩ පිළිබඳව නාම ගෝත්‍රයේ තැන්පත් ශක්තිය, කර්ම ශක්තිය විදිහට ඔහු කරා නාම රූප මතු කරන කොට, ඒ ඒ මොහොතෙ වගේ අවස්ථාව එළඹෙන හැටි පේනවා. නමුත් මැරෙන්න එන මොහොතක් බව ඔහුට දැනෙන්නෙ නෑ. දැනෙන්නෙ එදා තිබ්බ ජීවන තත්ත්වය. දැන් ඔහුට තමන් තණ්හා කරපු දේට අනුව නාම රූප ඉදිරිපත් වෙලා තියෙනවා. හැබැයි මොන හේතුවකින්වත් ඔහුට මේවායින් දෙකක් හෝ වැඩි ගණනක් අල්ලන්න බෑ. අල්ලන්න පුළුවන් එකයි. ඒ ඇයි?

**රඹුටන් කන්න ආස කරන ළමයෙක් ඉදුනු රඹුටන් තියෙන ගහක් ළඟට ගිහින්, හොඳම රඹුටන් පොකුර අල්ල ගෙන එයිනුත් හොඳම ගෙඩිය කඩා ගන්නව වගේ, මියයන්න එන අයටත් තමන් දැකපු අරමුණුවලින් වැඩිපුරම හිත ගිය තැන ඒ කටයුත්තට බහින්න හිත හැදෙනවා.** දැන් මොකක්ද වෙන්නෙ? ඔහු ඊට ක්‍රියාත්මක වෙනවා. වැඩිපුරම හිත ගිය තැන උපාදාන කරනවා. ''තණ්හා පච්චයා උපාදානං'' කියල දැන් ඔහු කාම වස්තුවට වැඩි කැමැත්තක් දක්වුව නම්, ඒ හිතම ප්‍රබල වෙනවා. ඊට අනුබල දෙන සසර පටන් ඇදෙන නාම ගෝත්‍ර බලයත් අනුබලය පිණිසම නැගී එනවා. ඒ අත්බැවේ සිදු කරපු අනුබල සිත් පවා පරිවාර කර ගෙන බලවත් වෙනවා. දැන් බාහිර ගති ලක්ෂණවලට ඉඩ නෑ. ගතිය තෝර ගෙන ඉවරයි. දැන් මරණ මොහොත ආසන්නයි. ඔහුගේ හෘද ස්පන්දනයත් නොපෙනී යනවා. ඔහු මනෝමය කායකින් කයත්, ගති නිමිත්ත හෝ කර්ම නිමිත්ත හෝ ඇසුරු කරමින් මතු උපදින භවයේ ස්වභාවයට පත් වෙමින් සිරුරෙන් පිටව ගිය විදිහට මනෝමය රූපත් ඇති කර ගන්නවා. දැන් සිද්ධ වුණේ මොකක්ද?

මිනිස් විඤ්ඤාණයෙන් උපන් ඔහුගේ දැන් ගතිය තිරිසන් විඤ්ඤාණයකට ගැළපීම් ඇතිව ඉන්නවා. ''විඤ්ඤාණ පච්චයා නාම රූපං'' කියන සිද්ධාන්තයට අනුව බලවත් වූ තිරිසන් ගත විඤ්ඤාණය, බාහිර ලෝකයේ නාම රූප මනෝමය කයින් ගනිමින් ඒ තිරිසන් විඤ්ඤාණයම බලවත් කරමින් තවමත් මිනිස් හෘද රූපයම එල්බ ගෙන ඉන්නවා. දැන් ඔහුගේ සිත කාම මිථ්‍යා චාරයේ යෙදීමට කාම ගති පහළ කරගෙන හමාරයි. පෙර ඔහුට තිබ්බ සැකයකුත් දැන් මතු වෙලා එනවා. ඒ කියන්නෙ අනාචාරයේ යෙදුන ස්ත්‍රියගෙ සැමියා සටනට ආවොත්, මැරෙන්න හෝ ගහනව කියන අදහස. ඒක ඒ විදිහටම සිද්ධ වෙන්න එනව වගෙයි පේනවා. ඔහුට තිරිසන් ගතියට අනුකූල මොනව හරි ගතියක් මොහොතකින් හැඩ ගැහෙනවා. මිනිස් හෘද රූපය ක්‍රමයෙන් දුර්වල වෙනවා. අල්ලාගත් තිරිසන් නාම රූපයන් තව තවත් බලවත් වෙනවා. දැන් ඒ ගතිය තිරිසන් බලු ගතියක් කියල හිතුවොත්, ''නාම රූප පච්චයා සළායතනං'' කියන සිද්ධාන්තය ක්‍රියාත්මක වෙලා බලු හෘද රූපය අල්ලල හිත හිරිමින් මනෝ ධාතුවත් මනෝ විඤ්ඤාණ ධාතුවත් පිහිටමින්, ඒ ක්ෂණයේම මිනිස් හෘද රූපයෙන් මිනිස්ව තිබ්බ්ච අන්තිම චිත්තක්ෂණය චුත වෙනවා.

ඒ මොහොතෙම අතරක් නොසිටින ලෙස, පටිසන්ධි චිත්තක්ෂණය පහළ වෙලා චිත්තක්ෂණ 17 පූර්ණ වෙනකල් වස්ත්වාලම්භන රූප තනමින් ඒ චිත්ත වීථියේ හෘද රූපය ඇසුරු කර ගෙන භවාංග සිත් ගණන පහළ වෙලා ඊළඟ චිත්ත වීථිය පහළ වෙනවා. වස්ත්වාලම්භන රූපය කිව්වම මැරෙන මොහොතෙ තිබ්බ්ච වස්තු රූපය කියල දෙයක් තියෙනවා. ඒක ඉතාම සූක්ෂම පරමාණුවක්. ඒ පරමාණුව තමයි මෙතනදී මාරු වෙන්නෙ. ඒ කියන්නෙ පරණ එක ගෙවිල කර්ම ශක්තියෙන් අලුත් පරමාණුවක් හදල ඒක විශ්වයට නිදහස් වෙනවා. ඒ හැදෙන අලුත් පරමාණුව කවදහරි ජීවිත කාලය යනකල්ම භ්‍රමණය වෙමින් පවතිනවා. ඒක කම්පනය වෙනකොට තමයි මනෝ ලෝකයේ සංඥා හට ගන්නෙ. ඊළඟට තිරිසන් ගත නාම රූපයෝ ''නාම රූප ප්‍රත්‍ය වීමෙන් විඤ්ඤාණය පහල වේ'' කියන සිද්ධාන්තය අනුව, තිරිසන් ගත විඤ්ඤාණය අනුකූල නාම රූප සමග ගොඩ නැගෙනවා.

දැන් අතරක් නැති ලෙස චුතියට පසුව පටිසන්ධිය ලබල ජාතිය පහළ වෙලා හමාරයි. ඒ කියන්නෙ බලු හෘද රූපයක්. කර්ම ශක්තියේ බලය, ගතියට අනුව බල්ලෙක්ගෙ ගති ලක්ෂණ විද්‍යමාන කරනවා. ශරීරයෙන් බල්ලෙක් පැනල ගියා වගෙයි සමහර විට දැනෙනවා. ඒ කියන්නෙ සූක්ෂම බලු කායික අවස්ථාව. ඒක තමයි බැල්ලියකගෙ මවු කුසකට ඔක්කන්ති වෙන්නෙ. එහෙම නැත්නම් ඒ පටිසන්ධි හෘද රූපය පහල වෙන කොටම කර්ම ශක්තියේ බලයෙන් ඒ බලු රූපය කර්මජව පහල කරනවා. ඒත් සමගම ඊළඟ ක්ෂණයේ චිත්තජ රූපත් මතු කරනවා. දැන් තියෙන ප්‍රශ්නය, ඒ ස්ථානයේ මවු කුසක් අල්ලන්න බැල්ලියක් නොසිටියා නම්, ඔක්කන්තිය අල්ලන්නෙ කොහෙද කියන කාරණය. මේ කාරණය අද වෙන කොට පටලවා ගෙන තියෙන ඉතා වැදගත් තැනක්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 44**



# උපකාරයට කෘතෝපකාර නොකිරීමේ බරපතලකම පෙන්වා දුන් කතා වස්තුවක්

(පසුගිය කලාපයෙන් - තිස් අවුරුද්දක් තිස්සේ සිල් රැකලත් සතර අපාගත වුනු සැමියා සහ බිරිඳ...)

**- වහරක අභයරතනාලංකාර හිමි**

මනුස්සයො ජීවත් වෙලා ඉඳෙද්දි කරපු කියපු දේවල් අනුව මරණාසන්න මොහොතෙදි කර්ම නිමිති, ගති නිමිති අනුව එන වැඩිපුරම හිත ගියපු දෙයක් උපාදාන කර ගෙන ඒ අනුව බොහොමයක් පුද්ගලයො අපාගත වෙච්ච අවස්ථා මීට කලින් හේතුඵල සහිතව විග්‍රහ කළා. ඒ අතර ලෝක සම්මතයේ පින් දහම් කර ගෙන ඉඳල මරණින් මතු චුත වෙලා අපාගත වෙච්ච අවස්ථාත් කරුණු සහිතව ඉදිරිපත් කළා. ඒ වගේ මියගිහින් සතර අපාගත වුනාම නොයෙක් අමනුස්ස අත්බැව්වල ඉඳගෙන තමන්ගෙ ජීවත් වෙලා ඉන්න පිරිසට කරදර කරපු අවස්ථා ගැනත් සෑහෙන ප්‍රමාණයක් කරුණු ඉදිරිපත් කළා. වැඩිපුරම ඉන්නෙ තමන්ට වෙච්ච අසාධාරණයක් නිසා තමන්ගෙ ඥාති හිතෛෂීන්ට ඒ විදිහට කරදර කරන අමනුස්සයො. හැබැයි සමහර විට ඒ වගේ මිය පරලොව ගිය ඥාතීන් තමන්ගෙ යහපතට කරදර කරපු අවස්ථාත් බොහොම කළාතුරකින් අහන්න ලැබෙනවා. අභයරතනාලංකාර හිමියන්ට පෞද්ගලිකවම අත්දකින්න ලැබිච්ච මේ සිද්ධියත් ඒ වගේ දෙයක්. තමන් ජීවත් වෙලා ඉඳෙද්දි කරපු උදව් උපකාරවලට කෘතෝපකාර කිරීම අමතක කරල, තමන්ට කරපු අසාධාරණකම් පෙන්වා දීපු අවස්ථාත්, උපකාරයට කෘතෝපකාරය කියන්නෙ මොකක්ද කියන කාරණයත් මේ කතා වස්තුවෙන් කියවෙනවා.

මම ගිහි කාලෙ පොල්ගහවෙල ගිජ්ඕගම කියන ගම් ප්‍රදේශයේ නැවතිලා පුද පූජා ආදී සාසනික කටයුතු කරගෙන ඉන්න කොට තමයි මේ සිද්ධිය සිද්ධ වුණේ. ඒ පැත්තෙ තිබුණා ගිරාඹෙ කියල ගමක්. ඒ ගමේ හිටපු එක්තරා මනුස්සයෙකුට පිරිමි දරුවන් 4 දෙනෙක් හිටියා. ඔහු තමන්ගෙ දරුවන් 4 දෙනාට පුළුවන් විදිහට කවල පොවල කරදඬු උස් මහත් කරල, උගන්වල, ඉඩකඩම් වවල හදල දීල තමන්ගෙ යුතුකම් ඉටු කරපු පියෙක්. හැබැයි වයසට ගියාට පස්සෙ තමන්ගෙ පුතාල 4 දෙනා ඔහුට සැලකුවෙ නෑ, හරියට කන්න බොන්න, අඳින්න දුන්නෙ නෑ, බේතක් හේතක් කළෙත් නෑ. ඔහොම ඉඳල වයසට ගිහින් මේ මනුස්සය ඒ හිතේ අමාරුවත් එක්කම මළා. මැරිල එක්තරා අමනුස්සයෙක් වෙලා ගෙදර හිටපු



තමන්ගෙ ළමයි 4 දෙනාටම කරදර කරන්න පටන් ගත්තා. ඒ කියන්නෙ අහවල් දවසෙ තෝ මරනවයි කියල දනුම් දුන්නම එක් එක්කෙනා මොනව හරි ක්‍රමයකින් මැරෙන්න පටන් ගත්තා.

දැන් මේ තාත්ත පුතාල 4 දෙනාටම පේන්න එනවා. ගන්ධබ්බයෙක් විදිහට තමයි එන්නෙ. ඇවිත් ඇඟට අත තියල තට්ටු කරල කියනවා, තව දින 7 කින් තෝ මරනව කියල. එහෙම පළවෙනි පුතාට තට්ටු කරල කිව්ව වගේම දින 7 කින් පළවෙනි පුතා මළා. මොකක් වෙලා මළාද කියල හිතා ගන්න බෑ, මොනව හරි ක්‍රමයකට හිටි ගමන් මළා. ඊට පස්සෙ ඊළඟ පුතා ළඟටත් ඇවිත් අර විදියටම තට්ටු කරල කිව්වා තොට තව දින 7 යි තියෙන්නෙ, දින 7 න් පස්සෙ තෝවත් මරනව කියල. කිව්ව වගේම දින 7 කින් පස්සෙ ඊළඟ පුතත් මළා. ඊළඟට තුන්වෙනි පුතාටත් ඒ විදිහටම තට්ටු කරල, තෝ තව දින 7 කින් මරනව කියල දනුම් දුන්නට පස්සෙ ඒ අයත් බය වුනා. ඊට පස්සෙ තමයි මොකක්ද මේ සිද්ධිය කියල හොයන්න ගත්තෙ. ඔය අතර ඉතින් මම ගැනත් ආරංචි වෙලා මේ අය මාව හොයාගෙන ආවා. මම ඉතින් සේරම විස්තර අහල, අටපිරිකරක් එක්ක දානයක් දීල තාත්තට පින් අනුමෝදන් වෙන්න පින් දෙන්න කියල කිව්වා.

ඔය විදියට දානයක් දීල පින් අනුමෝදන් වුනාට පස්සෙ ඒ තත්ත්වය වෙනස් වෙලා, මියගිය තාත්තා මට පේන්නම ආවා. මේ අමනුස්සයගෙ අතේ තිබුනා ඒ ලෝකෙට අනුව මැව්ව්ච ලොකු කටු කම්බි රෝලක්. දැන් මේ අමනුස්සය මට මෙහෙම කියනවා. ''මහත්තය මම හිතාගෙන හිටියෙ මුන් ඔක්කොම මේ කම්බි රෝලෙන් හිර කරල අඹරල මරල දාන්න. මහත්තය කියපු බණ ටික අහල පින් අනුමෝදන් වුනාට පස්සෙ ඒ වගේ වැඩ නොකරන්න මම තීරණය කළා. ඒ නිසා දැන් මම මේක අහකට විසි කරනවා'' මෙහෙම කියල අර ගුප්ත ලෝකයේ කටු කම්බි රෝල අහකට විසි කළා. හැබැයි මේ අමනුස්සය අර වගේ පළි ගන්න දරුණු වැඩ කළාට හොඳට සුදු ඇඳ ගත්තු පෙනුම තියෙන යම් කිසි ශක්තියක් තියෙන අමනුස්සයෙක්. ඔහු ඒ අත් බැවේ ඉන්න කොට සාමාන්‍ය මනුස්සයෙකුට වඩා පස් ගුණයක් විතර උස මහත හොඳ හැඩ රුව තියෙන ආර්ය සිංහල වගේ ඇඳුමක් ඇඳල හිටපු කෙනෙක්. ඉතින් දැන් මේ ජීවතුන් අතර ඉතිරි වෙලා ඉන්න පුතාල ☞

දෙන්නගෙන් එක් කෙනෙක් රජයේ වැදගත් රස්සාවක් කරන කෙනෙක්. අනුමෝදනාව ඉවර වුනාට පස්සෙ මම ඒ අයට කිව්වා, ඔන්න දැන් ඉතින් තාත්ත මෙතනට ඇවිත් ඉන්නව කියල. එතකොට මේ පුතා කියනවා, මහත්තයට පේනව නම් තාත්තගෙන් අහන්න ඇයි අපට කරදර කරන්නෙ කියල, අපි අපේ පාඩුවේ අපේ දේවල් හරි හම්බ කරගෙන කාල ඇඳල ජීවත් වෙන්නෙ! ඉතින් එහෙම පාඩුවේ ඉන්න අපිට ඇයි කරදර කරන්නෙ කියල තාත්තගෙන් අහන්න කියල බොහොම හිත් වේදනාවෙන් කිව්වා.

හැබැයි මට ඒ මියගිය තාත්තව පෙනුනට, කියන දේවල් ඇහුනට ඒ ළමයින්ට පේන්නෙ, ඇහෙන්නෙ නෑ. දැන් ඉතින් පේන්න ඉන්නව නම් අහල බලන්න කියපු නිසා, ඒ මියගිය තාත්ත දැන් මට මෙහෙම කියනවා. ''මහත්තයෝ ඕකගෙන් අහල බලන්න මම ඉඩමක් විකුණුවද කියල?'' ඒ විදියට සැරෙන් තමයි ඇහුවෙ. නමුත් මම ඉතින් ඒ කියපු විදියටම පුතාට කිව්වෙ නෑ. මම කිව්වා, මම මහත්තයට එහෙම කතා කරනව නෙවෙයි, නමුත් තාත්ත මෙන්න මෙහෙම කතා කරල අහනවා, තාත්ත ඉඩමක් විකුණුවද කියල. ඉතින් ඔව් විකුණුවා කිව්වා. ඒ පාර මේ අමනුස්සයා නැවතත් අහනවා, ඒ ඉඩම විකුණල මම මොකද කළේ අහන්න කියල. ඉතින් මම නැවතත් අනික් අතට ඇහුවා, තාත්තා අහනවා ඒ ඉඩම විකුණල තාත්තා මොනවද කළේ කියල. ඒ පාර කිව්වා, අපි දැන් මේ ඉන්න ඉඩම ගත්තෙ ඒ විකුණපු සල්ලිවලින්-නෙ කියල. දැන් මේ අමනුස්සයා මෙහෙම කියනවා, ''එහෙනම් ඕකා දැන් ඔය කිව්වෙ ඌ හම්බ කරල ඌ හොයා ගත්තු සල්ලිවලින් කාල බීල පාඩුවෙ ජීවත් වෙනව කියල! ඕක ඉන්නෙ දැන් ඔය කාගෙ ඉඩමෙද කියල අහන්න, මම ඉඩම විකුණපු සල්ලිවලින් ගත්තු ඉඩමෙ ඉඳගෙන ඕක දැන් ඔය මොකක්ද කියන්නෙ?''

දැන් ඉතින් මම මේ කතාව ඒ අයට කිව්වම, ඒ පාර අර පුතා දෙකට තුනට නැමිල බැගෑපත්ව අහනවා තාත්තට මොනවද ඕනෙ කියල අහන්න කියල. ඉතින් මම ඇහුවා, ඒ අමනුස්සයගෙන් පුතා අහනව මොනවද ඕනෙ කියල. ඒ පාර මේ අමනුස්සයා මෙහෙම කියනවා. ''ඕකගෙන් මට මුකුත් ඕන නෑ. මහත්තයා මට ලබා දුන්න පින් හොඳටම ඇති. ඒ නිසා ඕකුන්ගෙන් මට ගන්න දෙයක් නෑ. ඕකුන්ට කියන්න මීට පස්සෙ ඔය වගේ පවුකාර වැඩ කරන්න එපා කියල. ඕකුන්ට කියන්න බෞද්ධයෙක් වෙන්න, දානයක් දෙන්න, සිල් ගන්න කියල. එහෙම වැඩක් කරගෙන මැරුනට පස්සෙ තැනකට යන්න පාර හදාගන්න කියල ඕකුන්ට කියන්න.'' දැන් මේ මියගිය තාත්ත කියපු දේවල්, ඒ අයට ඒ විදියටම කියල මම ඇහුවා, ඕගොල්ලන්ට පොරොන්දුවක් දෙන්න පුළුවන්ද, අවුරුද්දක් පුරා හැම පසළොස්වක පෝය දවසකම සිල් සමාදන් වෙන්න කියල. ඒ පාර පුළුවන් කිව්වා.

ඊට පස්සෙ මේ දෙන්නගෙන් එක් කෙනෙක් ඒ පොරොන්දු වෙච්ච විදියට හැම පසළොස්වක පෝයටම ඇවිත් අවුරුද්දක් යනකල්ම සිල් සමාදන් වුනා. එහෙම කරල ඒ බාල සහෝදරයා මහණ වුනා. මහණ වෙලා පන්සලක් එහෙම හොඳට හදල සාසනික කටයුතු හොඳට කරගෙන හිටියා. හැබැයි අනික් කෙනා එහෙම සිල් ගත්තෙ නෑ. දවස් දෙක තුනක් විතර ඇවිත් ඇප උපස්ථාන කරල යන්න ගියා. ඊට පස්සෙ ආවෙ නෑ. ඊට පස්සෙ දවසක මේ පුද්ගලයා ගෙදර නිදාගෙන ඉන්නකොට පැදුර අස්සෙ නයෙක් ඉඳල, ඊළඟට නයා සැරින් සැරේ පේන්න එන්න



පටන් ගත්තා. ඊට පස්සෙ තවත් දවසක දුවගෙන ඇවිත් මට කියනවා, හරි වැඩේනෙ තාත්තාගෙන් කරදර ඉවරයක් වෙලා නෑ, මෙන්න මෙහෙම ඇවිත් ආයෙ කරදර කරනව කියල. මම යොමු කරල බලනකොට, මේ මියගිය තාත්ත නයෙක්ගෙ වෙස් අරගෙන ඇවිත් තමයි අර විදියට පුතාව බය කරන්නෙ. හැබැයි දෂ්ට කරන්නෙ නෑ. මොකද මේ සතර අපාගත නයෙක් නෙවෙයි. ඒ පුද්ගලයට තිබ්බච මොකක් හරි කර්ම විපාකජ සෘද්ධියක් වගේ ශක්තියකින් කරන දෙයක්. ඉතින් ඒ පාර නැවතත් ඒ මියගිය තාත්ත ඇවිත් මට මෙහෙම කියන්න ගත්තා, ''මං ඕකට කරදර කරන්න ආවෙ නෑ. මූට බෞද්ධකම අමතක වෙලා තිබුනෙ. මං ඌට බෞද්ධකම පොඩ්ඩක් මතක් කරල දෙන්න පැදුර අස්සට ආව මිසක් මට ඕකගෙන් කරගන්න දෙයක් නෑ.'' මෙහෙම කිව්වට පස්සෙ ඒ පුතා නැවතත් මාස දෙක තුනක් විතර යනකල් ඇප උපස්ථාන කළා. හැබැයි සිල් ගත්තෙ නෑ. ඊට පස්සෙ ඒ ප්‍රශ්න එතනින් ඉවර වුණා.

දැන් බලන්න මේ කතාවෙන් අපිට ගන්න වැදගත් කාරණා කිහිපයක් තියෙනවා. ජීවත් වෙලා ඉඳෙද්දි තමන්ගෙ ළමයින්ට කන්න අඳින්න දීල කැත කුණු හෝදල කරදඬු උස් මහත් කරල උගන්වල, ගේ දොර ඉඩ කඩම් වවා හදා දීල සියල්ලම කරල අන්තිමට වයසට ගියාට පස්සෙ, තමන්ගෙ තාත්තට නොසළකා හැරීමේ සාපයක් තමයි එතන තිබුනෙ. එතකොට මේ මියගිය තාත්තා කළේ එක අතකින් හේතු සහගත පළිගැනීමක්. හැබැයි ඒ ළමයි හිතාගෙන හිටියෙ වෙන දෙයක්. ''අපි දුක් මහන්සියෙන් හරි හම්බ කරගෙන රස්සාවල් කරල තමයි ජීවත් වෙන්නෙ. අපි අපේ පාඩුවෙ කාටත් කරදරයක් නැතිව ජීවත් වෙන්නෙ. තාත්තට අපෙන් කරදරයක් නෑ. එහෙම ඉන්න අපට ඇයි තාත්ත මේ විදිහට කරදර කරන්නෙ ?'' දැන් මෙහෙම අදහසක තමයි ඒ අය හිටියෙ. අර උපකාරයට කෘතෝපකාරය කියන කාරණය ඒ අය දැක්කෙ නෑ. තමන්ගෙ වාසියට බඩ වඩා ගන්න හැදුව මිසක්, තමන්ව ඒ තත්ත්වයට ගෙනාපු තාත්ත වයසට ගියාට පස්සෙ සෙව්ව බැලුවෙ නෑ, සැළකුවේ නෑ. පියා මියගියාට පස්සෙවත් දානයක් දීලා පින් දීල යුතුකම් ඉටු කළේ නෑ. තමන් තනියෙන් ඔක්කොම කරගත්ත වගේ තමයි කතා කළේ, ජීවත් වුනේ. නමුත් ඒ අයගෙ පුංචි කාලය, අතීතය මතක් කරල බැලුවොත් කොහොම එකක්ද? තාත්ත කොච්චර නම් මහන්සි වෙන්න ඇත්ද ළමයින්ගෙ කරදඬු උස් මහත් කරල දෙපයින් පොළොවෙ හිටගන්න පුළුවන් තත්ත්වයට පත් කරන්න. එදා පුංචි කාලෙ කන්න ටික ළඟට ගෙනත් දීල කැවෙ නැත්නම්, තොට ඕන එකක් කරගනින් කිව්වෙ නෑ. අනේ පුතේ බත් ඩිංගක් කන්න, අන්න ලස්සන කුරුල්ලෙක් කියල මොනව හරි උපක්‍රමයකින් ආදරෙන් කතා කරල ළමයින්ට බත් ටික කැව්වා. පුංචි ලෙඩක් දුකක් හැදුනත් හනිකට උස්සගෙන බේත් ගන්න එක්ක ගෙන ගියා.

එහෙම ළමයින්ට සළකපු තාත්තා වයසට ගියාම අන්තිමට ළමයි තාත්තට සළකන්නෙ කොහොමද? කන්න ටික පිඟානට බෙදල දීල කැවෙ නැත්නම් අර වගේ ආදරෙන් කතා කරනවද? ''කන්න බැරිනම් නිකන් ඉන්නවා, අපිට කවන්න කියලද කියන්නෙ? නිකන් පොඩි එකෙක් වෙන්න හදනවා. නාකි වෙලත් කරදරේ...'' ඔහොම කියල අඩි හප්පල යනව මිසක් වයසට ගිය දෙමව්පියන් තමන්ට පොඩි කාලෙ සළකපු විදියට නෙවෙයි දැන්

දෙමව්පියන්ට ළමයි සළකන්නෙ. මේක අදත් හොඳට සමාජයේ දකින්න තියෙන දෙයක්. උපකාරයට කෘතෝපකාරය ගිලිහිලා ගිහින්. දැන් මෙහෙම කළාම මොකද වෙන්නෙ? පිටින් බලන කෙනෙකුට ඒක පුංචි දෙයක් වුනාට, මේ ලෞකික ලෝකය තුළ ඒ දෙමව්පියෝ වුනත් බණ දහම් අහල ධර්මාවබෝධයක් ලබල හිටියෙ නැත්නම්, අර කෘතෝපකාරය නොකරපු කොස්ස නිසා, ඒ හිඩැස නිසා පළිගන්න අවස්ථාවක් හදා ගන්නවා. ඒකෙන් අන්තිමට දෙපැත්තටම අවැඩක් වෙලා නියපොත්තෙන් කපන්න තිබිච්ච දේ පොරවෙනුත් කපන්න බැරි මට්ටමට පත් වෙනවා.

දැන් ඉතින් ඒ වගේ කෙනෙක් මිය පරලොව ගියාට පස්සෙ මොකද වෙන්නෙ? අර මහළු වෙලා මුකුත් කර කියා ගන්න බැරිව, දරුවන් ඉදිරියේ අසරණ වෙලා දණින් වැටිල හිටපු දෙමව්පියන්ට, දැන් අමනුස්ස වෙලා ළමයින්ටත් කරදර කරන්න පුළුවන් මහ විසාල ශක්තියක් ලැබෙනවා. මොකද ජීවත් වෙලා ඉඳෙද්දි වැහැරිලා ගියපු කයින් ළමයින්ට විරුද්ධව අතක් උස්සන්නවත් හයියක් නෑ, වචනයක් කතා කරගන්න පුළුවන් ශක්තියක් නෑ. හෙට ගෙදරින් එළියට බැහැපන් කිව්ව නම් බැහැල යන්න වෙනවා. කන්න බොන්න, බෙත් හේත් දෙන්නෙ නැතිව හිටියොත් ඒකත් දරාගෙන ඉන්න වෙනවා. මේ විදියට මොකවත් කර කියා ගන්න බැරිව මහළු වෙලා අන්ත අසරණ තත්ත්වයෙන් හිටපු දෙමව්පියන් මිය පරලොව ගිහින් ඒ මස් ලේ කය අත හැරියම, දැන් ගන්ධබ්බ කයට අමුතුම හයියක් ලැබෙනවා. මොකද ඒකට උස්සගෙන ඉන්න කියල වෙනම බරක් නෑ. දැන් ගෙදරට එන්න එපා කියල තහංචි දාන්නත් බෑ. මොකද අමනුස්ස ගන්ධබ්බයෙකුට බිත්ති, පර්වත, දොරවල්, ජනෙල් ආදී මේ ඕනම බාධකයක් පසාරු කරගෙන ගිහින් ඕන තැනකට රිංගල ඉන්න පුළුවන්. අමනුස්සයෙකුට ලංකාව කියන්නෙ හරියට අල්ලක් තරම් පොඩි දෙයක්. ක්ෂණිකව හිතන කොටම ඒ සියුම් කයින් ඕනම තැනකට යන්න එන්න පුළුවන්. විවිධ වෙස් අරගෙන පෙනී හිටින්නත් පුළුවන්. ද්‍රව්‍ය, වස්තු අතුරුදන් කරන්නත් පුළුවන්. පහර දෙන්න, අතපය කඩල දාන්නත් පුළුවන්. දැන් ඉතින් පළිගන්න ඕන නම් එකට දහයක් වුනත් කරන්න පුළුවන්. ඕන නම් ළමයින්ගෙ සකළ සේසතම විනාස කරල පිස්සු වට්ටල මරල දාන තැනටත් පළිගන්න පුළුවන්. මොකද දැන් සම්පූර්ණයෙන්ම මානසික බලය තමයි ක්‍රියාත්මක වෙන්නෙ. තමන් ජීවත් වෙලා හිටපු කාලෙ කරපු කියපු කර්ම විපාකයන්ට අනුව ඒ ශක්තියත් අමනුස්සයින්ට විවිධාකාරයෙන් පිහිටන්න පුළුවන්. තමන් හදපු වඩපු දරුවන් තමන්ට නොසළකා හැරිය කියන අදහස ඇවිත් බලවත් වුනොත්, අර වගේ ජීවිතවලින් පවා වන්දි ගන්න පුළුවන්. දැන් ඉතින් මේ වගේ අවස්ථාවක් ආවොත්, ඒ කාලෙ තමන්ගෙ ළමයිනෙ කියල අනුකම්පා කරන්නෙ නෑ. පෘතජ්ජන මානසිකත්වය නිසා ද්වේශය නැගිල ඇවිත් අහුවෙන හැම අවස්ථාවකින්ම පළිගන්න බලන්න පුළුවන්. මොකද දැන් පළිගත්ත කියල පොලිසි යන්නද? අල්ලගෙන ගහන්න බනින්නද? ඒ මොකවත් දැන් කරන්න බෑ. කොකාට වාරයක් ආව නම් තිත්තයාටත් වාරයක් එනවයි කියන්නෙ ඕකට තමයි.

ඉතින් මේ වගේ අවස්ථාවකදි ජීවත් වෙලා ඉන්න උදවිය නන්නත්තාර



වෙලා පැදුරෙන් බිමට ඇදල දාන්නත් ඒ වගේ අමනුස්සයින්ට පුළුවන් බව අමතක කරන්න හොඳ නෑ. ගුප්ත ලෝකයේ ඉන්න සමහර අමනුස්සයින් ඒ තරම් ප්‍රබලයි. මේ වගේ දේවල් අදත් ඕන තරම් සිද්ධ වෙනවා. නමුත් ඉතින් භෞතිකවාදී අදහස් නිසා ඒ හේතුවෙන් ඒව සිද්ධ වෙනවයි කියල දන්නෙ නෑ. පිළිගන්නෙත් නෑ. අන්තිමට භෞතික විසඳුම්වලින් ඒවට උත්තරත් නෑ. මළාට පස්සෙ මොනව වුනාද කියලවත් දන්නෙ නෑ.

ඒ නිසා මේ වගේ අවස්ථාවකදි ජීවත් වෙලා ඉන්න අයටත්, විශේෂයෙන් මියගිය අයටත් නිදහස් වෙලා ගොඩ යන්න තියෙන එකම ක්‍රමය තමයි සාසන වැඩපිළිවෙල. නමුත් ඉතින් ලෞකිකව කරන ගුප්ත විසඳුම් නැත්තෙත් නෑ. හැබැයි ඒව වැඩක් ඇති ඒවා නෙවෙයි, බොහොම තාවකාලිකයි. ඔය කට්ටඩියො වගේ අය අල්ලගෙන ගුරුකම් කරල බැඳල හිර කරගෙන බෝතල්වලට දාල යට කරන ක්‍රම තියෙනවා. නමුත් කර්ම විපාකය බලවත් නම්, අමනුස්සය ඊටත් වඩා බලවත් නම්, සමහරවිට කට්ටඩියොත් පැත්ත දාල පහර ගහල යන අමනුස්සයො ඉන්නවා. එහෙම නැත්නම් කවද හරි විපාකය ගෙවිච්ච දවසක ඒකෙ පළිය ගන්න බලාගෙන ඉන්නවා. එහෙම ඉඳල ඒකට සම්බන්ධ ඔක්කොගෙන්ම පළිගන්න බලනවා. එතකොට තමන් අකමැති කෙනෙක් පන්න ගන්න ක්‍රම දෙකක් තියෙනවා. එකක් තමයි චණ්ඩියෙක් දාල ගහල පන්නල එළියට ඇදල දාන එක. හැබැයි එහෙම පැන්නුවට, ඒ පුද්ගලයත් වැටෙන වෙලාවක් බලාගෙන ඉඳල කවදහරි ඒකෙ පළිය ගන්න පුළුවන්. එතකොට ගනුදෙනුව ඉවර නෑ. එහෙම නැත්නම් ඊළඟ ක්‍රමය තමයි, ඒ පුද්ගලය ඉල්ලන වන්දියක් දීල යන්න කියන එක. ඒ කියන්නෙ ඒ පුද්ගලයට ඇත්තටම තමන්ගෙන් වෙච්ච අසාධාරණයක් නිසා යම් කිසි දෙයක් අහිමි වුනා නම්, ඒකට ගැළපෙන වන්දියක් දුන්නම ඒ පුද්ගලය සන්තෝස වෙලා එතනින් යනවා. නැවතත් පළිගන්න එන්නෙ නෑ.

මෙන්න මේ වගේ තමන් කරපු අසාධාරණවලට වන්දි ගෙවල නිදහස් වෙන ක්‍රමයක් තමයි බුද්ධ සාසනයේ තියෙන්නෙත්. හැබැයි ඒක නිකම්ම ලෝක සම්මතයේ කෙරෙන වන්දි ගෙවීමක් වගේ නෙවෙයි, හරියට කළොත් කෝටි ප්‍රකෝටි ගණනින් බලවත් දෙයක්. ලෝක සම්මතයෙදි නම් කාගෙ හරි දේපළකට හානි වුනොත්, කවුරු හරි පිළිගත් තක්සේරුකරුවෙක් දාල අලාභය ගණනය කරල කීයක් හරි මුදලක් දෙනවා, එච්චරයි. ඒක ඉතින් ජීවත් වෙලා ඉන්න ටිකට හොඳයි. එතනින් එහාට ඒකෙන් ඇති වැඩක් නෑ. නමුත් බුද්ධ සාසනය ඇසුරු කරගෙන සාසනය උදෙසා කරන පින් දහම්වලින් නැගෙන ශක්තිය මහා බලවත්. ඒ පුණ්‍ය ශක්තිය දකල කවුරු හරි සතුටු වුනයි කියන්නෙ, අනුමෝදන් වුනයි කියන්නෙ, මෙලොව පරලොව වශයෙන් ලබන විසාල සම්පත්තිය විතරක් නෙවෙයි, අවසානයේ කවදහරි මහත්ඵල මහානිසංස වූ නිවන් ලබන්නත් හේතු වෙනවා. ඒ නිසා ඒ වගේ දෙයක් කරගන්නත් බුද්ධ සාසනයක්ම තියෙන්න ඕන. ඒකයි මේ සාසනයේ පහළ වීම අති දුර්ලභයි කියන්නෙ. ඉතින් මේ කතාවෙදිත් ඒ මියගිය තාත්තයි, ජීවත් වෙලා ඉන්න ළමයි දෙන්නයි නිදහස් වුනේ ඒ සාසන ක්‍රමවේදය නිසා. නැත්නම් දෙගොල්ලොම කෙළවරක් කරගන්න බැරි ගනුදෙනුවක පැටලිලා අන්ත දුක්ඛිත තත්ත්වයටම පත්වෙනවා.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# වැරදි අර්ථ කථනවලින් වැසී ගිය සද් දහම

## නහී සීල වතං හෝති උප්පජ්ඣන්ති තථාගතා අට්ඨක්ඛරා තීණි පදා සම්බුද්ධේන පකාසිතා

**තථාගතයන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙන්නෙ සිල් වතක් ප්‍රකාශ කරන්න නෙවෙයි, අකුරු අටකින් යුත් පද තුනක් දේශනා කරන්න. මේ තමයි ඉහත ගාථාවෙ සරල අදහස.**

තථාගත දේශනාව සීල විසුද්ධියට නෙවෙයි කියා ඔබ දන්නවද කියල එක්තරා භික්ෂූන් වහන්සේ නමක් විමසන කොට, මාගෙ දේශනාව සීල විසුද්ධියට නෙවෙයි රාගක්ඛය, ද්වේශක්ඛය, මෝහක්ඛය සඳහාය කියල බුදුන් වහන්සේ දේශනා කරනවා. ඒ කාරණය ඔප්පු වෙන තවත් තැනක් තමයි මේ. (සං.නි. 4 - ගිලාන සූත්‍රය 105 පිටුව)

බුදු දහමෙ පදනම තමයි ත්‍රිලක්ෂණය. මේ ගාථාවෙ අකුරු අටකින් යුත් පද තුන විදිහට සඳහන් වෙන්නෙ අනිච්ච - දුක්ඛ - අනත්ත කියන සංඥා තුන.

අශෘතවත් පෘතජ්ජන පුද්ගලයා (ධර්මය පිළිබඳ දැනුවත් භාවයක් නැති) ශෘතවත් ආර්ය ශ්‍රාවකයෙක් බවට පත් වෙන්නෙ, ලෝකයේ යථාර්ථය අනිච්ච - දුක්ඛ - අනත්ත වශයෙන් අවබෝධ කර ගෙන දර්ශන ඥානය හෙවත් ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වීමෙන්. ඒ සඳහා ධර්මය ප්‍රත්‍යක්ෂ කරපු සත් පුරුෂ ආර්ය උත්තමයෙකුගෙන් ධර්මය ශ්‍රවණය කළ යුතුයි. ඒ ධර්මය නුවණින් විමසා බලා (යෝනිසෝමනසිකාරයෙන්) ලෝකය පිළිබඳ නිස්සාරත්වය වටහා ගෙන ආර්ය අෂ්ටාංගික මාර්ගය නමැති සෝතයට පැමිණිය යුතුයි. ඒ විදිහට පැමිණි කෙනා ධර්මය පිළිබඳ දැනුවත් වූ ආර්ය ශ්‍රාවකයෙක්. (සුතවා අරිය සාවකෝ) සැබෑ බෞද්ධයා කියල හඳුන්වන්නෙ ඒ දර්ශන ඥානය පහළ කර ගත් තැනැත්තාට මිසක් බෞද්ධ නාමයෙන් සිටින නාමික බෞද්ධයන්ට නෙවෙයි.

මේ සැබෑ බෞද්ධකම ඇති කර ගන්න නම් අනිච්ච, දුක්ඛ, අනත්ත කියන මේ සංඥා 3 නිවැරදි දහම් අර්ථයෙන් තේරුම් අරගෙන ප්‍රඥා ඇස පහළ කර ගන්න ඕන. ''විරජං වීතමලං (රජස් නැති, මළ නැති) ධම්ම චක්ඛුං උදපාදි''

අද වෙන කොට බුදු දහමෙ හරය වූ මේ වචන තුනට පසු කාලීනව සිදු කරපු වැරදි අර්ථ විවරණ තුලින්, සැබෑ දහම් අර්ථය යටපත් වෙලා තියෙන බව බුද්ධ දේශනාව තුලින්ම ඔප්පු කරන්න පුළුවන්. ඒ නිසාම කොච්චර ධර්ම ශ්‍රවණය කළත්



ආර්ය බෞද්ධ පිරිසක් පහළ නොවන තත්ත්වයක් උදා වෙලා තියෙනවා.

අනිච්ච - දුක්ඛ - අනත්ත කියන්නෙ බුද්ධ වචනය. අද මේකෙ සිංහල පරිවර්තනය විදිහට විවරණ කරල තියෙන්නෙ අනිත්‍ය - දුක්ඛ - අනාත්ම කියල. ඒත් මේක සිංහල පරිවර්තනයක් නෙවෙයි, සංස්කෘත භාෂා පරිවර්තනයක්. අනිත්‍ය - අනාත්ම කියන වචන සංස්කෘත වචන මිසක් සිංහල වචන නෙවෙයි. නියම සිංහල වචන වෙන්නෙ අනිස (අනිච්ච) - දුක (දුක්ඛ) අනාත (අනත්ත) කියන වචන තුන.

බුද්ධ කාලයේ බ්‍රාහ්මණ වංශික යමෙලු, තෙකුල කියන දෙන්නෙක් බුද්ධ සාසනයේ පැවිදි වුණා. මේ අය බුද්ධ වචනය සංස්කෘත භාෂාවට පරිවර්තනය කරන්න බුදුන් වහන්සේගෙන් අවසර ඉල්ලුවම, උන් වහන්සේ ඒකට නිගරු කරල ධර්මය සංස්කෘත භාෂාවට නොනැගිය යුතුයි කියල විනය නීතියකුත් පැනෙව්වා. කාරණය එසේ වුවත් අද වෙන කොට ත්‍රිපිටක පරිවර්තනවල පවා බහුලව තියෙන්නෙ සංස්කෘත වචන.

බුද්ධ වචනය සංස්කෘතයට නැඟීමෙන් භාෂා අර්ථ මතු වෙලා, දහම් අර්ථය යටපත් වන නිසා ස්වකීය භාෂාවෙන් (සකාය නිරුත්තියා) ධර්මය ඉගෙන ගන්න කියල තමයි උන් වහන්සේ දේශනා කළේ. එදා බුදුන් වහන්සේ තහනම් කරපු දේ සිද්ධ කිරීම නිසා දහම් අර්ථවලට අද වෙන කොට යම් හානියක් සිදු වෙලා තියෙනවා.

බුදු දහමෙ හදවත බඳු ත්‍රිලක්ෂණයත් අනිත්‍ය - අනාත්ම වශයෙන් සංස්කෘත වචනවලට පරිවර්තනය කිරීම නිසා සැබෑ දහම් අර්ථය යටපත් වෙලා ධර්මය තුල පරස්පරතාවයක් මේ වෙන කොට මතු වෙලා තියෙනවා. ඒ වරද ත්‍රිපිටක පෙළ දහම තුලින් පෙන්වා දීමයි මේ දහම් ලිපියෙන් බලාපොරොත්තු වෙන්නෙ.

අනිච්ච, දුක්ඛ, අනත්ත කියන පද තුන එකින් එකට සම්බන්ධතාවයක් තියෙනවා. ඒ නිසා තනි වචන වශයෙන් අරගෙන ඒක අර්ථ දක්වන්න අමාරුයි. මේ බව ''යද නිච්චං තං දුක්ඛං යං දුක්ඛං තදනත්තා'' කියන බුද්ධ වචනයෙන් පැහැදිලි වෙනවා. මෙයින් කියවෙන්නෙ, යමක් අනිච්ච නම් ඒක දුකෙන් යුක්තයි, යමක් අනිච්ච දුක්ඛ නම් ඒක අනත්තයි කියල. යමක් කිව්වම ලෞකික සියලු දේම අයිතියි. මේ අනුව අනිච්ච වන සියලු දේ තුලින් දුක පහළ වෙන බව සඳහන් වෙනවා.

අනිච්ච කියන පාළි වචනය, අනිත්‍ය කියල සංස්කෘතයට පරිවර්තනය කිරීම නිසා ධර්මය තුල පරස්පරයක් ගොඩ නැගෙනවා. ඒ කොහොමද? අනිත්‍ය වන සියලු දේ තුලින් දුක පහළ වෙන්නෙ නෑ. එහෙම පහළ නොවන බව මේ උදාහරණවලින් වටහා ගන්න පුළුවන්.

සසර ගමන දුක් සහිතයි. දුක් සහිත සසර ගමන අනිත්‍ය වීමෙන් හෙවත් වෙනස් වීමෙන් පරම සුඛය වූ නිවන අවබෝධ වෙනවා. **සසර ගමන නිත්‍ය වෙලා තිබුණ නම්, ලෝකයේ කිසි කෙනෙකුට නිවන් අවබෝධ කරන්න බෑ. මොකද නිත්‍ය දෙයක් කවදාවත් වෙනස් නොවන නිසා. දුක අනිත්‍ය වෙන කොටත් දුකද කියල අන්‍යාගමික කෙනෙක් හෝ අපෙන් ප්‍රශ්න කළොත් අපි දෙන උත්තරය මොකක්ද?**

කෙනෙකුට රෝගයක් හැදුන කියල හිතමු. රෝගය අනිත්‍ය වීමෙන් හෙවත් නැති වීමෙන් නිරෝගිකම ලැබෙනවා. එතකොට රෝගය අනිත්‍ය වෙලා නිරෝගි වීම දුකක්ද? රෝගය නිත්‍ය ධර්මයක් නම් බෙහෙත් පාවිච්චි කරල හෝ ලෙඩ සුවකර ගන්න කිසිවෙකුටත් බෑ.

තවත් උදාහරණයක් ගත්තොත්, පෘථජ්ජන පුද්ගලයෙක් ධර්මාවබෝධයෙන් සෝවාන් වුනා කියල හිතමු. පෘථජ්ජන භාවය අනිත්‍ය වෙලා, එහෙම නැත්නම් නැති වෙලා ආර්ය උත්තමයෙක් පහළ වුණා. මේ අනුව පෘථජ්ජන භාවය අනිත්‍ය වීම නිසාම මග ඵල ලාභියෙක් බිහි වෙනවා. දැන් ඒක දුකක්ද? සියලු කෙලෙස් අනිත්‍ය වෙලා, එහෙම නැත්නම් නැති වෙලා රහතන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙනවා. කෙලෙස් අනිත්‍ය වීමෙන් නිකෙලෙස් උත්තමයෙක් බිහි වීම දුකක්ද කියල කල්පනා කරල බලන්න.

මේ උදාහරණ අනුව අනිත්‍ය වන බොහෝ දේ තුලින් දුක නෙවෙයි, සැප පහළ වන බව පේනවා. සූත්‍ර පිටකයේ පටිසම්භිදා මග්ග පාළියේ ඤාණ කතා විග්‍රහයේ වගේම, සංයුක්ත නිකායේ පච්චය සූත්‍රයේ ''ජරා මරණං භික්ඛවේ අනිච්චං'' කියල දේශනාවක් තියෙනවා. මේකෙ සිංහල තේරුම විදිහට දක්වල තියෙන්නෙ, මහණෙනි ජරා මරණ අනිත්‍යයි කියල. මේ ගැන හොඳින් විමසල බලන්න. ජරා මරණ කියන්නෙ අනිත්‍ය ධර්මයක් නෙවෙයි, නිත්‍ය ධර්මයක්. මොකද ජරා මරණවලට පත් නොවන දෙයක් සංඛාර ධර්මයන් අතර නැති නිසා.

ජරා මරණ ස්වභාවය කියන්නෙ නිත්‍ය ධර්මතාවයක්. ඒක වෙනස් කරන්න බැරි නියමයක්. ජරාව සහ මරණය කියන්නෙ උපතත් එක්ක එන දෙයක්. ජාති පච්චා ජරා මරණං කියන එක ධර්මතාවයක්. ජරාවට මරණයට පත්වෙන්නෙ මොකක්ද, ඒක තමයි ධර්ම කියන්නෙ. ඒ කියන්නෙ යම් හේතුවක ඵලයක් වශයෙන් දරපු දෙයක්. හේතුඵලයක් වශයෙන් දරනව කිව්වම, දැන් ජරාවට පත් වෙලා ඉන්න මහල්ලත් ජරා මරණයේ අවසානයට යන්න කිට්ටු වෙලා ඉන්න කෙනෙක්. මරණය එනකල් ජරාවෙ ඉන්නවා. ඉතින් ජරාවෙ ඉන්න මරණාසන්න පුද්ගලයත් මැරෙන්න කැමති නෑ. කොච්චර මහළු වුනත් මොහොතක් හරි ජීවත් වෙන්න තමයි උත්සාහ කරන්නෙ. නමුත් ඉන්න තැනින් අනික් බවට පත් වෙනවා. ඒ කියන්නෙ මරණය කරා යනවා. නමුත් බලාපොරොත්තුව ජීවත් වෙන්න. හැබැයි අනිකක් බවට පත් වෙලා විනාස වීම තමයි ධර්මතාවය. ඒක තමයි ධර්මයට හිමි දේ. ඒක වළක්වන්න බැරි නියමයක්.

''ජීවිතං අනියතං මරණං නියතං'' කියන බුද්ධ වචනය තුලින් මරණය නියත ධර්මයක් බව පෙන්වා තියෙනවා. නමුත් ''ජරා මරණං අනිච්චං'' කියන එකට දීල තියෙන සිංහල තේරුම තුලින්, නියත ජරා මරණ අනියත කරල තියෙනවා. ජරා මරණ අනිත්‍ය හෙවත් ස්ථිර නැත්නම්, ලෝකයේ කිසිවෙකුටත් දිරීමෙන් මරණය සිද්ධ නොවී අජරාමර වෙන්න පුළුවන්. මේ පරස්පරය මතු වෙලා තියෙන්නෙ බුද්ධ වචනයේ අඩුපාඩුවක් නිසා නෙවෙයි, පෙළ දහමට පසු කාලීනව සිදු කරපු සිංහල පරිවර්තනයේ දෝස නිසා. විශේෂයෙන් පාළිය සංස්කෘත වචනවලින් අර්ථ විග්‍රහ කරන්න ගිහින් සිද්ධ වෙච්ච අඩුපාඩුවක්.

ජීවිතං අනියතං මරණං නියතං කිව්වම මරණය කියන එක නියතයි, උපන්නොත් අනිවාර්යෙන් මැරෙනවා. දැන් සාමාන්‍ය ලෝකයා කතා කරන කොට ජරා මරණ කියන්නෙ මොනවද කියල ඇහුවොත්, වයසට ගිහින් ලෙඩ වෙලා මහළු වෙන එකයි, මැරෙන එකයි කියල කියනවා. මේ ඒ කතාව නෑ කියල කියනව නෙවෙයි. ඒ කථාව හරි. එතකොට ඒක එහෙම නම්, **ත්‍රිපිටක දහමෙ පෙන්වා තියෙන ජරා මරණ අනිච්චයි කියන එකට සිංහල පරිවර්තනය විදිහට දීල තියෙන්නෙ ඉපදීමයි ජරාවයි මරණයයි අනිත්‍යයි කියල. ඒ කතාව එහෙම කියන ගමන්, ජීවිතය අනියතයි මරණය නියතයි කියලත් කියනවා. එතකොට එක තැනකදි මරණය නියතයි කියල තවත් තැනකදි මරණය අනිත්‍යයි කියල කියනවා. දැන් මේ කතා 2 පරස්පරයි. පරස්පර 2 ක් කට පාඩම් කර ගෙන තමයි මෙච්චර කල් ඇවිත් තියෙන්නෙ.**

එහෙනම් මේ කතා දෙකෙන් එකක් අයින් කරන්න ඕන. මොකක්ද අයින් කරන එක? උපන්නොත් අනිවාර්යෙන් මැරෙන බව ඕනම කෙනෙක් දන්නවා. ඒක ස්ථිරයි. එහෙනම් මරණය අනිත්‍යයි කියන කාරණය අයින් කරන්න වෙනවා. මේ අනිච්ච කියන පාලි වචනයට අනිත්‍යයි කියල සිංහලෙන් අර්ථ දීල තියෙනවා. නමුත් අනිච්ච කියන එකේ නියම තේරුම විදිහට ''කැමති සේ නෑ'' කියල ගත්තම පරස්පරයක් නෑ. එතකොට ඉපදීම කැමති සේ තියේ නම් එක සතෙක්වත් සතර අපාගත වෙන්න විදිහක් නෑ. මොකද කිසිම සතෙක් සතර අපාගත වෙන්න කැමති නෑ. ඒ වගේම මැරෙන්න කැමතිත් නෑ. නමුත් අකමැති වුනයි කියල නොවී තියෙන්නෙත් නෑ. අනික අනිච්ච කියන පාළි වචනය, අනිත්‍ය හෙවත් ස්ථිර නෑ කියන අර්ථයෙන් විවරණය කරපු දේශනාවක් ත්‍රිපිටකයෙන් සොයා ගන්න නෑ.

සූත්‍ර පිටකයේ ගිරිමානන්ද සූත්‍රයේ දස සංඥාවල ''සබ්බ සංඛාරේසු අනිච්ච සඤ්ඤා'' කියන කාරණය තෝරල තියෙන්නෙ මෙහෙමයි. ''ඉධානන්ද භික්ඛු සබ්බ සංඛාරේහි අට්ටීයති හරායති ජිගුච්ඡති අයං වුච්චතානන්ද සබ්බ සංඛාරේසු අනිච්ච සඤ්ඤා'' සියලු සංඛාරවල අනිච්ච සංඥාව කියන්නෙ මොකක්ද? යම් පෙලීමක්, ලැජ්ජා සහගත ස්වභාවයක්, පිළිකුල් ස්වභාවයක් වේද, ඒ තමයි සියලු සංස්කාරවල අනිච්ච සංඥාව. පෙළීම, ලැජ්ජාව, පිළිකුල කියන අර්ථයෙන් අනිච්ච සංඥාව තෝරල තියෙනව මිසක්, අනිත්‍ය හෙවත් ස්ථිර නැති අර්ථයෙන් බුද්ධ වචනය තුල අනිච්ච තෝරල නෑ.

''නිච්චං වා අනිච්චංවා'' කියන බුදු වදන පැරණි හෙළ වචනවලින් තෝරල තියෙන්නෙ, නිසිද (නිච්චංවා) අනිසිද (අනිච්චවේ) කියල. ධම්ම පද විවරණ වගේ පොත්වල අදත් මේ වචන දකින්න පුළුවන්. නිසිද අනිසිද කියන එකෙන් අදහස් කරන්නෙ, ලෝකය ඡන්ද රාගයෙන් ඇසුරු කිරීම සුදුසුද නැත්ද කියන අදහස. මේ අර්ථය අනුව බැලුවත් ස්ථිර නැති (අනිත්‍ය) අදහසක් කියවෙන්නෙ නෑ.

අනිච්ච කියන වචනය පද බෙදල දක්වුවම, අන් + ඉච්ච - අනිච්ච කියල කියවෙනවා. ඉච්ඡ කියන්නෙ කැමැත්ත. කැමැත්තට අනුව නෙවෙයි, අන් ආකාරයෙන් වීම හෙවත් කැමති සේ නොලැබීම අනිච්ච කියන වචනයේ තේරුම විදිහට එනවා. ඒ අනිච්චතාවයට පත්වීම මුළු ජීවිත කාලය පුරාවටම සිද්ධ වෙන දෙයක්. ළමා වයස තරුණ බවට පත් වෙනවා. තරුණ බව මැදි වයසට පත් වෙනවා. මැදි වයස මහළු බවට පත් වෙනවා. මේ වගේ මොහොතක් ගානෙ අන්‍යතාවයකට හෙවත් අනිකක් බවට පත් වෙනවා. ඒක කැමති විදිහට නෙවෙයි වෙන්නෙ. ඒක තමයි අනිච්ච කියන්නෙ. සත්වයා හැම දෙයක්ම හදා ගන්නවා, උදා කර ගන්නවා. ඊට පස්සෙ වැය වෙනවා. උදා වෙනව කියන්නෙ යම් කිසි දෙයක තරුණ වයසට යන කාලය. ඉර දවල්

12 වෙනකල් උදා වෙනවා. උදේ 6 , 7, 8, 9, 10, 11, 12 කියන්නෙ උදා වෙන කාලය. 12 න් පස්සෙ වැය වෙන කාලය. උදයව්‍ය (උදය + වැය) කිව්වෙත් ඒකයි. මේ විදිහට අනික් හැම දෙයක්මත් උදා වෙලා වැය වෙලා යනවා.

අපි බලාපොරොත්තු වන දේවල් කැමති විදිහට සිද්ධ වෙන්නෙ නෑ. ඒ අර්ථයෙන් අනිච්ච කියල කියනවා. මේ අනිච්ච, දුක්ඛ කියන වචන දෙක සම්බන්ධ වෙන්නෙ කැමති සේ නොලැබෙන කොට දුක පහළ වීම කියල. ධම්මචක්ක සූත්‍රය, සච්ච විභංග සූත්‍රය කියන දේශනාවල ''යම් පිච්චං නලභති තම්පි දුක්ඛං'' කියල, කැමති සේ නොලැබෙන කොට දුක පහළ වෙන බව පැහැදිලිව දේශනා කරල තියෙනවා. කැමති සේ නොලැබෙන කොට දුක පහළ වෙනව මිසක්, අනිත්‍ය හෙවත් ස්ථිර නැති, වෙනස් වෙන ස්වභාවය නිසා දුක පහළ වන බව බුද්ධ දේශනාවලින් සොයා ගන්න නෑ. ඒ නිසා අනිච්ච කියන එකට අනිත්‍ය කියල අර්ථ දැක්වීම ධර්මයට පටහැනියි.

''චක්ඛුං අනිච්චං රූපං අනිච්චං'' ආදී දේශනාවල, ඇස අනිත්‍යයි රූපය අනිත්‍යයි කියල තේරීම ධර්මානුකූල නෑ. බුද්ධ වචනය අනුව මේවායේ දහම් අර්ථය වෙන්නෙ, ඇස කැමති සේ නෑ, රූප කැමති සේ නෑ කියන එක. කැමති සේ නොපවතින කොට දුක පහළ වෙනවා. ''යම් පිච්ඡං නලභති තම්පි දුක්ඛං'' කියන බුදු වදනට මේ කාරණය හොඳින් ගැලපෙනවා.

අනිත්‍ය හෙවත් ස්ථිරව නොපවතින ස්වභාවයක් ලෝකයේ තියෙනවා. ඒක නැහැයි කියල කාටවත් කියන්න බෑ. ස්ථිර නැති ස්වභාවය හඳුන්වා තියෙන්නෙ ''අනියතං අද්ධුවං'' කියන වචනවලින්. මෙතන සිද්ධ වෙලා තියෙන වරද තමයි, අනිච්ච කියන වචනයට අනිත්‍ය හෙවත් ස්ථිර නැති අර්ථය ආදේශ කිරීම. එහෙම කිරීමෙන් ධර්මයේ පරස්පරයක් ගොඩ නැගෙන හැටි ඉහත බුද්ධ දේශනා තුලින් පෙන්වා තියෙනවා.

අනිච්චා භික්ඛවේ සංඛාරා අද්ධුවා භික්ඛවේ සංඛාරා (අංගුත්තර නිකාය 4 වන කාණ්ඩයේ 426 පිටුවේ එන සත්ත සුරියුග්ගමන සූත්‍රය.) මහණෙනි, සියලු සංඛාර අනිච්චය (කැමති සේ නොපවතී) මහණෙනි, සියලු සංඛාර අද්ධුවය (ධුව කියන්නෙ ස්ථිර, අද්ධුව කියන්නෙ අස්ථිර). ඒත් මේ අනිච්ච, අද්ධුව කියන වචන දෙකම ත්‍රිපිටක පරිවර්තනවල අස්ථිරය කියන අර්ථයෙන් පෙන්වා තියෙනවා. වචන දෙකෙන් එකම අර්ථයක් කියවෙනව නම්, එක තැනකට එක සමාන අර්ථ දෙකක් දැමීම තේරුමක් නෑ. ඒකෙන් පේන්නෙ අනිච්ච යන්නට අස්ථිර කියන අර්ථය නොගැලපෙන බව.

ඊළඟට වරද්දල තියෙන්නෙ ''අනත්ත'' කියන වචනයට අනාත්ම හෙවත් ආත්මයක් නෑ කියන අර්ථ දැක්වීම. මජ්ඣිම නිකායේ සබ්බාසව සූත්‍රයේ ''අනාත්ම'' යන්න, නුනුවණින් (අයෝනිසෝ මනසිකාරයෙන්) මෙනෙහි කරන අසෘතවත් පෘථජ්ජනයාගේ දෘෂ්ටියක් බව පෙන්වා තියෙනවා. ආත්ම, අනාත්ම දෙකම බුදු සමය ප්‍රතික්ෂේප කළ දෘෂ්ටි දෙකක්. ආත්මයක් ඇත කියන්නෙ එක අන්තයක් (සාස්වත දෘෂ්ටිය). ආත්මයක් නැත කියන්නෙ තවත් අන්තයක් (උච්ඡේද දෘෂ්ටිය). මේ අන්ත දෙකටම යන්නෙ නැතිව, මධ්‍යම ප්‍රතිපදාව තුල ගමන් කිරීම තමයි තථාගත ධර්මය. අනත්ත කියන වචනය අනාත්ම කියල අර්ථ දක්වන්න ගිහින්, බුදු සමයත් අන්තවාදී උච්ඡේද දෘෂ්ටියට තල්ලු කරල තියෙනවා.

''අනත්ත'' කියන වචනය පෙළ දහමෙ තෝරල තියෙන හැටි විමසල බැලුවොත්, පටිසම්භිදා මග්ග පාලියේ 168 පිටුවේ ''අනත්තා අසාරකට්ඨේනාති'' අසාර කියන අර්ථයෙන් අනත්ත කියල කියනවා. අනාත්ම කියල අනත්ත වචනය අර්ථ දැක්වීම පටිසම්භිදා මග්ග පාලියට අනුව ධර්ම විරෝධියි. ''අනත්ත'' කියන වචනයේ හෙළ වදන තමයි අනත හෙවත් අනාථ කියන එක. න + අත්ත - අනත්ත. ගහක අත්තක ස්වභාවය තමයි අල්ල ගැනීම. ගහක අත්ත ගහට බැඳිල තියෙන්නෙ. වැටෙන්නෙ නෑ. ඒ වගේ, සත්වයා තදින් භවය අල්ල ගෙන ඉන්නෙ. ඒකෙන් ගිලිහිලා යන්න කැමති නෑ. සසර ගමන දිගටම අල්ල ගෙන ඉන්නවා. න + අත්ත කියන්නෙ එහෙම අත්තක් නෑ කියන එක. ඒ කියන්නෙ ස්ථිරවම කැමති විදිහට අල්ල ගෙන ඉන්න පුළුවන් අත්තක් නෑ. ඒ නිසා අනත්තයි. අල්ල ගන්න හැදුවට අල්ල ගන්න දෙයක් නෑ. අන්තිමට අත හැරල යන්න වෙනවා. එතකොට අනාථයි. අන්න ඒ කාරණය වචනයේ නිරුක්ති අර්ථයෙන් දකින්න ඕන.

මේ විස්තර කරපු කරුණු අනුව, ත්‍රිලක්ෂණයේ නියම දහම් අර්ථය දැන් විමසල බලමු. ''අනිච්ච'' කියන්නෙ කැමති සේ නොපැවතීම. යමක් කැමති සේ නොපවතින කොට ඒකාන්තයෙන්ම දුක පහළ වෙනවා. (යම් පිච්ඡං නලභති තම්පි දුක්ඛං) යමක් කැමති සේ නැත්නම්, දුක පහළ වෙනව නම්, ඒ සියල්ල අනත්ත හෙවත් අසාර අනාථ ධර්මයෝ වෙනවා. මේ විදිහට තෝරල තියෙන්නෙ බුද්ධ දේශනාවට අනුවම ත්‍රිපිටකයෙන් කරුණු පෙන්වල මිසක්, පුද්ගලික මතවාදයන් තුලින් නොවන බවත් ප්‍රඥාවන්තයෝ තේරුම් ගන්න ඕන. ''පඤ්ඤාවන්තං සායං ධම්මෝ නායං ධම්මෝ දුප්පඤ්ඤස්ස'' මාගේ ධර්මය ප්‍රඥාවන්තයාට මිස මෝඩයාට නොවේ.

ලෝකය තුළ පවතින්නෙ කැමති සේ නොපැවතීමත්, ඒ තුළින් දුක පහළ වීමත්, ඒ නිසාම ඒ සියල්ල අසාර අනාථ ධර්ම බවත් නුවණින් දකින්න ඕන. ඒ විදිහට දහම් ඇස පහළ වෙන කොට, ඡන්ද රාගයෙන් බැඳිල තියෙන ලෝකය අත් හැරී නොඇලී මිදී ගිහින් ධර්මාවබෝධය ලැබෙනවා.

මේ දහමට පසු කාලීනව දුන් වැරදි අර්ථ කථන නිසා ධර්මාවබෝධයට මග ඇහිරී තියෙනවා. ඒ නිසාම සැබෑ බෞද්ධයන්ගෙන් තොර නාමික බෞද්ධ සමාජයක් බිහි වෙලා තියෙනවා. බුද්ධ දේශනාවට අනුවම (යථා බුද්ධේන දේසිතා) අදත් මේ දහම නිවැරදි අර්ථ කථනය තුළින් ලෝකයේ නිසරු බව වටහා ගෙන ආර්ය මාර්ගය අනුගමනය කළොත් මගඵලලාභී ආර්ය සමාජයක් බිහි වීම පුදුමයක් නෙවෙයි. නමුත් අද මගඵල ලබන්න බැරි බව තමයි සමහර දේශකයන් වහන්සේලා පවා ප්‍රකාශ කරන්නෙ. එහෙම නොලැබීමට හේතුව, වැරදි අර්ථ කථන තුළින් බුද්ධ වචනය දූෂිත වීම මිසක් වෙන හේතුවක් නෙවෙයි. අනිච්ච, දුක්ඛ, අනත්ත සංඥා තුනට දීල තියෙන අර්ථ කථනයෙන්ම බුද්ධ වචනය දූෂිත වෙලා තියෙන බවට මේ ප්‍රභල සාක්ෂියක්.

''ඉමේව සුභද්ද භික්ඛු සම්මා විහරෙය්‍යුං අසුඤ්ඤෝ ලෝකෝ අරහන්තේහි අස්ස'' කියන බුදු වදන තුළින්, නිවැරදි මාර්ගය අනුගමනය කරන තාක් කල් ලෝකය රහතුන්ගෙන් හිස් නොවන බව සඳහන් වෙනවා. කාරණය එහෙම වුනත් රහතුන්ගෙන් නෙවෙයි, ඉන් පහළ මගඵල ලාභීන්ගෙනුත් අද වෙන කොට සසුන අඩු වෙලා තියෙනවා. ඒකට හේතුව තමයි නිවැරදි මාර්ගය තුළ ශ්‍රාවකයා ගමන් නොකිරීම. නිවැරදි මාර්ගය දැන ගන්න නම්, මගඵලලාභී ආර්ය උත්තමයෙකුගෙන්ම ධර්මය අහල දැන ගන්න ඕන. එතකොට සම්මා විහරණය තුලින් ලෝකයේ මගඵල ලාභී උතුමන්ගෙන් සාසනය බැබලෙන්න ගන්නවා.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**

**නීග්‍රෝධාරාම සේනාසනය**
**පොල්පිටිය**
**මැටිකුඹුර**

# රාජ්‍ය නායකයන්ගේ පහළ වීම දහම් ඇසින්

බුදු දහම කියන්නෙ නිවන් දකින්න විතරක් පෙන්වා දෙන දහමක් නෙවෙයි. ජීවිත පැවැත්ම තුළ ලැබෙන්න තියෙන්නා වූ ලෞකික සැප සම්පත් දැහැමින් සාමයෙන් ලබාගෙන, සශ්‍රීක වූ සෞභාග්‍යමත් වූ යහ පැවැත්මක් තුළින් පාරමිතාවන් පූර්ණ කර ගනිමින් නිර්වාණය කරා යන ගමනක් පෙන්වන හේතු ඵල දහම් රටාවක්. නමුත් නිර්මල ථේරවාදී බුදු දහම පවතින ලංකාව වගේ රටක ඒ වගේ වටිනා දහමක් පවතිද්දිත් ඒ ප්‍රතිඵල විද්‍යමාන වෙන්නෙ නැත්තෙ ඇයි? නොයෙක් කායික මානසික වික්ෂිප්ත-තාවන්ගෙන්, වසංගත රෝගාබාධවලින්, විවිධ ආබාධිත තත්ත්වයන්ගෙන්, අධික ජීවන බරින් මිරිකෙන්නා වූත්, උන් හිටි තැන් අහිමි වූත්, එකිනෙකා කුලල් කා ගන්නා වූත් ජන සමාජයක් ඒ වගේ දහමක් අභිබවමින් නැගී සිටියෙ කොහොමද? පිළිතුර පැහැදිලියි. එදා ලොව්තුරා බුදුන් වහන්සේ දේශනා කළ ඒ මහා වටිනා ධර්මස්කන්ධය හුදෙක් වචන මාලාවකට විතරක් සීමා වෙලා, සැබෑ දහම් අරුත් යටපත් වෙලා ගිහින් ප්‍රායෝගිකව භාවිතයට නොගන්නා, එකිනෙකා පරයා යන දැනුම විතරක් ගොඩ ගහ ගන්නා දහම් රටාවක් මතු වෙලා තිබීම මේ ව්‍යාකූලත්වයට හේතුව බව විමර්ශනය කරල බලන කොට පෙනී යන කාරණයක්. නමුත් ඒ විදිහට යටපත්ව ගිය දහම් කඳ නැවත විද්‍යමාන වෙමින්, අතීතයේ තිබ්බ්ච සෞභාග්‍යමත් දැහැමි සමාජය නැවතත් මතු වෙන කාල පරිච්ඡේදයක් තමයි ඊළඟට ආරම්භ වීමට නියමිතව තියෙන්නෙ.

මේ ජීවත් වෙන සියලු මනුස්සයින් එක පාරටම නිවන් දකින්නෙ නෑ. එහෙම හේතු වාසනා තියෙන කොටසකුත් ඉන්නවා. නමුත් එසේ නොවන අයටත් ඒ තත්ත්වයන්ට ක්‍රමානුකූලව අවතීර්ණ වීම සඳහාත්, දහම් මග අනුගමනය කරන පින්වතුන්ටත්, පොදුවේ සියලුම රට වැසියන්ටත් සාමයෙන් සමාදානයෙන් පිරි, වචනවලට පමණක් සීමා නොවූ සෞභාග්‍යමත් දැහැමි රාජ්‍යයක් බිහිකර ගැනීමට මග පෙන්වන වටිනා දහමක් තමයි මේ පෙන්වා දෙන්න උත්සාහ කරන්නෙ. විශේෂයෙන්ම රට පාලනය කරන පක්ෂ විපක්ෂ පින්වත් නායකයන්ටත්, මැති ඇමැති මණ්ඩල, නිලධාරී මණ්ඩලවලටත් මේ සැඟව ගිය දහම් පණිවුඩය විමසිලිමත්ව තේරුම්ගෙන ක්‍රියාවට නගන්න පුළුවන් නම්, තම තමන්ටත් පොදුවේ මුළු මහත් රටටත්, සියලු රට වැසියන්ටත් මහා යහපතක් අර්ථයක් ලබාගත හැකි බව හේතු ඵල සහිතවම දැක බලා ගන්න පුළුවන්. මේ හැර ලෝක සම්මත ජාති ආගම් බේදයකින් තොරව, තම තමන්ට හැකි පමණින් මේ වටිනා දහම් මග දැනගෙන අනුගමනය කරල අත් දුටු ප්‍රතිඵල ලබා ගැනීමට සියලු පින්වතුන්ට උත්සාහ ගන්න පුළුවන්. මෙතෙක් සැඟව ගිහින් තිබ්බ්ච දහම් කාරණාවන් රැසක්, විවිධ පැතිකඩවල් ඔස්සේ පින්වත් ඔබ හමුවේ මෙතැන් සිට දිග හැරෙනු ඇති.



දැන් මෙතනදි රට පාලනය කරන පින්වත් නායකයන් කියල කිව්වම කෙනෙකුට ප්‍රශ්නයක් මතු වෙන්න පුළුවන්. ''ඒ අය පින්වත් වෙන්නෙ කොහොමද? අපේ රටේ පාලකයන් එදා මෙදා තුර බොරු පොරොන්දු දීල ජනතාව හූරගෙන කාලා, තමන්ගෙ පෞද්ගලික වාසි තකා හොර මැර වංචාවෙන් ජීවත් වුණා මිසක් පිනක් දහමක් කරගත්තෙ කවුද?''... මේ ආදී වශයෙන් කෙනෙක් තර්ක කරන්න පුළුවන්. මතු පිටින් බැලු බැල්මට ඒ කතාවෙ යම් සත්‍යතාවයක් තියෙනව වගේ පෙනුනත්, ධර්මානුකූලව විග්‍රහ කරල බලන කොට අපි හිතනවට වඩා එහා ගිය ගැඹුරු කාරණාවක් මෙතන තියෙනවා. මොකද රටක රජකමක්, නායකත්වයක් නිකම්ම ලබන්න බෑ. කවද හරි බුද්ධ සාසනයක් පවතින කාලවල බුද්ධාධී උත්තමයන්ට, එහෙම නැත්නම් පසේ බුදුවරු ලෝකයේ පහල වෙලා ඉන්න කාලයකදි හෝ එබඳු ශ්‍රමණ බ්‍රාහ්ණ උත්තමයන් උදෙසා කරපු ඇප උපස්ථානයන් මුල් කරගත් මහා පිනක ප්‍රතිඵලයක් වශයෙන් තමයි කවදා හෝ කෙනෙකුට රටක නායකයෙක් වෙන්න හේතු වාසනා ලැබෙන්නෙ. ඒ වගේ හේතු නැත්නම් නායකත්වයට වසඟතාවක් හෝ ජනතාවගෙන් අනුග්‍රහයක් හෝ ලබන්න බෑ. ප්‍රධාන නායකත්වයට විතරක් නෙවෙයි ඊට මෙහා තියෙන මැති ඇමතිකමක් හරි ලබන්න ශ්‍රමණ බ්‍රාහ්මණයන් උදෙසා සුළුවෙන් හෝ කරපු එබඳු ඇප උපස්ථාන පින්කමක හේතු තියෙන්න ඕන.

මේ කාරණය අපදාන පාලියේ එන ථේරාපදානයෙත් සඳහන් වෙනවා. භික්ෂූන් වහන්සේලා සිය ගණනක් මුල් කරගෙන උන් වහන්සේලාගෙ අතීත කතා පෙන්වා දෙමින් තමයි බුදුන් වහන්සේ ඒ කාරණය දේශනා කරල තියෙන්නෙ. **ලොව්තුරා බුදුන් වහන්සේ නමක් වැඩ ඉන්න කොට උන් වහන්සේට කරපු ඉතාම සුළු දානමාන පූජාවක් හෝ එබඳු වන්නා වූ බුදු පසේ බුදු ආදී උත්තමයන් වහන්සේලාට ගරු සත්කාර කිරීමක් හෝ කළා නම්, ඒකෙ හේතු වාසනා වශයෙන් බොහෝ කාලයක් ඒ කරගත් පින් මට්ටමින්, මෙච්චර කාලයක් සක්විති රජ වෙන්නත්, මෙච්චර කාලයක් ප්‍රාදේශීය රජ වෙන්නත්, මෙච්චර වාර ගණනක් සක්‍ර දේවේන්ද්‍ර වෙන්නත්, අවසානයේදි මෙන්න මෙබඳු බුදුවරයෙක් ලෝකයේ පහල වෙච්ච කාලයක පැවිදි වෙලා නිවන් අවබෝධ කර ගන්නත් හේතු වෙනවයි කියල බුද්ධ දේශනාවෙ පෙන්වා තියෙනවා.** පෙර වැඩ හිටපු සූවිසි බුදුවරුන්ගෙ කාලයෙදි එහෙම කරපු අයට අනාගතයෙදි සිද්ධ වෙන දේ ඒ විදියට පෙන්වා තියෙනවා. මේ කාරණය දැනගෙන හිටියත් නැතත්, යම් ජනතාවකට නායකත්වයක් දෙන්න පුළුවන් පුණ්‍ය වාසනාවක්, හේතු වාසනාවක් ඒකෙන් බිහි වෙනවා. එහෙම බිහි වෙච්ච කෙනෙක් තමයි කුමන පක්ෂයකින් හෝ කවදා හෝ ඒ ජයග්‍රහණය ලබා ගන්නෙ.

දැන් කෙනෙකුට තවත් ගැටළුවක් එන්න පුළුවන්, බෞද්ධත්වයක් නොපවතින බටහිර වගේ රටවල්වල රාජ්‍ය නායකයො බිහි වෙන්නෙත් ඔය ක්‍රමයටද කියල. දැන් ඒ අය අබෞද්ධ වුනත්, අනන්ත සංසාරයේ පෙර අත් බැව්වල කවදා හෝ බුද්ධ සාසනය උදෙසා කරපු එබඳු ගරු සත්කාර තියෙන්න ඕන. මොකද එදා බුද්ධ සාසනය උදෙසා ඒ වගේ ඇප උපස්ථාන ගරු සත්කාර කළා කියල, දහම් අවබෝධය ලැබුවෙ නැත්නම් ඊළඟ අත් බැව්වලත් බෞද්ධ වෙනවමයි ☞

කියල නියමයක් නෑ. වෙනත් ලෝක සම්මත විවිධ ජාති, ආගම් අදහන අය බවට පත් වෙලා නොයෙක් ලෞකික වන්නා වූ පින් දහම් කටයුතුවල යෙදිල නායකත්වයට පත් වෙන්න පුළුවන්. අනික බෞද්ධ රටක ඉන්න කෙනෙක් වුනත් නියම බෞද්ධයෙක් වුනා වෙන්නෙ මූලික දහම් අවබෝධය ලැබුවොත් විතරයි. ඊට මෙහා ඉන්න අය නාමික බෞද්ධයො. ඒ නිසා දැන් වෙනත් බෞද්ධ නොවන රටවල ඉන්න නායකයොත් පෙර කුමන හෝ කාලවලදී බුද්ධ සාසනය මුල් කර ගත්තු ඇප උපස්ථාන කරල තියෙන්න ඕන. දැන් ලෝක සම්මතයේ බෞද්ධ නොවුනත් බුදු දහමට අංශු මාත්‍රයක හරි ගෞරව කිරීමක් ඒ බොහොමයක් නායකයන් අතර අදටත් තියෙනවා.

මෙතනදී බෞද්ධත්වයක් කියල දෙයක් ඒ රටවල දැන් නැති වුනත් ඒ කාලෙ තිබ්ච්ච මොනව හරි ලෞකික සමාජ ගුණ ධර්ම තුළින් ගොඩනගා ගත් යහපත් සමාජයක මොනව හරි කරපු යහපත් වන්නා වූ පින් දහම් කටයුතු සමග කරපු පැතුමක් ඒකටත් මුල් වෙලා තියෙන්න ඕන. එතකොට ඒ කාලෙ තිබ්ච්ච ලෞකික ගුණ ධර්මවලින්, ඒ ගුණ ධර්ම වඩපු සත්පුරුෂයන්ට කරපු ඇප උපස්ථාන වගේම ඒ වඩපු ගුණ ධර්මත් මුල් කරගෙන යම් කිසි ජන සමාජයකට නායකත්වය දීමේ පැතුමක් ඒ අයට දැන් නායකත්වය ලබන්න හේතු වෙලා තියෙනවා. එතනදී පෙරුම් පුරන බෝසත්වරු, ඍෂිවරු වගේ අයත් මුල් වෙන්න පුළුවන්. කොහොම හරි, පින් දහම් කරල නැත්නම් කෙනෙකුට රටක නායකත්වයක් ලැබෙන්නෙ නෑ. එතකොට අපේ රටේ වගේ සාසනය මුල් කරගත්තු බෞද්ධ වැඩ දැන් නොකළට ඒ අයගෙ මට්ටමින් ඒ අයට ගැළපෙන පින් දහම් ඒ අය කරනවා. මොකද බෞද්ධත්වයට මෙහා වඩන ලෞකික ගුණ ධර්මත් තියෙනවා. එතකොට එදා ඒ අයත් එක්ක ඒ කටයුතුවලට සම්බන්ධ වෙච්ච උදවිය තමයි අදත් ඒ රටවල වැසියන් විදියට ඉපදිලා ඒ කටයුතු කරගෙන යන්නෙ.

එතකොට ඒ තත්ත්වයන් ලබා ගන්න විවිධ පුද්ගලයන් විවිධාකාරයේ පැතුමන් පතනවා. ඒක පෙර අත්බැව්වල ඉඳන් පතාගෙන එන දෙයක්. ඒ වගේ පැතුමක් මුල් කරගෙන කරන ඉහත ආකාරයේ උතුම් ක්‍රියාවකින් ඒ පැතුම මල්ඵල ගැන්වෙන්න හේතු යෙදෙනවා. පෙර හිටපු රජවරු, ඇමතිවරු ආදීන්, මට ඕන නෑ මගේ ඥාතීන්ට යාළුවන්ට විතරක් සේවය කරන්න, මට ඕන රටට ආගමට සේවයක් කරන්න කියන මේ අදහසේ හිටියා. ඒ අය තමන්ගෙ පවුලටවත්, ඥාතීන්ටවත් බැඳිල හිටියෙ නෑ. හැබැයි අවංක සේවයක් කරන බලාපොරොත්තුවක් තිබුණා. එතකොට ඒ වගේ කෙනෙක් මියගිහින් ගන්ධබ්බයෙක් වුණා නම්, ඒ පැතුමට හේතු කාරක වන විදිහට අවංක සේවයක් කරන්න පුළුවන් පරිසරයක් හැදෙන කල්ම ඒ ගන්ධබ්බ හෙවත් සංජාතික අවස්ථාවෙම ඉන්නවා. ඒක කර්ම ශක්තියෙන් සහ බාහිර පරිසරයෙන් තමයි තීරණය වෙන්නෙ. ඒ පුද්ගලයගෙ ප්‍රාර්ථනාවට අනුකූල වෙන විදිහට, රටක රාජ්‍යයක පරිසරය සැකසිලා තියෙනව නම් විතරයි මවු කුසක උපත ගෙන බිහි වෙන්නෙ. මේ නිසා නොගැළපෙන වෙනත් පරිසර තත්ත්වයන් පවතිද්දී ඒ වගේ අය උපදින්නෙ නෑ. මේ හේතුවෙන් ඒ වගේ රජවරු, ඇමතිවරු හෝ ඒ වගේ ප්‍රාර්ථනාවන් මුල් කරගත් උදවියගෙ ගන්ධබ්බ අවස්ථාව, අදාළ කාලය එනකල් අවුරුදු සිය දහස් ගණනක් වුණත් දිග වෙන්න පුළුවන්. බෝසතාණන් වහන්සේ මවු කුස පිළිසිඳ ගැනීමට පස් මහ බැලුම් බැලුවයි කියන්නෙත් මේ වගේ දෙයක්.

දැන් කෙනෙකුට මෙහෙමත් ප්‍රශ්නයක් මතු වෙන්න පුළුවන්. කෙනෙක් රටක නායකත්වයට පත් වෙන්නෙ ඔය තරම් මහා පුණ්‍ය මහිමයක ප්‍රතිඵලයකින් නම්, කෲර වූත් අමානුෂික වූත් ජනතාව තළා පෙළා දමන්නා වූත් දරුණු ගණයේ රාජ්‍ය නායකයන් පහළ වෙන්නෙ කොහොමද? ඒ කාරණයත් ධර්මයෙන්ම පහදන්න පුළුවන්. යම් කිසි කෙනෙකුට යම් කිසි තැනකදී නායකත්වයට පත් වෙන්න පෙර පිනක හේතු වාසනා තිබුණත්, ඒ වගේ පිං කරපු සියල්ලෝම යථාර්ථයෙන් ධර්මයක් අවබෝධ කරගත් මාර්ගඵල ලාභීන් නෙවෙයි. පෘථග්ජන අවස්ථාවේදී සාසනය උදෙසා කරපු පිං දහම් නිසා මහා සම්පත් ලැබීම් එනකොට, දහම් අවබෝධයක් නැති නිසා සමහර විට විකෘති කටයුතුවලට ඒ සම්පත්තිය යොදවන්නත් පුළුවන්. ඒ හේතුවෙන්ම අපාගත වෙන්නත් පුළුවන්.

එක් අවස්ථාවකදී මහ බෝසතාණන් වහන්සේත් වීර්ය පාරමිතාව පුරන කාලයකදී, තේමිය කුමාරය වෙලා ඉපදිලා, පෙර අත්බැවක විසි අවුරුද්දක් රජකම් කරන්න ගිහින් සිදු වෙච්ච අකුසල්වලට ඔසුපත් නරකයක අපාගත වෙලා අවුරුදු අසූදාහක් දුක් විඳින්න සිද්ධ වුණයි කියල දැනගත්තම, එතැන් පටන් රජකමක් පැතුවෙ නෑ කියලත් ධර්මයේ සඳහන් වෙනවා. ඒ කියන්නෙ තේමිය කුමාරයා වෙලා ඉපදුනාට පස්සෙ පහළ වෙච්ච ජාති ස්මරණ ඥානය නිසා පෙර අත්බැව් පේන්න පටන් ගත්තා. එතකොට පෙර රජකම් කරන්න ගිහින් කරගත්තු විපත්තිය දැක්කම බය හිතුනා. ඉතින් මේ අත්බැවෙත් රජ කුමාරයෙක් වෙලා උපන් නිසා රජකම බාරගන්න වෙයි කියන බයට, ඒක මග හරින්න අවුරුදු 18 ක් යනකල් කණෙක්, කොරෙක්, බීරෙක් වගේ ඉඳල අන්තිමට තවුස් දම් පුරන්න වනගත වුනා. එහෙනම් බෝසතාණන් වහන්සේලා වුණත් ඒ කරපු පිං වාසනාවලට රජකම් ලැබුවත්, ඒ අවස්ථාවේදී මගඵල නොලබපු නිසා ඒ මහා සම්පත්තියට තිබ්ච්ච මොනව හෝ බැඳීමක් හේතු කොට ගෙන අකුසල් කළාම විපාක විඳින්නත් සිද්ධ වෙනවා. හැබැයි ඒ මොන අකුසල් කළත්, අර පිං ඵලය ඉවර වෙනකල්ම ඒකත් ලැබෙනවා.

මේ නිසා පෘථග්ජන ගති ඇති පුද්ගලයො යම් යම් කාලවලදී ඒ විදියට කරපු සාසනික පුණ්‍ය කර්ම නිසා, ඒ හේතුවෙන් සම්පත්තියක් ලැබුණම ඒ ලැබිච්ච සම්පත්තියෙන් විනාසයක් අත්කර ගන්නත් පුළුවන්. ඒ අයට කියනවා ''ජෝති තම පරායනෝ'' කියල. ඒ කියන්නෙ යම් කිසි පිනක් කර ගැනීමෙන් ජෝතියට හෙවත් ආලෝකයට පත් වෙලා, ඒ ආලෝකය ලැබුණට පස්සෙ දස අකුසල් කිරීමෙන් තම හෙවත් පාප අන්ධකාරයට පත්වෙන්නා වූ වැඩ පිළිවෙළක් දියත් කරනවා. මේ නිසා පිං ඵලයෙන් ලැබිච්ච සම්පත්තිය අරගෙන මහා විනාසයක් කරා යන වැඩ පිළිවෙළක් හදා ගන්නවා. ආලෝකයෙන් හෙවත් පිං ඵලයෙන් ලැබිච්ච සම්පත්තිය අරගෙන දැන් අන්ධකාරයට පත්වෙන දෙයක් කරගත්තම, ඒ පුද්ගලයා තමන්ටත් විනාසයක් කරගෙන ලෝකයාටත් මහා විනාසයක් කරල, ලේසියෙන් ගෙවා ගන්න බැරි මහා අන්ත දුකකට වැටෙන්නා වූ අත්බැව්වලට පත් වෙන්නත් හේතු ලබනවා.

තවත් කොටසක් ඉන්නවා ''තමෝ ජෝති පරායනෝ'' කියල. ඒ අය පෙර ඒ වගේ පිනක් කරල තිබිල නෑ. ඒ නිසා ආපු අඳුරෙන් දැන් බොහොම දුක සේ ජීවත් වෙනවා. හැබැයි, කොහොම හරි මම ලැබිච්ච හැටියට ජීවත් වෙලා ඒ මට්ටමින් හෝ යහපතක් කරගෙන හොඳ විදියට ජීවත් වෙනව කියල, එහෙම ජීවත්වෙන ගමන් ඒ අය යහපත් දේවල් කරනවා. ඒ නිසා ඒ අයගෙ මතු අනාගතය ආලෝකමත් වෙනවා. ඒ වගේම තවත් කොටසක් ඉන්නවා ''තමෝ තම පරායනෝ'' කියල. පෙරත් අඳුරු වැඩ කරල දුක්ඛිත තත්ත්වයට පත් වුනාට පස්සෙ, තමන් කරපු පාප කර්මවල විපාකය ලෝකයට බාර දීල, තව තවත් අයුතු අසාධාරණ වැඩ කරමින් විනාසයට පත් වෙනවා. ඒ කියන්නෙ තමන් කොහොම හරි ජීවත් වෙන්න ඕන කියල සත්ව ඝාතන, හොරකම්, මංකොල්ල කෑම් වගේ වැඩවලට බහිනවා. පෙර දූෂිත ඵලය භුක්ති විඳින ගමන් ඒ කෙරෙහි තවත්

දූෂිත වෙලා ගැටිල අන්ධකාරයෙන් අන්ධකාරයට යන්න කටයුතු කරනවා. තමෝ කිව්වෙ අඳුර. තමෝ තම කිව්වෙ අඳුරෙන් අඳුරට කියන එක. පාප විපාකයටයි අඳුර කිව්වෙ. පුණ්‍ය විපාකයට තමයි ජෝති හෙවත් ආලෝකය කිව්වෙ.

එතකොට පෙර අත්බැව්වල කරපු පාපයන් නිසා ඒකෙ ප්‍රවෘත්ති විපාක වශයෙන් පාප විපාකයක් එනව නම්, එතැනදි ඒ පුද්ගලය අඳුරට පත්වෙලා ඉන්නෙ. අඳුරු පුද්ගලයාට කිසිම වගතුවක් නෑ. කරන කියන දේවල් සාර්ථක වෙන්නෙ නෑ. නොයෙක් දුක් කරදර එනවා. අසනීප ලෙඩ රෝගත් බහුල වෙනවා. එහෙම ආපු පුද්ගලයා ඒ අවස්ථාවෙදිත්, ඉදිරි අනාගතයටත් එහෙමම වෙන්න පවුම කර ගන්නවා. ඒකෙන් වෙන්නෙ තව තවත් විනාසයටම යෑමක්. එතකොට පෙර භවවල කරගත් පාපයෙන් මේ භවයේ දුක්ඛිත තත්ත්වයට පත් වුණා, මේ භවයේ කරගත් පාපයෙන් තවත් අඳුරට ගිහින් මතු අපාගත වෙනවා. අද යාචක වෙලා, අහේතුකයො වෙලා ඉන්න අය තමයි මනුස්සයො අතරින් වැඩි හරියක් අඳුරෙ ඉන්නව කියන්නෙ.

ඊළඟට වටිනාම පිරිසක් ඉන්නවා, ''ජෝති ජෝති පරායනෝ'' කියල. ඒ කියන්නෙ ආලෝකයෙන් තවත් ආලෝකය කරා යන උදවිය. පෙර භවවලදි යහපතක් සිද්ධ කර ගැනීමෙන්, මේ අත්භවයෙ සම්පත්තියක් ලැබුණට පස්සෙ ඒකෙනුත් යහපතක් කරල, ලෝකයාටත් යහපතක් කරල, තමන් උපරිම යහපතක් කර ගන්නවා. ඒ වගේ අය ලෝකයේ බොහොම දුර්ලභයි.

දැන් මේ කියපු කොටස් හතරෙන් තමයි ලෝකය හැදෙන්නෙ. මෙතැනදි මේ අත්භවයෙදිම රාජ්‍ය නායකත්වයට පත් වෙන්නෙ, ආලෝකයෙන් අඳුරට යන අයයි, ආලෝකයෙන් ආලෝකයට යන අයයි කියන මේ කොටස් දෙක. අඳුරෙන් ආලෝකයට යන අය ගත්තොත්, එතැනදි අඳුර කියන කොට මේ අත්භවයේ විපාකය එන්නෙ. ඊට පස්සෙ යන ආලෝකයේ ප්‍රතිඵලය එන්නෙ ඒ අත්භවයෙන් පසුව. අඳුරෙන් අඳුරට යන අය පහළටමයි යන්නෙ. යම් රජෙක් රජකම් කරන කොට ජෝති කියන මුලින් හඳාගත්තා වූ යහපත ගෙන දෙන පිං විපාකය ඒ පුද්ගලයට හිමි වෙනවා. ඒ විපාකය ලැබුණට පස්සෙ, ඒ ලබා ගත් ගති ලක්ෂණ නරක පැත්තට වෙනස් කළාම මහා විනාසයක් සිද්ධ කර ගන්නත් පුළුවන්. එහෙම වුණොත් ලැබිච්ච ප්‍රතිඵලයෙන් ලේසියෙන් ගොඩ එන්න බැරි මහා අන්ධකාරයකට අගාධයකට වැටෙන කටයුත්තක් කර ගන්නවා. සසර තියෙන භයානකත්වයත් ඒකයි. නමුත් ඒක මනුස්සයින්ට දැනගන්න හරි අමාරුයි. ඒ තරම්ම අවිද්‍යාවෙන් වැහිල ඉන්නෙ.

කලකට ඉහත සිදු වෙච්ච උදාහරණයක් ගත්තොත්, එක්තරා මනුස්සයෙක් හිටියා, ඔහු ජීවත් වුණේ හරකෙක් දෙන්නෙක් හදල, තණකොළ මිටියක් කපල ගෙනත් දෙන ආදායමෙන්. තවත් කාට හරි ඕන නම් තණකොළ කපල ගෙනත් දීල කීයක් හරි ගන්නවා. මේ මනුස්සයට හිටි හැටියෙම ඒ කාලයේ තිබිච්ච ලොතරැයි පතකින් යම් කිසි මුදලක් හිමි වුණා. ඒ කාලයේ මේ මුදල, අද රුපියල් ලක්ෂ පනහකටත් වඩා වටිනවා. ලොතරැයි පත ඇදුණ ගමන්ම ඔහු මොකද කළේ, තණකොළ කපන දෑකැත්ත වහලටත් උඩින් කැලේට විසි කළා. ඇති වෙච්ච උද්දාමයෙන් ලක්ෂපතියෙක් වෙලා, අදින් පස්සෙ මම තණකොළ කපල ඉවරයි කිව්වා. ඒ මුදල අරගත්තු මේ මනුස්සය තමන්ගෙ හිතු මනාපෙට සුන්දර ලෝකයක ජීවත් වුණා. හැබැයි මේ මනුස්සයගෙ හැටි දන්න, ඔහුගේ බිරිඳ අර දෑකැත්ත අහුල ගෙන, නැවතත් කවද හරි ඒක ඕන වෙන දවසක් එනව කියල දුමේ හංගල තිව්වා. ඒ කිව්ව වගේම මේ පුද්ගලය පිරිහිලා ගිහින් අන්තයටම වැටිල දැන් කල්පනා කරනවා මොකද කරන්නෙ කියල. අර උඹ විසි කරපු දෑකැත්ත දුමේ හංගල තියෙනවා, අරගෙන ගිහින් පරණ රස්සාවට බැහැපන් කියල බිරිඳ කිව්වම, ඒ පුද්ගලය දෑකැත්තත් අරගෙන පැරණි රස්සාවටම බැස්සා.

දැන් මේ වගේ පෙර පිනක සම්පත්තියක් හේතු කොට ගෙන ලැබීමක් ආවම, පුද්ගලයගෙ මානසිකත්වය වෙනස් වෙලා ඒ ලැබීමෙන් අයුතු ප්‍රයෝජන ගන්න පුළුවන්. එතකොට ඒ පුද්ගලයට පෙර කරපු යහපත් දේවල් අමතක වෙලා, තිබිච්ච හොඳත් නැති වෙලා යනවා. ඒ සම්පත්තිය ගෙවිල ගියාම, ජෝති තම පරායනෝ කියන තැනට පත් වෙලා ලේසියෙන් ගොඩ එන්න බැරි මහා අන්ධකාරයකට පත් වෙනවා. මේ විදියට තමයි රටක නායකයොත් පාපයෙන් බර වුණාම ඇතිවන ස්වභාවය.

ඉතින් අසාධාරණයකින් ලෝක-යේ රජකමක් ලැබෙන්නෙම නෑ. දැන් බලහත්කාරයෙන් ගත්තත්, රජකමක් ලැබෙන්න පෙර මොනව හරි ඒ වගේ හේතුවක් තියෙන්නම ඕන. සමහරවිට ඒ වගේ හේතු වාසනා තිබුණත්, පෙර රජකම් ලබන්න හිටපු උදවියට කරපු බාධක හිරිහැර නිසා, දැන් ඒ අයටත් ඒ වගේ බාධක මැද බලහත්කාරයෙන් රජකම් ලබාගන්න විදියට මග පෑදිලා තියෙන්න පුළුවන්. මොකද හේතුවට අනුකූලයි ඵලය. එහෙම හේතු වාසනාවකින්ම රජකමක් / නායකත්වයක් ලැබෙන නිසාම තමයි බලයේ ඉඳෙද්දිත් ඒ අය ඊළඟ ඡන්දවලින් පරාද වෙන්නෙ, බලය ගිලිහිලා යන්නෙ. මොකද ඒ රජකමට හිමි පුණ්‍ය ශක්තිය ගෙවිල ඉවර වුනාම මොන තරම් බලය යෙදුවත්, මැරකම් කළත් ඊළඟ අවස්ථාවෙදි පරදිනවා. මේ කාරණය අදත් ලෝකයේ සුලභව දකින්න තියෙන දෙයක්.

ඒ නිසා යම් කිසි පෙර හේතුවකින්ම තමයි නායකත්වයක් ලැබෙන්නෙ. හැබැයි ලැබිච්ච හේතුවෙන් ජෝති ජෝති පරායනෝ කියන තැනට කටයුතු කරගත්තොත්, එතැනත් දිනල මතුත් දිනනවා. නමුත් මේ කාරණය ලෝකයේ නායකයන්ට බොහොම දුර්ලභව සිද්ධ වෙන දෙයක්. විශේෂයෙන් මහා හේතු වාසනා තියෙන බෝසතාණන් වහන්සේ වගේ උත්තම කෙනෙක් ඒ වගේ තැනකට පත්වුණොත් තමයි මේ කියන තැනට කටයුතු කරගන්නෙ. අනෙක් බොහොමයක් උදවිය ඒ වගේ තැනට පත්වෙන්න කටයුතු කරනවා අඩුයි.

නමුත් මේ සැඟව ගිය වටිනා දහම් කරුණු මතු කරල දුන්නම, ඒක තේරුම් අරගෙන, දැන් ඉන්න පක්ෂ විපක්ෂ නායක පිංවතුන්ටත් ඒ වගේ තැනකට කටයුතු කරගන්න හොඳටම අවස්ථාව තියෙනවා. ලබාගත් පිනෙන් සම්පත්තියක් ලැබුණම ඒකෙන් ලෝකයටත් යහපතක් කරල, තමනුත් යහපතක් කරගත්ත වෙන්නෙ එතකොට. නමුත් මේ කාරණය තේරුම් ගන්න බැරි නායකයන් මොකද කරන්නෙ, තමන්ට මහා සම්පත්තියක් ලැබුණම ඒකෙන් මත් වෙලා තමන්ටත්, අනුන්ටත් දෙපිරිසටම මහා විනාසයක් කරගෙන, විනාසයෙන් විනාසයට යන විදියට කටයුතු කරල සැනසිල්ලක් නොලබාම නිකම්ම මැරිල යනවා. නායකයන් කොහේ හිටියත් බහුලවම සිද්ධ වෙන්නෙ මේ කියන විනාසය කරා යෑම. ඉතින් අපි අද කතා කරන නායකයන් විසිරිලා හිටියත්, පෙර අත්බැව්වලදි කවද හරි ඒ වගේ සම්පත්තියකට හිමිකම් කියල, ඒ වාසනාව ලබා ගෙනමයි එන්නෙ. යම් කෙනෙක් ඒ වාසනාවට හිමිකම් කියල එතැනට පත් වෙන කොට, ඒ ලැබුන පුණ්‍ය ශක්තිය ඇදිල ඇවිත් මතුවටත් යහපතටම හේතු වෙන්නෙ, අදත් ඒ ගුණ දහම් වැඩුවොත් තමයි. ඒකට තමයි සමනන්තර අනන්තර ප්‍රත්‍යය කියන්නෙ. ඒ නිසා දැන් ඉන්න පිංවත් නායකයොත්, ඉදිරියට නායකයන් වෙන්න බලාපොරොත්තුව ඉන්න අයත්, මේ හේතු ඵල දහම් රටාව ධර්මානුකූලව තේරුම් අරගෙන තමන්ටත් ලෝකයාටත් යහපත උදා කර ගනිත්වා !

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ක්ෂණය සහ අක්ෂණය

ක්ෂණයක් කියල යම් කිසි කාලයක් ගැන සාමාන්‍ය ව්‍යවහාර කතාවෙදිත් කියවෙනවා. ක්ෂණ සම්පත්තියක් ගැනත් දහමෙ සඳහන් වෙනවා. ක්ෂණය මොකක්ද? ක්ෂණ සම්පත්තිය මොකක්ද? මේ ලෝක සම්මත ක්ෂණය, යම් තරමකට තේරුම් ගන්න උදාහරණයකින් කියනව නම්, තත්පර එකකින් කෝටි ලක්ෂයකින් එක පංගුවක් පමණ කියල කියන්න පුළුවන්. බුදුන් වහන්සේ මෙහෙම දේශනා කරනවා. "මේ අසෘතවත් පුහුදුන් ලෝක සත්වයා, ක්ෂණය ක්ෂණය කියනවා. ක්ෂණය දන්නෙත් නෑ. අක්ෂණය දන්නෙත් නෑ. බඹසර නොරැකිය හැකි අක්ෂණ (8) අටක් තියෙනවා..." ඒවාට අෂ්ට දුෂ්ඨක්ෂණ කියලත් කියනවා. ඒ කියන්නෙ ලෝක සත්වයා පිහිටන දුෂ්ට වූ හෙවත් දුක් දෙන ස්ථාන 8 ක්. ඒ අක්ෂණ අට තමයි, ලොව්තුරා බුදු කෙනෙක් ලෝකයට පහළ වෙලා උතුම් දහම දේශනා කළත්,

1. නිරයේ උපන් පුද්ගලයා හට
2. තිරිසන් යෝනියේ උපන්නා හට
3. ප්‍රේත විෂයෙහි උපන්නා හට
4. අති දීර්ඝ කාලයක් ආයුෂ ඇති බ්‍රහ්ම ලෝකවල උපන්නා හට
5. මහණ, මෙහෙණ, උවසු, උවැසියන් නැති පෙදෙසක උපන්නා හට
6. විපරීත දෘෂ්ඨි ඇති, මිසදිටුව උපන් අයට
7. මෝඩ කෙළ තොළුව (අහේතුක / මන්ද බුද්ධික) උපන් අයට උතුම් බඹසර රැකිය නොහැක.
8. බුදු කෙනෙකු ලොව පහළ නොවූ කාලයත් අක්ෂණයක්. (අං.නි. 5 <u>අක්ඛණ සූත්‍රය</u> 128 පිටුව)

අක්ෂණය එහෙම නම්, ක්ෂණය කියන්නෙ නිවන් මග වඩා ගන්න සුදුසු මේ කාල අටට අහු නොවෙන කාලවලට. වත්මන් බොදු පිරිස සම්බන්ධයෙන් මේ කරුණු අට (8) යොදල බැලුවොත්, වැඩි පිරිසකට නියම ක්ෂණය නම් ලැබිල තියෙනවා. උතුම් බඹසර රැකීම ගැන තවත් වටිනා දේශනාවක් තියෙනවා. (අං.නි. (5) <u>අනුරුද්ධ සූත්‍රය</u> 136 පිටුව)

1 මේ දහම අල්පේච්ඡයාටය. මහේච්ඡයාට නොවේ.

2 මේ දහම සන්තුෂ්ටයාටය. අසන්තුෂ්ටයාට නොවේ.

3 මේ දහම ප්‍රවිවික්තයාටය. සංඝනිකාරාමයාට නොවේ.

4 මේ දහම ඇරඹූ වීර්ය ඇත්තාටය. කුසීතයාට නොවේ.

5 මේ දහම එළඹ සිටි සිහි ඇත්තාටය. මුළා සිහි ඇත්තාට නොවේ.

6 මේ දහම සමාහිතයාටය. අසමාහිතයාට නොවේ.

7 මේ දහම ප්‍රඥාවන්තයාටය. දුෂ්ප්‍රාඥයාට නොවේ.

8 මේ දහම නිෂ්ප්‍රපංච සංඛ්‍යාත නිවනෙහි ඇලුනහුටය. ප්‍රපංච සංඛ්‍යාත තණ්හාවෙහි ඇලුනහුට නොවේ.

සාමාන්‍ය ලෝක සම්මතයේ අල්පේච්ඡ කියන්නෙ ඇඳුම් පැළඳුම්, කෑම බීම, ගේ දොර වගේ දේවල් වැඩිපුර රැස්කර ගන්නෙ නැතිව, තමන්ට එදිනෙදා උවමනා



තරමට පරිහරණය කරනවා කියන අරුතින්. නමුත් බුදුන් වහන්සේ අල්පේච්ඡ කියන වචනයෙන් අදහස් කළ දෙයින්, ඒ ටික අංශු මාත්‍රයක් විතරයි. ගිහි වේවා, පැවිදි වේවා බඹසර රකින අය තමයි අල්පේච්ඡ වෙන්නෙ. පුහුදුන් ලෝකයා කාම වස්තු රැස් කරන්න තමයි කැමති, වැඩි වැඩියෙන් ලැබෙන තරමටයි කැමති. ඒ නිසා මහ+ඉච්ඡයි - මහේච්ඡයි. එහෙනම් ක්ෂණයක ඉපදුනත් මේ දහමින් ඵල ලබන්න නිවන් මගට පිළිපන් කෙනෙක් වෙන්න ඕන. එතකොට සෝතාපන්න මාර්ග අනුගාමිකයා කියන නිවන් මගට පිළිපන් අටවෙනි ආර්ය ශ්‍රාවකයාටත් මේ දහමින් ඵල ලබන්න පුළුවන්. ඒ තැනැත්තා උතුම් විවේකය (නිවන) සඳහා කළණ මිතුරන් ඇසුර, දහම් සාකච්ඡා, කමටහන් වැඩීම ආදියට නිරතුරුවම හිත යොමා ගෙන තමයි ගිහි ගෙදර හෝ පැවිදි බිමේ අනෙකුත් කටයුතු කරන්නෙ.

ඒ කටයුත්තට උත්සාහයක් වීර්යක් තියෙන්න ඕන. නිතර එළඹ සිටි සිහියෙන් ඉන්න ඕන. කරන කියන කටයුතු, යන එන ගමන බිමන කෙලෙස් වැඩෙන එකක්ද, කෙලෙස් නිවෙන එකක්ද කියල තෝර බේර ගන්න හොඳ නුවණක් තියෙන්න ඕන. පස්කම් සැපවල ඇලුනොත් මේ ටික කරගන්න අපහසුයි. ඒ නිසා පස්කම් සැප වින්දට (ගිහි පිරිස) ඒවායේ නොඇලුන බව තියෙන්න ඕන. පස්කම් සැප විඳීමත්, ඒවායේ නොඇලීම කියන එකත් සමහර පිරිසකට තෝර ගන්න අමාරුයි. මේ කාරණාව පැහැදිළි කරන වටිනා පැදි පෙලක් හෙළ බොදු පියුම 36 වෙනි කලාපයේ අග පිටුවෙ තියෙනවා. තමන්ගෙ උත්සාහයෙන්, වීර්යෙන් හෝ මාපිය උරුමයෙන් හෝ සම්පත් ලැබෙන්නෙ, පෙර සසරෙදි දන් දීම, කුසල් දහම්වල හැසිරීම නිසා. පෙර කිව්වම මේ අත් බැවේදිම පෙර කරපු දේවල් වෙන්නත් පුළුවන්. ඒ වගේ දන් දීම් ආදිය කරල නැත්නම් උත්සාහයේ ප්‍රතිඵල නොලැබෙන්න පුළුවන්. ඒ නිසා ලැබෙන සම්පත් හේතු ඵලයක් බව නුවණින් වටහාගෙන ඒවායින් උද්දාම වෙලා සසර දුකට නොවැටී, නිවන් මග වඩා ගන්න ඒවා උපනිශ්‍ර සම්පත් කරගන්න ඕන. ඒ නිසා පස්කම් සැපෙහි නොඇලුන බව තියෙන්න ඕන.

දැන් මේ විදියට කටයුතු කරන කොට, තමන්ට උත්සාහය වීර්ය තියෙන බව, නුවණ තියෙන බව, තමන් දහම ඇසුරෙ කමටහන් ඇසුරෙ නිතර කටයුතු කරන බව අනෙක් පිරිස දැනගන්නව නම් හොඳයි කියල යම් මානයක්, බලාපොරොත්තුවක් එනව නම්, ඒකත් මහේච්ඡයි. තමන්ගෙ මේ ගුණ අනෙක් අය දැන ගන්නව නම් හොඳයි කියන බලාපොරොත්තුවක් නැති බව තමයි අල්පේච්ඡ කියන්නෙ. එහෙනම් අල්පේච්ඡ කියන ගුණය තියෙන්නෙ බඹසර හැසිරෙන අයට.

''මේ දහම සතුටු සිත් ඇත්තාටය. අසතුටු සිත් ඇත්තාට නොවේ.'' පුහුදුන් ලෝකයාත් සතුටු වෙනවා. පස් කම් සැප වැඩියෙන් ලැබෙන තරමට සතුටුයි. ඒ අය යමක් නොලැබුණොත් ගහ මරාගෙන හරි ඒ කැමති දේ අයිති කරගන්න පොර බදනවා. එබඳු අරමුණක හිත එල්බ ගෙන තියෙත්දි තව දෙයක් වටහා ගන්න බෑ. හිත ලැගගෙන ඉන්නෙ කැමති දෙයින් ලබන ආස්වාදය, කාමච්ඡන්දය කියන ☞

නීවරණය තුළ. ඒ වෙලාවෙදි දහමින් කරුණු කාරණා තෝරල දෙන්න හැදුවත්, ඒකත් තමන්ගෙ වාසියට පෙරල ගන්නයි හදන්නෙ. මත් පැන් මද පමණට ගත්තට කමක් නෑ කියල කියන්නෙ, ඒ වගේ වාසියට හදා ගත්තු කතාවක්. තමන්ගෙ මානසික ස්වභාවය සමහර විට දුක් මුසු අරමුණක් වෙන්න පුළුවන්. මොකක් වුණත් ඒ ස්වභාවය වෙනස් කරගෙන ලෞකික හෝ සතුටු සිතක් ඇති කරගන්න කල් ඒ අයට මේ උතුම් දහමින් ඵලයක් ගන්න බෑ.

බුදු පියාණන් වහන්සේ සතුටු සිත් කියල අදහස් කළේ චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලන් පස ලද පමණින් සතුටු වීම. උපාසක උපාසිකාවන් නම් ඇඳුම්, ආහාර, ගේ දොර, බෙහෙත් ආදිය ලද පමණින් සතුටු වීම. මේවා තමන් කැමති ආකාරයෙන් නොලැබෙන්න පුළුවන්. ඒ වෙලාවට "මම දීල තියෙන තරමටයි මට ලැබෙන්නෙ, පෙර සසරෙදි මම බුදු බණ අහල දන් දීල, මවුපිය වැඩිහිටි උපස්ථාන කරල නැතුව වෙන්න ඇති..." කියල හේතු ඵල දහම කෙරේ යොමු වෙලා, ආර්ය මාර්ගය පූර්ණ කරගන්න මේ ලැබුණ තරම ප්‍රමාණවත් කියල හිත සතුටු කර ගන්න ඕන.

''මේ දහම ප්‍රවිවික්තයාටය. සංසනිකාරාමයාට නොවේ.'' සංසනිකා කියන්නෙ කෙලෙස් වැඩෙන මමය, මගේය කියන බැඳීම්වලට. ඒ බැඳීම් හේතුවෙන් පහත් බවට පත් වීමේ සිතිවිලි, ක්‍රියා, වදන්වල හැසිරීම සංසනිකාරාමයි. ඒවාට රාග, ද්වේශ, මෝහ මූලික වෙනවා. ඒ බැඳීම්වලින් වෙලිල බැඳිල ජීවත් වෙන අයට කාමච්ඡන්දය, ව්‍යාපාදය වගේ නීවරණවලින් නිවන ආවරණ කරන ස්වභාවය නිසා මේ දහමින් ඵල ලබන්න බෑ. ලෝක සත්වයා සිවු අරිසස් නොදැකීම නිසා, පටිච්ච සමුප්පාද ක්‍රියා දාමය නොවැටහෙන නිසා විඳින අප්‍රමාණ දුක් වේදනා, සැපයි සැපයි කිය කියා දුකම සැප හැටියට විඳින හැටි මේ සාසන මගට පිළිපන් අය දකිනවා. ඒ අය තමන් අවබෝධ කරගත් මේ සත්‍ය දහම, තමන් ළඟට එන අයටත් අවබෝධ කරවන්න කටයුතු කරනවා. ප්‍රවිවික්ත සිත් ඇත්තා කියන්නෙ විවේක හිතක් තියෙන ඒ වගේ අයට.

''මේ දහම ඇරඹූ වීර්ය ඇත්තාටය. කුසීතයාට නොවේ.'' අද කුසීත කියල කියන්නෙ කම්මැලිකමට. දැන් කෙනෙක් තමන්ගෙ දරුවෙකුට කියනවා, පුතේ පන්සලට ගිහින් දානෙ භාජන ටික ගේන්න කියල. එතකොට දරුව කියනවා, අද ඉස්කෝලෙ මේ මේ වැඩවලට මෙච්චර මහන්සි වුණා, මට නම් බෑ කියල. තව ටික වෙලාවකින් ඒ දරුවගෙ යාළුවෙක් එනවා. යාළුව කියනවා, අද හවස සංගීත විශාරද.... මේ මේ අය එන සංගීත රාත්‍රියක් තියෙනවා, අඩු ගානෙ පැයක් දෙකක්වත් ඉඳල එමු කියල. ඒ වැඩේට නම් කිසි අමාරුවක් මහන්සියක් නෑ, ඒකට කැමතියි. දැන් පළමු කටයුත්තට කැමති නොවුනෙ කම්මැලිකමටද කියල හිතල බලන්න. සිත පහත් බවට පත් කරන රාග, ද්වේශ, මෝහ ගොඩනගන සංගීත රාත්‍රියට කැමතියි. කුසීත කියන්නෙ සිත පහත් බවට පත් කරන්නා වූ සිතිවිලි, ක්‍රියා, වදන් උසස් ලෙස සළකල කටයුතු කරන බව. වෙනත් විදිහකින් කියනව නම් කාම කහට බැඳිල තියෙන අය. ඒ අය රාග, ද්වේශ, මෝහ දුරු කරන දේටයි අකමැති.

සිත පහත් බවට පත්කරගෙන, අනන්ත කාලයක් විඳපු ආස්වාද අත හරින්න ලොකු උත්සාහයක් වීර්යක් ඕන. ඒ වැඩ පිළිවෙල අසාරයි කියල දැක්ක පමණින් ඇලීමෙන්, ගැටීමෙන් වෙන් වෙන්න අමාරුයි. නමුත් ගඟට බැස්සම, පිහිනුවෙ නැත්නම් ගිලෙන්න පුළුවන් කියන අනතුර වැටහෙනවා. ඒ නිසා වීර්ය ආරම්භ කරනවා. එබඳු තැනැත්තාට නොගිලෙන්න මග පෙන්වන නිසා මේ



දහම ඒ පුද්ගලයට වටිනවා. යළි සසර නොගිලෙන්න ඕන කියන අදහස, හිතේ නිතරම රැඳිල තියෙන නිසා දහම් සාකච්ඡා, බුද්ධ පූජා ඇප උපස්ථාන කිරීම්, වත් පිළිවෙත්, කමටහන් වැඩීම්, කළණ මිතුරු ඇසුර වගේ නිවනට උපකාර වන කටයුතුවලට පුළුවන් තරම් සම්බන්ධ වෙනවා. දැන් ඉතින් මම සතර අපායෙන් නිදහස්නෙ කියල අනෙකුත් කටයුතුවලට මුල් තැන දෙන්නෙ නෑ. ඒ කටයුතුත් නොපිරිහෙලා කරගන්න අතරෙ රාග, ද්වේශ, මෝහ සළා හරින්න, නිවන් මග වඩන්න විසාල උත්සාහයක් වීර්යක් ඕන. ඒ උත්සාහවන්තයට, වීර්යවන්තයට අවශ්‍ය පහසුකම් ලබා ගන්න පිළිවෙල මේ දහමින් පෙන්වා තියෙනවා.

''මේ දහම එළඹ සිටි සිහි ඇත්තාටය. මුළා සිහි ඇත්තාට නොවේ.'' අපි මුළා වෙන්නෙ මොනවටද? සැපයි, මධුරයි, මිහිරියි, වටිනව කියන මාර උගුල්වලට තමයි ලෝක සත්වයා මුළා වෙන්නෙ. බඩගිනි වෙලාවට ආහාර වටිනවා. බඩ හොඳටම පිරිල නම්, තව මොනවත් කන්න බැරි තරමට පිරිල නම්, බඩගිනි නිවිල නම් රාජ භෝජන ලැබුණත් ඵලක් නෑ. පිපාසයට බීම ජාති වටිනවා. පිපාසය නිවිල නම් මොන තරම් රස බීම තිබුණත් ඒවායින් ඵලක් නෑ. හොඳටම දාඩිය දාන රස්නෙ වෙලාවට විදුලි පංකාව හෝ වායු සමීකරණය හෝ වටිනවා. ඇඟ ගැහෙන සීතල රෝගී වෙලාවටත් ඒක වටිනවද? එහෙනම් ආස්වාදය කියන්නෙ ඌනතාවයක් කියල සිහි නුවණින් තේරුම් ගන්න ඕන. ආස්වාදය කියන එක, ආස්වාදජනක වස්තුවේ හෝ තමන් ළඟ හෝ සදහටම පවතින දෙයක් නෙවෙයි, දෘෂ්ඨි මායාවක්. මේ සත්‍යය නොදකින තුරු පුහුදුන් ලෝක සත්වයා මුළා සිහි ඇති අය වගෙයි හැසිරෙන්නෙ. ඒ අයගෙ සිහියෙ තියෙන්නෙ මේ ආස්වාද ජනක කාම වස්තු රැස් කරන්න, රැස් කරගත් දේ ආරක්ෂා කරගන්න. ලෝකය හොඳයි වටිනවයි කියල හිතන පතන තුරු ඒ අය මුළා සිහි ඇත්තන් වෙනවා.

එළඹ සිටි සිහි ඇත්තා කියන්නෙ, සම්මා සතියෙ පිහිටපු තැනැත්තාට. තමන් කරන, කියන, හිතන දේ පුන පුනා සිහි කරමින් රාග, ද්වේශ, මෝහ මූලික පාප සිතිවිලි, ක්‍රියා, වදන් බැහැර කරන්නත්, කුසල් දහම් වඩන්නත් මග කියා දෙන්නෙ මේ දහම තුළින්. ඒ නිසා එළඹ සිටි සිහි ඇත්තාට ඒ සඳහා මේ දහම වටිනවා, පිහිට වෙනවා.

''මේ දහම සමාහිතයාටය. අසමාහිතයාට නොවේ.'' මමත්වයෙන් මිදිල නිවනට යොමු කරගත් හිත සමාහිතයි. ආර්ය මෙත් වඩන කොට සතුරු - මිතුරු, මැදහත් - දුර - ළඟ, උස් - පහත් භේද කිසිවක් නැතිව, අවෛරී වූ අප්‍රමාණ වූ මෙත්තා සහගත සම හිතක් තමයි සියලු ලෝ සතුන් කෙරෙහි විහිදවන්නෙ, පතුරවන්නෙ. හොඳින් වැඩුන ඒ හිතට තියෙන්නෙ ආර්ය වූ ධ්‍යානයක්. එබඳු වූ ප්‍රථම ධ්‍යානයේ සිට ධ්‍යානයන්ට සම වැදීම දියුණු කරගෙන සිවුවැනි දැහැනට සම වැදීම, ඒ සමාපත්තියෙහි හිඳීම පුහුණු කරගත් තැනැත්තා සමාහිතයා කියල දහමෙ පෙන්වා තියෙනවා. ඒ සඳහා මග පෙන්වන දහමෙන් සමාහිතයාට මිසක් අසමාහිතයාට ඵලක් වෙන්නෙ නෑ.

''මේ දහම ප්‍රඥාවන්තයාටය. දුෂ්ප්‍රාඥයාට නොවේ.'' ප්‍රඥාවන්ත බව ලබන හැටි, හෙළ බොදු පියුම 15 වන කලාපයේ ''කුසල් අකුසල් හඳුනා ගනිමු'' කියන ලිපිය යටතේ විස්තර කළා. ☞

මහණකු හෝ බමුණකු වෙතින් කුසල් අකුසල් මොනවද, වරද නිවරද කුමක්ද, සෙවිය යුතු නොසෙවිය යුතු දේ මොනවද... ආදී වශයෙන් දත යුතු කරුණු රාශියක් නිසි ආකාරයෙන් දැනගත් තැනැත්තාට, "මේ දහම නිවන සඳහාමය. මේ නිවන මේ ජීවිතය තුළදීම ලැබෙන්නකි. වහ වහා මමද නිවන පිණිස කටයුතු කර ගන්න ඕන..." කියන අදහස මතු වෙනවා. ඒ සඳහා නිවැරදි මග පෙන්වා දුන්නෙ බුදු පියාණන් වහන්සේ.

දුෂ්ප්‍රාඥයා කාම වස්තු රැස් කරගෙන දිවා රෑ වෙහෙස වින්දත්, ඒ වෙහෙස දුකක් බව දකින්නෙ නෑ. ඒක සැපක් සම්පතක් හැටියටම දකිනවා. දානයක් දුන්නත්, හාමුදුරුවරු නම් මෙහෙමයි, ඒ වුණාට පාංශුකූලෙ දෙන්නත් හාමුදුරුවො ඕනනෙ කියල ඒ නිසා සළාක දානයත් දෙනවා. දීල අනේ මාව රැක බලාගන්න වෙහෙස වෙන්නෙ මේ මගෙ දරුවොනෙ, ඒ අයට නිදුක් නිරෝගී බවත් දීර්ඝායුෂත් ලැබේවා කියල මෙහෙම පැතුමකුත් පතනවා. ඇත්තටම දානයක් දීල නෑ කියන එකවත් ඒ අය දන්නෙ නෑ. කෑම ටිකක් නම් දීල තියෙනව කියන්න පුළුවන්. දානය පිළිගන්න භික්ෂූන් වහන්සේලා දේශනා කරන, පිළිගැනීමේ වැකියවත් ඒ අය තේරුම් ගත්ත බවක් පේන්නෙ නෑ. සැරියුත්, මුගලන් මහ රහතන් වහන්සේලාගෙන් පරපුරෙන් පරපුරට පැවත එන අතීත, වර්තමාන, අනාගත ත්‍රෛකාලික මහා සංඝරත්නයටයි මේ දානය පූජා කරන්නෙ කියල හිතා ගන්න... ආදී වශයෙන් උන්වහන්සේලා දානය ගැන පැහැදිලි කරනවා. දුෂ්ප්‍රාඥයා, කරන යහපත් දේ වුනත් ඥාණ සම්ප්‍රයුක්තව කරන්න දන්නෙ නෑ.

දා+ණය තමයි දානය කියන්නෙ. අසාධාරණයෙන් ගත්තු දේ ආපහු දෙනවා. දීල ආපහු යමක් බලාපොරොත්තු වෙනව නම්, ඇත්තටම දීල නෑ. දාන පිළිබඳ විස්තර හෙළ බොදු පියුම පසුගිය කලාප බොහොමයක විවිධාකාරයෙන් විස්තර කරල තියෙනවා. (කලාප 31, 32, 33) දාන ඵල, දාන වර්ග, දාන දෙන නියම පිළිවෙල ගැන ඒ ලිපිවලින් තේරුම් ගන්න පුළුවන්. දහමෙ තියෙන්නෙ අලෝභ, අදෝස, අමෝහ සිතකින් පිනක් කරල පැතුමක් පැතුවොත් ඉටුවෙන බව. මගේ දරුවො කියන ලෝභ සිතින්, මෝහ සිතින් පතන පැතුම ඉටු නොවුනොත්, මේ අය දහමටත් නිගරු කරල තවත් පවක් කරගන්නවා. මෙන්න මේකයි දුෂ්ප්‍රාඥබව කියන එකේ භයානකකම. ලාභ සත්කාර පතාගෙන කරන කුමන හෝ පින්කමක් ප්‍රඥාවන්ත වෙන්නෙ නෑ. මේ කියන්නෙ පිනේ පින් ඵල නෑ කියන එක නෙවෙයි. මට කසී සළු බොහෝ ලැබේවා කියන පැතුමෙන්, බුදු පියාණන් වහන්සේට කසී සළු පූජා කරපු එක්තරා බමුණෙක්, අන්තිමේදි ලැබුණ සම්පත්වල අසාරත්වය දැකල නිවන් මගටත් පත් වුන බව දහමෙ සඳහන් වෙනවා.

ඒ නිසා නිවන අරමුණු කිරීමෙනුයි ප්‍රාඥාවන්ත වෙන්නෙ. හාමුදුරුවරු මෙහෙමයි කියල දුසිල්වත් පැත්ත ගැන හිතුවම, දන් දීල තියෙන්නෙ ආර්ය මහා සංඝරත්නයට නොවෙයි, පාංශුකූලෙට වඩින හාමුදුරුවන්ට. එහෙම දන් දීල, මම නම් දුගතියට යන්නෙ නෑ, මම දඹදිවත් වැඳල තියෙනවා... ආදී වශයෙන් හිතනවා. මේ වගෙ දුෂ්ප්‍රාඥ, නුවණ මොට අයට කරුණු පැහැදිලි කරන එකත් ලේසි නෑ. ඒ නිසා එබඳු අයට මේ දහමින් ඵල ප්‍රයෝජනයක් ගන්න බෑ. ථේර ථේරී උදාන වාක්‍ය ඇතුලත් වන ත්‍රිපිටක පොත්වල "දඹදිව වැන්ද පිනෙන් මම මේ උතුම් නිවන් සාක්ෂාත් කර ගත්තා..." කියල කියන රහතුන්ගෙ උදාන වැකියක් කොතැනකවත් නෑ. නමුත් ගඟේ වැලි පැදුන තැනක වැලි ගොඩක් ගොඩ ගහල, කැලෑවෙන් මලක් කඩල ඒ ඉදිරියෙන් ගෞරවයෙන් තියල බුද්ධ සංඥාව උපදවා ගෙන මේ මලින් බුදුන් පුදමි කියන පැතුමෙනුත් නිවන් මගට පත්වුණ උදවිය ගැන නම් සඳහන් වෙනවා. දඹදිව වඳින්න එපා කියන එක නෙවෙයි මේ කියන්නෙ. දඹදිවදි හෝ වෙනත් බොදු දේශයකදි හෝ මේ උතුම් සංඥාව ඇතුව වැන්ද නම් ඒක තමන්ට පිහිට වෙනවා.

එතකොට මේ අක්‍ෂණ 8 න් මුල් කාරණා (7) හත සිතට දැනුනෙ අනුරුද්ධ මහ රහතන් වහන්සේට. ඒ බව බුදු සිතටත් දැනුණා. ඒ නිසා බුදු පියාණන් වහන්සේ ඍද්ධියෙන් එතැනට වැඩල "මැනවි, මැනවි, අනුරුද්ධයෙනි..." කියල සතුට ප්‍රකාශ කරල, ඒ කරුණු හතට අටවෙනි කරුණකුත් එකතු කළා. ''මේ දහම නිෂ්ප්‍රපංච සංඛ්‍යාත නිවනෙහි ඇලුනහුටය. ප්‍රපංච සංඛ්‍යාත තෘෂ්ණාවෙහි ඇලුනහුට නොවේ.''

ඒ කියන්නෙ පස්කම් සැප කෙරෙහි පුන පුනා තණ්හාවෙන් ඇලෙන්නෙ යම් කෙනෙක්ද, ඒ අයට නිවන ගැන අවබෝධයක් නෑ. නිවනේ සැනසීම මොන වගේ දෙයක්ද, කවදා මොන විදියට ලබන දෙයක්ද කියලවත් දන්නෙ නැති කෙනෙකුට මේ දහමින් ඵලක් නෑ. යම් ජාති ධර්මයකට ගැව්ලා ලබන ලෞකික වූ නිවීමක් සැනසීමක් තියේ නම්, ඒ ජාති ධර්මයට උරුම ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස උපායාස කියන ගිනිවලත් ගැව්ලා තමයි ඒ සැනසීම ලැබෙන්නෙ. කොයි මොහොතක වුනත් ඒ ගින්න ඇවිලෙන්න පුළුවන්. මේ දුක් ගිනි කන්දෙන් ඈත් වීමෙන්, ඈත් වුන තරමට නිවෙනවා, සැනසෙනවා. දුකෙන්, වෙහෙසෙන්, පෙළීමෙන් ඈත් වීමේ නිවීම කියන්නෙ, ඕනෑම මොහොතක ලැබෙන්න ඉඩ තිබුණ කරදරයකින් නිදහස් වීමක්. නමුත් ඒක පේන්නෙ නෑ, ස්පර්ශ වෙන්නෙ නෑ. ආස්වාද විඳීමේ බලාපොරොත්තුවෙන් වෙහෙස වෙවී, දුක් විඳගෙන ගොඩ නගාගත් ජාති ධර්ම, (ගේ දොර, ඉඩ කඩම්, යාන වාහන, මිල මුදල් ආදී සියල්ල) බලාපොරොත්තු වන හැටියට පවත්ව ගන්න බැරි වෙන, ඒ විදිහට පවතින්නෙ නැති අවස්ථාවලදි, ඒවා රැක ගන්න පවත්ව ගන්න කරන උත්සාහය වීර්ය තමයි ප්‍රපංච සංඛ්‍යාත තෘෂ්ණාව කියන්නෙ. මේ ප්‍රපංචයන්ගෙන් ඈත් වීමේ ආනිසංස දැකල, ඒවායේ නොඇලී නොගැටී මිදී යාම ශාන්තයි ප්‍රණීතයි කියල තේරුම් ගිය තැනැත්තාට, අත් හැරීමට නොඇලීමට මිදීමට මග පෙන්වන දහමක් බුදුන් වහන්සේ දේශනා කළා. ඒ දහම නිෂ්ප්‍රපංච සංඛ්‍යාත නිවනෙහි ඇලුන තැනැත්තාට වටිනවා.

තත්පරයකින් කෝටි ලක්ෂයකින් එකක් පමණ කාලය ක්ෂණයක් කියල කියන්න පුළුවන් බව මුලදි කිව්වා. ඒ වගේම බුදුන් වහන්සේ දේශනා කරල තියෙන අක්ෂණයට අනුවත් ක්ෂණය දැන ගත්තා. මේ දෙක ගලපල බැලුවම, අපේ දිගු සසර ගමනෙ අද ලබල තියෙන ක්ෂණය, තත්පරයකින් කෝටි ලක්ෂයකින් එක පංගුවක් තරම් කෙටි කාලයක් වගෙයි. අවුරුදු 70ක් 80ක් කියල ආයුස ගැන කතා කළාට, ඒ කාලය කොච්චර නම් කෙටිද කියල තේරුම් ගන්න ඕන. බුදුන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ, ලෝක සත්වයාට සතර අපාය මහ ගෙදර වගේ සසර වැඩි කාලයක් ගත කරන තැන හැටියට. මේ අක්ෂණ අටෙන් මිදුන කාලය ක්ෂණයක් හැටියට දේශනා කරන්නෙ ඒ නිසා. ඉතාම දුර්ලභව ලැබුනා වූ මේ ක්ෂණය, පස්කම් සැප කෙරෙහිම යොදවන්නෙ නැතිව සසර දුකින් මිදෙන්න යොදවන යම් කෙනෙක් ඉන්නව නම් ඒ අයට ක්ෂණය, ක්ෂණ සම්පත්තියක් කර ගන්න පුළුවන්.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සහ අංගුත්තර නිකාය 5 වෙනි කාණ්ඩයේ එන අක්ඛණ සූත්‍රය, අනුරුද්ධ සූත්‍රය ඇසුරින් සකස් කළේ,*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

# ඇස් ආශ්‍රිත රෝග රැසකට ප්‍රත්‍යක්ෂ ඔසුවක් .....

විවිධ ඇස් රෝගවලින් පීඩා විඳින අය මේ වෙන කොටත් සමාජයේ බහුලයි. මේ කාලය වෙන කොට ඇති වෙලා තියෙන පරිසර දූෂණය සහ වස විසත් එක්ක ඒ තත්ත්වය විශේෂයෙන් උද්ගත වෙලා තියෙනවා. ඒ අතර ඇසේ සුද, ග්ලූකොමාව, ඇස් වේලීම, ඇසේ පීඩනය අඩු වැඩි වීම්, ස්නායු ආබාධ නිසා ඇස් නොපෙනීම ආදිය සුලභ රෝග තත්ත්වයන් කිහිපයක්. මේ සඳහා නොයෙක් සැත්කම් කිරීමට යාමෙන් බොහොමයක් රෝගීන්ට ආර්ථික වශයෙන් දරා ගත නොහැකි තත්ත්වයකුත් උද්ගත වෙලා තියෙනව වගේම, සමහර අවස්ථාවල ඒවායින් ඇති වන අතුරු ආබාධ තත්ත්වයන් පවා විඳ දරා ගන්න සිද්ධ වෙලා තියෙනවා. ඒ වගේ කිසිම අතුරු ආබාධ තත්ත්වයක් ඇති නොවන, විශේෂ මුදලක් වැය නොවන ප්‍රත්‍යක්ෂ ඔසුවක් තමයි දැන් මේ හෙළිදරව් කරන්නෙ. කලින් වගේම මේ ප්‍රතිකාරයත් වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙත් සමාධියට හසු කරගත් ක්‍රමවේදයක්.



මේ ප්‍රතිකාරය අදියර දෙකකින් ක්‍රියාත්මක කරන්න ඕන. පළමු ප්‍රතිකාරයට යොදා ගන්න ඖෂධය සඳහා අවශ්‍ය වෙන්නෙ අමු නික පොතු ග්‍රෑම් 100 යි, දෙහි ඇඹුල් මේස හැඳි 1 යි. මේ අනුපාතය එන විදිහට අවශ්‍ය ප්‍රමාණයට ගන්න පුළුවන්. ඉස්සෙල්ලම අමු නික පොතු කොටල, හොඳට නිවාගත් උණු වතුර ටිකක් දාල ඉස්ම ගන්න ඕන. ඒ විදිහට එන ඉස්ම, දෙහි ඇඹුල් එක්ක මිශ්‍ර කරල ලිපේ තියල ටික වෙලාවක් කකාරව ගන්නවා. ඒ එන බෙහෙත් දියරය කාලයක් තියා ගෙන පාවිච්චි කරන්න පුළුවන්. මේ බෙත ගල්වන්නෙ ඇස් වටේට විතරයි. ඒ කියන්නෙ ඇහි බැම උඩ යට වට රවුමට ආලේප කරනවා. ඒ විදිහට උදේට ආලේප කරල පැය 4 ක් විතර තියෙන්න ඇරල, මඳ රස්නෙ උණු වතුරින් හෝදල දානවා. රැකියාවට යන උදවියට උදේ වරුවෙ බෙහෙත් ගැල්වීම අපහසු නම් හවස් වරුවෙ කළත් කමක් නෑ. නමුත් මේ ප්‍රතිකාරය වඩාත්ම සාර්ථක වෙන්නෙ උදේ වරුවෙ කළොත් තමයි. මොකද ඇස්වලට කරන බෙත් බොහෝ කොටම සාර්ථකව ප්‍රත්‍ය වෙන්නෙ උදේ වරුවෙ. ඒ විදිහට දින 15 ක් පමණ එක දිගට කළාට පස්සෙ දෙවන ප්‍රතිකාරය ආරම්භ කරන්න ඕන.

දෙවන ප්‍රතිකාරයට ගන්න ඖෂධයට අවශ්‍ය වෙන්නෙ සුදු කිරි මැටි සහ මී පැණි. කිරි මැටි ගන්න කොට අළු පාටට හුරු කිරි මැට්ටකුත් තියෙන නිසා සුදු කිරි මැටිම තෝරල ගන්න ඕන. මේ සුදු කිරි මැටි කියන්නෙ ලෝකය පළමුවෙන්ම හට ගත්තු කාලෙ තිබ්බ්ච මූලික ආහාර ශක්තිය ගැබ් වෙලා තියෙන දෙයක්. නමුත් ඒක ලේසියෙන් හොයන්න බෑ, බොහොම සියුම්ව තියෙන්නෙ. සුදු කිරි මැටිවල තියෙන ඒ ශක්තිය තමයි නැවතත් අරගෙන මී පැණි එක්ක මිශ්‍ර කළාම ක්‍රියාත්මක වෙන්නෙ. එතකොට තමයි ඇස්වල තියෙන සියුම් ලේ නහර සියල්ලම ක්‍රියාත්මක වෙන්න පටන් ගන්නෙ.

ඒ විදිහට ගත්තු සුදු කිරි මැටි හොඳින් වේලල පිටි වගේ වෙන්න කුඩු කර ගන්නවා. ඒ කුඩ මී පැණිවලින් ලාටුවක් වගේ අනාගෙන (අනුපාතයක් අවශ්‍ය නෑ) අර කලින් විදිහටම උදේට පැය 4 ක් විතර ඇස් වටේට ආලේප කරල සෝදල ඉවත් කරනවා. ඒ විදිහට දෙවන ප්‍රතිකාරයත් සති 2 - 3 ක් හෝ අවශ්‍ය කාලයක් කරන්න පුළුවන්.

මෙතනදි ඇහැ වටා බෙත් ගැල්වුවම ඒ රසායන ශක්තිය ඇහැට උරා ගන්නවා. මේ වගේ රෝගවලදි ඇහේ තියෙන සියුම් ලේ නහර, පොඩි කොලෙස්ටරෝල් වගේ ලාටුවකින් වැහිල තියෙන්නෙ. ඒක හොයන්න බෑ, කොහොල්ලෑ වගේ දෙයක්. මේ බෙත්වලින් අන්න ඒ අපද්‍රව්‍ය දිය කරල කඳුළු ආදියත් එක්ක ඉවත් කරනවා. හැබැයි ඒ ක්‍රියාකාරීත්වය නිසා සමහර විට ඇහැ ටිකක් රතු වෙන්න පුළුවන්. නමුත් ඒක අසනීප තත්ත්වයක් නෙවෙයි. ඒ නිසා රතු පාට වීම ගණන් නොගෙන මේ ප්‍රතිකාරය දිගටම කරන්න ඕන. ඊට පස්සෙ ටික කාලයක් යන කොට ඇහේ තිබ්බ්ච අපද්‍රව්‍ය සම්පූර්ණයෙන්ම අහක් වෙලා කඳුළුත් එක්ක පිට කරනවා. ඒ නිසා වෙනදට වැඩිය ඇහෙන් කබ, කඳුළු ගලන්නත් පුළුවන්. ඒකෙන් තමයි අන්තිමට රෝගී තත්ත්වයන් දුරු වෙන්නෙ.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# වාස්තු විද්‍යාවේ හේතු ඵල සම්බන්ධය දහම් ඇසින් ....

**4 වන කොටස**

නිවසකට අත්තිවාරම දමන කොට සලකා බැලිය යුතු කරුණු 16 ක් ගැන මීට කලින් කෙටියෙන් විග්‍රහ කළා. ඒ වගේම අත්තිවාරමේ ඉඳන් බිත්ති බඳින කොටත් මග හැරිය යුතු මර්මස්ථාන තියෙනවා. එතනදී නන්දා, භද්‍රා, ජයා, රිට්ටා, පූර්ණා කියල ස්ථාන 5 ක් තියෙනවා. මේ ස්ථාන පහෙන් නන්දා, ජයා, පූර්ණා කියන ස්ථාන විතරයි බිත්ති බඳින්න යොදා ගන්නෙ. අනෙක් ස්ථාන 2 ට අහු වුනොත් විනාසයට හේතු වෙනවා. නන්දා කියන්නෙ නන්දනය කරනවා, සතුටු වෙනවා කියන එක. ජල නන්දන කිව්වත් එන්නෙ එහෙම අදහසක්. ඒ කියන්නෙ සිසිල වගේ වෙනවා, චිත්ත ප්‍රසාදය ඇති වෙනවා කියන එක. භද්‍රා කියන්නෙ නිකං තරහ ස්වභාවය. බද්ධ වෛරය කියන්නෙත් තදින් බැඳිල තියෙන දෙයක්. එතකොට එන ඇලීමයි ගැටීමයි තද වැඩියි. ජයා කියන්නෙ ජයග්‍රහණය. රිට්ටා කියන්නෙ ගිනි. පූර්ණා කියන්නෙ අංග සම්පූර්ණයි කියන එක, පිරිච්ච ගතිය, පුන් කලස වගේ. එතකොට ඒ වචනවල නිරුක්ති අර්ථයෙන්ම ඒවායේ හොඳ නරක ස්වභාවය තේරුම් ගන්න පුළුවන්.

දැන් මේ කාරණය භෞතික විද්‍යාවෙනුත් පහදන්න පුළුවන්. නූල් කෑල්ලක් අරගෙන ඇදල දෙපැත්තෙන් යම් කිසි දේකට ගැට ගහල මැදින් ඇද්දොත් රැළි රැළි විහිදෙමින් කම්පනය වෙනවා. හයියෙන් ඇද්දොත් තවත් හැඩයකට කම්පනය වැඩි වෙනවා. එතකොට ඒ රැළි හට ගන්න තැන් සූක්ෂමව බැලුවොත් එක්තරා ක්‍රම රටාවකට උඩ යට කම්පන චලිත හෙවත් උස් පහත්වීම් තමයි තියෙන්නෙ. ඒ අතරෙ කම්පනය අඩු වැඩි සහ නොවන තැන් තියෙනවා. ඔය විදිහට 1, 2, 3, 4, 5 ආදී වශයෙන් කොටස්වලට බෙදුවොත් ඒ රටාවල්වලට තමයි යම් කිසි තැටියක් කම්පනය වෙන්නෙත්. (Clamped Plate by Kirchhoff- සිද්ධාන්තය) මේ කම්පන රටාවන් පියවි ඇහැට පේන්නෙ නැති නිසා තමයි තැටියකට වැලි හෝ මොනව හරි සියුම් කුඩක් දාල කම්පනය පෙන්වන්නෙ. එතකොට වැලි හෝ කුඩ විවිධ කම්පන රටාවන් අනුව හැඩ ගැහෙනවා.

ගෙයක් කියන්නෙත් පෘථිවිය උඩ තියෙන පාදමක කොටස් එකට එකතු වෙච්ච තැටියක් වගේ දෙයක්. ගෙදරක බිත්ති නැත්නම් ඉතිරි වෙන්නෙ තැටියක් වගේ දෙයක්. ඒ තැටියක් කම්පනය වෙන්නෙත් මේ විස්තර කරපු විදිහට. ගෙදරකට විතරක් නෙවෙයි, තැටි ආකාර ඕනම එකකට තියෙන්නෙ ඔය නන්දා, භද්‍රා, ජයා, රිට්ටා, පූර්ණා කියන කොටස් 5 ක කම්පනයන්. ඒ කියන්නෙ සමාන දිගවලදී කම්පන සංඛ්‍යාත වෙනස් වෙනවා. ඒකෙන් වෙනස් ආකාර 5 ක් හට ගන්නවා. මේ පහෙන් පළවෙනි පරාසයේ



කම්පන පන්තිය තමයි නන්දා කියන්නෙ. ඒ පරාසය සුද්ධයි. ඒ නිසා සුදු පාටින් පෙන්නුම් කරනවා. ඊළඟට දෙවන පරාසයේ කම්පන පන්තිය තමයි භද්‍රා කියන්නෙ. ඒක කළු පාටින් පෙන්නුම් කරනවා. හොඳ හෝ නරක පෙන්වන්න තමයි මේ සුදු සහ කළු යොදා ගන්නෙ. ඒ විදිහට 3 වන පන්තිය ජයා සුදු පාටින්, නැවතත් 4 වන පන්තිය රිට්ටා කළු පාටින්, 5 වන පන්තිය පූර්ණා සුදු පාටින් ... මේ විදිහට තමයි ඒ 5 පෙළ ගැහෙන්නෙ. එතකොට සුදු කියන්නෙ හොඳයි, කළු නරකයි. ඒ නිසා 1, 3, 5 කියන නන්දා, ජයා, පූර්ණා කියන කොටස් හොඳයි. කළු පාටට තියෙන අනෙක් කොටස් 2 විසයි.

ගෙදරක අත්තිවාරමක් සමාන කොටස් 3 කට දෙපැත්තෙන්ම බෙදල ඒ එක කොටසක් නැවතත් 5 කට බෙදා ගත්තම මේ අවස්ථා 5 ලකුණු කර ගන්න පුළුවන්. එතකොට පාද 15 ක් එනවා. මෙන්න මේ අත්තිවාරම කියන රාමුව ඇතුලෙ තමයි මේ සිද්ධාන්තය ක්‍රියාත්මක වෙන්නෙ. මේ සුදු, කළු කියන්නෙ ශක්ති විශේෂ 2 ක්. මාරුවෙන් මාරුවට සුදු ශක්තියක් ඇර කළු ශක්තියක් තමයි පිහිටන්නෙ. ඒක කම්පන රටාවක් විදිහට ඇඳල පෙන්වන්නත් පුළුවන්. මේ තරංග නිම්නයක් ගත්තම කම්පනය අඩු වැඩි ස්ථාන වගේම නොවන ස්ථානත් තියෙනවා. නන්දා, ජයා, පූර්ණා කියන ස්ථානවල තමයි අඩුවෙන්ම කම්පනය වන ස්ථාන සහ කම්පනය නොවන ස්ථාන තියෙන්නෙ. අන්න ඒ වගේ තැන්වලට යම් කිසි බරක් දැම්මට ඉස්සෙන්නෙ නෑ, ඒ තරම් හානියක් නෑ. මොකද කම්පනය ඉතාමත් අඩු නිසා. ඒ නිසා ඒ වගේ තැන්වලදී තමයි අත්තිවාරමට යම් කිසි බරක් දරා ගෙන හිටින්න පුළුවන්කම ලැබෙන්නෙ. මොකද කම්පනය නොවන තැනකට සහ කම්පනය ඉතාම අඩු තැනකට බර පැටෙව්ව කියල හානියක් නෑ. ඒ තැන තමයි අර සුදු පාටට පෙන්වන නන්දා, ජයා, පූර්ණා කියල කිව්වෙ.

හැබැයි ඊළඟට උසට තියෙන (කම්පනය වැඩි ස්ථාන) තැන්වල බර පැටෙව්වොත් ඒ ස්ථාන කම්පනය වෙන්න බැරිව යනවා. එතකොට ස්වභාවිකව කම්පනය වන ඒ වගේ තැනකට බර පැටෙව්ව කියන්නෙ ඒ කම්පනය වීමට බාධාවක්. ඒ නිසා අන්න ඒ වගේ තැන්වලට බිත්ති දැම්මොත් ගැටළුවක් එනවා. මොකද ස්වභාවිකව කම්පනය වන ස්ථාන හිර කරනවා. ඒ ස්ථාන තමයි අර භද්‍රා, රිට්ටා කියල කිව්වෙ. එහෙම කම්පනය වෙන්නෙ නැති, අර ඉතා අඩුවෙන් කම්පනය තියෙන තැන්වල තමයි බිත්ති දාන්න ඕන. මොකද මේ කම්පනය වීම හරහා තමයි විශ්වයේ තියෙන කිරණ ඇදල එන්නෙ. සමනන්තර අනන්තර ප්‍රත්‍යය අනුව පිං පවු ඇදිල ඵල දෙන්නෙත් ඒකෙන්.

ගෘහයක් කියන්නෙ මනුස්සයො ග්‍රහණය කර ගත්තු පිං පවු ඇදල අරගෙන ඵල දෙන තැනක් කියල මීට පෙරත් විස්තර කළා. මනුස්සයෙක් ගෘහයක් හදන්නෙ තමන්ගෙ ජීවිතය සුඛෝපභෝගීව ගෙනියන්න ඕන කියන බලාපොරොත්තුවෙන්. එතකොට තමන් කරපු පිං පවු විපාක ඇදිල එන්නෙත් ☞

ඒ ගෘහය හරහා. එතනදි **ගෘහය වරද්ද ගත්තොත් ප්‍රයෝග විපත්තිය ඇවිත් සමනන්තර අනන්තර ප්‍රත්‍යය අනුව පරිසරය සකස් වෙලා කරපු පවු ඇදෙනවා. ගෘහය හරියට හැදුවොත් ප්‍රයෝග සම්පත්තිය මුල් වෙලා ඒ පාප කිරණවලට සමනන්තරය නැති නිසා ඇදෙන්නෙ නැතිව යනවා. එතකොට එන පින ඇදීමත් ඒ වගේ දෙයක්.**

මනුස්සයෙක්ගෙ වටා තියෙන ඕරා වළල්ලෙන් පින් පවු දෙකට අදාල සුදු කළු කිරණ විහිදෙනවා. වැරදියට ගෘහය හැදුවම මනුස්සයෙක්ගෙන් විහිදිච්ච පින්වලට අදාල කිරණ නැවත අදින්න බැරිව යනවා. හරියට ඇන්ටනාවක් නියමිත දිගට දාන කොට ඊට අනුව තරංග ඇදෙනව වගේ. නමුත් ඒ දිග වැරදි විදිහට වෙනස් කළොත් තරංග ඇදෙන්න බැරිව රූපවාහිනි යන්ත්‍රය අපැහැදිලි වෙනවා. ඒ වගේ ගෘහයකටත් කිරණ අදින්න නම් ගෘහය හරියට සැකසිලා තියෙන්න ඕන. නව ග්‍රහයො කියන්නෙ මනුස්සයො ග්‍රහණය කරගෙන හිටපු පින් පවුවලට අදාල කිරණ ශක්ති ගිහින් තැන්පත් වෙච්ච ස්ථාන. මනුස්සයො පින් පවු කරන කොට ඇදෙන කිරණ තමයි ඕරා වළල්ලෙන් පිට වෙන්නෙ. සුදු කිරණ ඇදෙන්නෙ අලෝභ, අදෝස, අමෝහ නිසා. ඒවාට පින් කියල කියනවා. ලෝභ, දෝස, මෝහවලින් හදන්නෙ කළු කිරණ. ඒව තමයි පවු කියන්නෙ. ඒ විදිහට හදපු කිරණ මනසින් පිට වුනාට පස්සෙ ඒ පිට වෙන කිරණ ශක්තිය විනාස වෙන්නෙ නෑ. කොහේ හරි තියෙන්න ඕන. හැබැයි ඒවා ඇහැට පේන්න නෑ.

උදාහරණ විදිහට ජංගම දුරකථනයකට අන්තර් ජාලයෙන් යම් යම් දත්ත බා ගන්න කොට ඒ දත්ත කොහෙද තිබුණෙ? කොහේ හරි තිබුණා. හැබැයි පේන්න තිබුනෙ නෑ. ඒකට තමයි අන්තර්ජාල සේවා මෙහෙකරු (Server) කියල කියන්නෙ. එතකොට අපේ (මනුස්සයින්ගෙ) සේවා මෙහෙකරු කොහෙද තියෙන්නෙ? ඒක තමයි නව ග්‍රහයො කියල තියෙන්නෙ. ඒ ග්‍රහණය කරගත්තු නවයෙන් මිදිච්ච අවස්ථාව තමයි නව අරහාදී බුදු ගුණ කියන්නෙ. එතකොට මනුස්සයො ග්‍රහණය කරගත්තු දේවල් එල දෙන්න හැදිච්ච වස්තු තමයි ග්‍රහයො කියන්නෙ. ඒ හරහා තමයි පින් පවු විපාක ඇදෙන්නෙ. ඒ ග්‍රහණය තමයි ලොවුතුරා බුද්ධත්වයට පත් වෙන කොට බින්දෙ. ගහකාරක දිට්ඨෝසි.... ආදී වශයෙන් පෙන්වල කැණි මඩල බින්දයි කියන්නෙත් ඒ කාරණය තමයි. නව ගුණ බලෙන් ඒ සම්බන්ධය කැඩුවා. ඒකෙන් මිදුනා. මතුවට ඒ සම්බන්ධය නතර කළා. නැවතත් ඒ සම්බන්ධයට තැනක් දෙන්නෙ නෑ, පටිසන්ධි කරන්නෙ නෑ. එහෙම බිඳෙන කල් අනිත් අයත් ග්‍රහණය කර ගෙන පින් පවු තව දුරටත් ඉදිරියට ගෙනියනවා. ඒ නිසා ඒ අයට නව ග්‍රහයින්ගෙ සම්බන්ධය පූර්ණව තියෙනවා. මොකද ග්‍රහණය කර ගෙන ඉන්න නිසා. අන්න ඒ පින් පවුවලට අදාල කිරණ තමයි ගෘහය හරහා ඇදෙන්නෙ. ඒකෙන් තමයි මනුස්සයට හොඳ නරක දෙක එල දෙන්නෙ.

හැබැයි ඒ හොඳ කිරණ එන්න නම් භෞතිකව ඒ ගෘහය හරියට විශ්ව කිරණ ඇදිල එන්න පිහිටල තියෙන්න ඕන. එතකොට කම්පනයක් නැතිව කිරණ අදින්න විදිහක් නෑ. රූපවාහිනි ඇන්ටනාවකට කිරණ අදින්නෙත් ඒ විදිහට. ඒ වගේ ඇන්ටනාවක දිග ගන්න කොට $\lambda/2$ හෝ $\lambda$ කියන අවස්ථා දෙකෙන් ගැලපෙන දිගක් ගන්න ඕන. ඒ කියන්නෙ තරංග ආයාමයේ දිග හෝ ආයාමයෙන් භාගයක දිග. එහෙම නැතිව අපිට ඕන දිගක් අරගෙන හරි යන්නෙ නෑ. එතකොට අවශ්‍ය කරන තරංග ඇදල එන්නෙ නෑ.




අද නවීන ලෝකයේ තියෙන බ්ලූටූත් (Bluetooth) තාක්ෂණයෙන් වෙන්නෙත්, අන්තර්ජාලයට ඇතුල් වෙලා යමක් පරීක්ෂා කරන කොට වෙන්නෙත් ඒ වගේ දෙයක්. මෙහේ ඉඳන් නමක් ගහපු ගමන් ඇමරිකාව වගේ රටක තියෙන සේවා සැපයුමකින් ඒකට අදාල දත්ත ඇදිල එනවා. ඒකට සම්බන්ධ කර ගන්න ඩොංගලය හරියට ඇන්ටනාව වගේ. ඒ සම්බන්ධතාවයෙන් තමයි කිරණ ඇදෙන්නෙ. එහේ ඉඳන් කිරණ ඇදිල එන්න නම් මෙහේ සමාන අන්තරයකින් සංඛ්‍යාතය කම්පනය වෙන්න ඕන. එතන තියෙන්නෙත් සමනන්තර අනන්තර ප්‍රත්‍යය. ඒකෙන් තමයි කිරණ ඇදල ගන්නෙ. එතකොට වීඩියෝ දර්ශනයක් නෙවෙයි ඇදල එන්නෙ, මෙතන පරිගණක යතුරු ලියනයේ නමක් යතුරු ලියනය කරන කොටම, එතන ඉඳන් විද්‍යුත් චුම්භක තරංග ඒ සම්බන්ධතාවය හරහා සේවා මෙහෙකරුට යවනවා. ඊළඟට ඒ මෙහෙකරුගෙන් ඒකට අදාල සංඥාවක් විහිදුවනවා. ඒකෙන් සමනන්තර අනන්තර ප්‍රත්‍යය අනුව ඊට අදාල කිරණ හෙවත් ඇසට නොපෙනෙන විද්‍යුත් චුම්භක තරංග ඇදල ගන්නවා. ඒ ඇසට නොපෙනෙන ඒව තමයි අනිදස්සනං අප්පටිඝං ධම්මායතන පරියාපන්න රූපං කියල විභංගප්පකරණයේ සළායතන විභංගයේ ධම්ම පද විග්‍රහයේ දක්වෙන්නෙ.

අන්න ඒ වගේ මනුස්සයින්ට අවශ්‍ය කිරණ ඇදල එන්න නම්, ගෙයක අත්තිවාරමේ ඒ මර්මස්ථාන කම්පනය වෙන්න පුළුවන් විදිහට බර පටවන්නෙ නැතිව නිදහස්ව තියෙන්න ඕන. නන්දා, භද්‍රා..... ආදී වශයෙන් කියන ඒ ප්‍රධාන මර්මස්ථාන පහෙන් වැඩිපුර කම්පනය වන භද්‍රා, රිට්ටා කියන ස්ථානවලට බිත්ති දැම්මොත් ඒ ස්ථාන අවහිර වෙලා කම්පනය නතර වෙනවා. (අනෙක් ස්ථානවලට බර දැම්මට ගැටළුවක් නැත්තෙ ඒ ස්ථාන ඒ තරම් කම්පනය නොවන නිසා) ඒ නිසා ඒ ස්ථානවලට බිත්ති දැමීම හොඳ නෑ. ඒ ස්ථාන තමයි උපරිම ලෙස කම්පනය වෙන්නෙ. ඒවාට නිදහසේ කම්පනය වෙන්න ඉඩ හරින්න ඕන. ඒ ස්ථාන අවහිර වෙච්ච ගමන් විශ්වයේ තියෙන කිරණ අදින්නෙ නැතිව යනවා. ඒ විදිහට ගෙදරක උපරිම කම්පනය තියෙන තැන තමයි හරි මැද බ්‍රහ්ම පාදය කියන්නෙ. හතරැස් කොටු හැඩය තියෙන නිවසක නම් හතර කොන් යා කෙරෙන්න කතිරයක් ගැහුවම ඒ කැපෙන ස්ථානය. නමුත් හැම නිවසක්ම හරි හතරැස් නෑ. විවිධාකාරයේ හැඩ තලවලට පිහිටන්න පුළුවන්. එතකොට ඒ වගේ තැනක හරි මැද හෙවත් බ්‍රහ්ම පාදය හොයන්න ගුරුත්ව කේන්ද්‍රය තියෙන තැන සොයා ගන්න ඕන. ඒ ස්ථානය හරියට මනුස්සයගෙ නාභිය වගේ. ඒ ගුරුත්ව කේන්ද්‍රය සොයා ගන්න සමීකරණ තමයි උසස් පෙළ භෞතික විද්‍යාවෙදි $\bar{x} = \frac{\sum A\bar{x}}{\sum A}$ කියල උගන්වන්නෙ.

මේ කාරණය ඔප්පු කරන්න පුළුවන් තැනක් වාස්තු විද්‍යාවෙත් තියෙනවා. වාස්තු විද්‍යාවේ උගන්වන වාස්තු මිනිසාගේ නාභිය තියෙන්නෙත් හරියට බ්‍රහ්ම පාදයේ. යෝග

භාවනාවල මයුරාසනයෙන් ඉන්න කොටත් නාභියට තමයි වැලමිට තියල මනුස්සය හරහට සමබර කරන්නෙ. ඒ කියන්නෙ මනුස්සයගෙ ගුරුත්ව කේන්ද්‍රය තමයි නාභිය. ඒ නිසා මනුස්සයෙක්ගෙ නාභියෙන් ඇල්ලුවොත් එහෙම, ඕන ඕන පැත්තට කරකවන්න පුළුවන්. එතකොට නිවසක ගණිතමය ක්‍රමයකට මේ බ්‍රහ්ම පාදය තියෙන ස්ථානය හොයා ගන්න තේරෙන්නෙ නැත්නම්, ඒ නිවසේ අත්තිවාරමේ හැඩය අරගෙන ඒක පරිමාණයකට ඇඳල එක කෙළවරකින් එල්ලල, ඒ එල්ලපු කෙළවරේ සිට සිරස් රේඛාවක් ඇඳ ගන්නවා. ඒ විදිහට ඒ රූපයේ ඕනෑම කෙළවරකින් එල්ලල සිරස් රේඛා ඇන්දම ඒ සියලු රේඛා එකම ලක්ෂයක් හරහා ගමන් කරනවා. අන්න ඒ ලක්ෂය තමයි ඒ නිවසේ ගුරුත්ව කේන්ද්‍රය හෙවත් බ්‍රහ්ම පාදය කියන්නෙ. මේ කාරණය භෞතික විද්‍යාවෙ එන නිව්ටන්ගෙ පළවෙනි නියමයට අනුව සිද්ධ වෙන දෙයක්. ඒ ස්ථානයේ තමයි උපරිම කම්පනය තියෙන්නෙ.

මෙන්න මේ වගේ කම්පනය වන ස්ථානවලට සිරස් කණු, අත්තිවාරම්, බිත්ති වගේ අධික බර එන්න හොඳ නෑ. ඒ මර්මස්ථාන වටේට සාමාන්‍යයෙන් අඩි 3 ක වගේ සීමාවක් නිදහස් කරල තියෙන්න ඕන. මොකද අති සියුම් කම්පනයක් තමයි ඒ වටේ තියෙන්නෙ. එතකොට කම්පනය වන නිශ්චිත තැනක් නෙවෙයි මේ කියන්නෙ, සම්පූර්ණ කලාපයක්ම ඒ කම්පනයට අහු වෙනවා. ඒ නිසා ඒ වගේ කලාපයකට අහු වෙන්න බිත්ති බැන්දොත් අර කම්පනයට බාධා ඇවිත් කිරණ ඇදෙන්නෙ නැතිව ඒකෙන් නරක ඵල විපාක නිවසට එනවා.

ඒ වගේම සමහර ගෙවල්වල මේ ගුරුත්ව කේන්ද්‍රය හෙවත් බ්‍රහ්ම පාදය හාරල මාළු ටැංකි හදල තියෙනවා. නමුත් ඒක හොඳ නෑ. මොකද මාළු කියන්නෙ සතර අපාගත සත්තු. උන්ගෙන් විහිදෙන්නෙ රාග, ද්වේශ, මෝහවලට අදාල කළු කිරණ. බ්‍රහ්ම පාදය කියන්නෙ විශ්වයේ තියෙන බ්‍රහ්ම කිරණ හෙවත් අලෝභ, අදෝස, අමෝහවලින් යුත් සුද්ධ කිරණ නිවසට ඇද ගන්න කේන්ද්‍රස්ථානය. දැන් ඒ වගේ තැනක මාළු ටැංකියක් හැදුවම මොකද වෙන්නෙ, අර බ්‍රහ්ම කිරණ අදින්න වෙන්නෙ මාළු ටැංකිය හරහා. එතකොට ඒක ලොකු බාධකයක් වෙලා ඒ කිරණ වෙනත් විදිහකට පරිවර්තනයක් වෙනවා. ඒ පරිවර්තනය නිසා නිවසට අවශ්‍ය කරන සුද්ධ කිරණ නොලැබී යාමෙන් ඒ ගෙදර ඉන්න අය මානසික විකෘතිතාවයන්ට ලක් වෙනවා. ඒ විදිහට ස්ථිරවම සවි නොකර මතු පිටින් මාළු ටැංකියක් තිබ්බත් ගැලපෙන්නෙ නෑ.

ඊළඟට වහලක මුදුන් යට ලීයට මූට්ටු 1, 3, 5 වගේ ඔත්තෙ සංඛ්‍යා ගන්න එපා කියල වාස්තු විද්‍යාවෙ පෙන්වනවා. 2, 4, 6 වගේ ඉරට්ටෙ සංඛ්‍යාවක් එන විදිහට තමයි ගන්න ඕන. විනාසකාරී නිරෝධනය (destructive interference) කියන භෞතික විද්‍යාවේ එන මූල ධර්මයෙන් ඒ කාරණය පහදන්න පුළුවන්. ඒ කියන්නෙ මේ මූට්ටු කරපු තැන්වලින් අරීයව විස කිරණ විහිදෙනවා. ඒ කිරණ නිවසේ හැම තැනටම බලපානවා. හැබැයි ඉරට්ටෙ සංඛ්‍යාවක් තියෙන කොට එකකට එකක් කැපෙන නිසා ගැටළුවක් නෑ. වහලකට යට ලී දාන කොට කිරි සහ හර කියන ලී වර්ග දෙකෙන් මොකක් හරි එක ලී වර්ගයක් යොදා ගන්න කියන්නෙත් ඒ හේතුව නිසා. එතකොට එකකින් පිට වෙන කිරණවලට අනිකෙන් පිට වන කිරණ සමාන නිසා එකකට එකක් කැපිල යනවා. වෙනස් වර්ග 2 ක ලී දැම්මොත් කිරණ සමාන වෙන්නෙ නැති නිසා එකකින් අනික කැපෙන්නෙ නෑ. ජලාශයකට ගල් කැට 2 ක් එකම වෙලාවෙදි දැම්මත් මේ කාරණය ප්‍රායෝගිකව දැක බලා ගන්න පුළුවන්. එක ගල් කැටයක් දාන ගමන්ම අනික් ගල් කැටයත් අත හැරියම කලින් එකේ රැළි, දෙවන ගල් කැටයෙන් එන රැළිවලින් කැපිල යනවා. එතකොට වහලක මූට්ටු ඉරට්ටෙ සංඛ්‍යාවක් තිබුනොත් තමයි ඒ වගේ එකකට එකක් කපන්න පුළුවන් වෙන්නෙ. මූට්ටු 1 ක් තිබුනොත් තනිකරම ඒකෙන් විහිදෙන කිරණ බලපානවා. ඒක කැපෙන්න විදිහක් නෑ. මූට්ටු 3 ක් තිබුනොත් 2 ක් කැපිල එකක බලපෑම ඉතිරි වෙනවා. 5 ක් තිබුනොත් 4 ක් කැපිල 1 ක බලපෑම ඉතිරි වෙනවා. ඒක ගෘහ මූලිකයට තමයි ප්‍රධාන වශයෙන්ම බලපාන්නෙ.

ඒ විදිහට ගෘහ මූලිකයට ප්‍රධාන වශයෙන් බලපාන්නත් හේතුවක් තියෙනවා. මොකද ගෘහ මූලිකය තමයි ප්‍රධාන වශයෙන්ම, මේක මගෙ ගෙදර කියල ග්‍රහණය කර ගෙන ඉන්නෙ. ඒ කියන්නෙ ගෙදරට අධිපති. මාන්නයෙන් අල්ල ගෙන මේ මගෙ එකනෙ, මම හදපු ගෙදරනෙ ආදී වශයෙන් ඒ ගෙදර සියල්ලම තියෙන්නෙ ගෘහ මූලිකයගෙ ග්‍රහණයේ. ඒක තමයි හදා ගත්තු සමනන්තරය. එතකොට පටිච්ච සමුප්පන්නව එතැනට මනස තදින් බැඳෙනවා. දැන් ගෘහයක තියෙන මුදුන් ලීය හරහා කිරණ අදින කොට වාස්තු දෝස තිබුණොත්, ගෘහ මූලිකයා ඒක මගෙ කර ගැනීම නිසා ඒ වාස්තු දෝස නිසා එන විස කිරණ තමයි දැන් ඒ පුද්ගලයට ඇදෙන්නෙත්. වාස්තු දෝස නැතිව හොඳට පිහිටියොත් හොඳ කිරණ ඇදෙන්නෙත් ඒ විදිහටමයි. මුදුන් යට ලීයට විතරක් නෙවෙයි, මේ කාරණය අනෙක් යට ලීවලටත් එතරම් හොඳ නෑ. ඒ වගේම හරස් අතට හෝ දිග අතට මූට්ටු 3 ක් එක පෙළට එන්නත් හොඳ නෑ.

මේ කිරණ සම්බන්ධයෙන් මෙතෙක් ලෝකයේ කරපු ලොකුම පර්යේෂණය මීට අවුරුදු 2 කට පමණ පෙර ස්විට්සර්ලන්තයේදි සිද්ධ කරල තියෙනවා. එතනදි ආලෝක අංශු 2 ක් අරගෙන එකක් අනෙකට සට්ටනය වෙන්න සලැස්සුවම, ඒ අංශු පිපිරිලා අධි වේගයෙන් චලනය වෙලා අති සියුම් අංශු සමූහයකට බිඳිල ගියා. එතනදි ඇල්බට් අයින්ස්ටයින්ගෙ ආලෝකය වැඩිම වේගය කියල සම්මත කර ගෙන තිබ්බව $E = MC^2$ සමීකරණයෙන් ගොඩ නගපු සංකල්පය පවා බිඳිල ගියා. මූට්ටු ඉරට්ටේ සංඛ්‍යාවක් තිබීමෙන් ක්‍රියාත්මක වන සිද්ධාන්තය තමයි මෙතනදිත් යොදා ගත්තෙ. ආලෝක අංශු 2 හැප්පිලා සියුම් කැලිවලට කුඩු වෙලා ගියා. ඒකෙන් ආලෝකයටත් වඩා වැඩි වේග තියෙන බව සොයා ගත්තා. ඒ වගේම ආලෝක අංශුත් කඩන්න පුළුවන් බව සොයා ගත්තා.

මේ වගේ ලී කෑල්ලකත් ශක්ති පදාර්ථ තියෙනවා. ඒ වගේ ලී කැලි 2 ක ශක්ති පදාර්ථ 2 ක් එකිනෙක සට්ටනය වුනාම (ලී කැලි 2 ක් මූට්ටු කළාම) ඒකෙන් විස කිරණක් නිකුත් වෙනවා. ඒ විදිහට ලීවලින් කිරණ නිකුත් වෙන බව සොයා ගත්තු කිර්ලියානු ඡායාරූප පවා දැන් තියෙනවා. ඒ වගේම මළකඩ කාපු යකඩයකට සියුම් වැලි කැට වේගයෙන් විදින සෑන්ඩ් බ්ලාස්ටර් කියල යන්ත්‍රයක් තියෙනවා. ඒ වගේ යන්ත්‍ර 2 ක් එකිනෙකට මුහුණ දාල වැලි කැට වේගයෙන් විද්දොත් ඒවා එකිනෙක සට්ටනය වීමෙනුත් මේ වගේ දෙයක් සිද්ධ වෙනවා. විශේෂයෙන් නැව් වගේ විසාල යකඩ තියෙන තැන්වල තදට කා වැදිච්ච මළකඩ ඉවත් කරන්න තමයි මේ යන්ත්‍රය යොදා ගන්නෙ. අධික මළ බැඳිල තිබ්බ්ච තැන් මේ යන්ත්‍රයෙන් සුද්ධ වෙලා කණ්ණාඩියක් වගේ දිලිසෙන්න ගන්නවා. ඒකෙනුත් මේ කාරණය ඔප්පු වෙනවා. ඒ වගේ මූට්ටු කරපු ලී කැලි 2 කින් පිට වෙන කිරණ කදම්භ 2 ක් එකට සට්ටනය වෙන්නෙ මූට්ටු වටා ගෝලීයව සහ අරීයව. එතකොට 2 ක් තිබුනොත් එකකින් අනෙක කැපිල යන නිසා ගැටළුවක් නෑ. මූට්ටු ඔත්තෙ ගණනක් තියෙන්න හොඳ නෑ කියන්න හේතුවත් ඒකයි. විනාසකාරී නිරෝධන සිද්ධාන්තය තමයි එතනදි ක්‍රියාත්මක වෙන්නෙ.

හැබැයි ගෙයක් ගත්තම මේ වගේ වාස්තු දෝස ඇවිත් නරක විපාක දෙන්නෙත් නිකම්ම නෙවෙයි. මොනව හරි කර්ම විපාකයක් එක්කමයි එන්නෙ. ඒ නිසා ඒ වගේ වාස්තු දෝස ඉවත් කළත්, ඒ කර්ම විපාකය ගෙවිල ඉවර ☞

# කේන්ද්‍රරයෙන් පෙන්වන හේතු ඵල දහම ....

**4 වන කොටස**

ඒ ඒ ලග්නවලට අධිපති ග්‍රහයින් වෙනම ඉන්නව වගේම, ඒ ඒ ග්‍රහයින්ගෙ ස්වභාවය අනුවත්, පිහිටීම අනුවත් කෙනෙකුගේ ගති ලක්‍ෂණ වගේම ලැබෙන සුබ අසුබ විපාකත් වෙනස් වෙන්න පුළුවන්. ඒ ඒ ග්‍රහයින්ගෙ පිහිටීම අනුව ඇතිවන සුබ අසුබ දෙකේ හේතුඵල සම්බන්ධය පෙන්වන තවත් පැතිකඩක් තමයි මේ කෙටියෙන් විග්‍රහ කරන්නෙ. උදාහරණ විදියට මේෂ රාශියට අධිපති වෙන්නෙ කුජ ග්‍රහයා. පද නිරුක්තිය අනුව අර්ථය ගත්තොත්, ''කු'' කියන්නෙ පහත් දේවල් හෙවත් ක්‍ෂය වන දේවල්. ''ජ'' කියන්නෙ ජනිත කරනවා. ඒකෙත් දෙපැත්තක් තියෙනවා. නරක පැත්ත ක්‍ෂය කරන දේවල් ජනිත කරන්නත් පුළුවන්, හොඳ පැත්ත ක්‍ෂය කරන දේවල් ජනිත කරන්නත් පුළුවන්.

උදාහරණ විදියට යමෙක් දුෂ්චරිතවලට පුරුදු වෙලා ඉන්න පුළුවන්. හැබැයි දැන් ඒ පුද්ගලය පුරුදු වෙන්න උත්සාහ කරන්නෙ, මම මේ දුෂ්චරිතයෙන් කොහොම හරි මිදෙනව කියල නම්, ඒ සඳහා උත්සාහ වීර්ය කරනව නම්, ඒ පුද්ගලය තමන් ළඟ තිබ්ච්ච පහත් දේවල් ක්‍ෂය කරන්න අවශ්‍ය දේ ජනිත කරනවා. එතකොට කුජ යහපත් පැත්තට හිටින්නෙ. ඒ තමයි කුජගෙ එක පැත්තක්. ඒ වගේම කු කියන්නෙ ක්‍ෂය කර දමනවා, ජ කියන්නෙ ජනිත කරනවා කියන්නෙ කාරණා දෙකක්. මේ දෙක තමයි ලෝක සත්ත්වයා නිතරම කරන්නෙ. එතකොට **ලෝක සත්ත්වයින් වැඩි හරියක් කරන්නෙ හොඳ ක්‍ෂය කරල නරක ජනිත කිරීම. ඒක ලෝක සත්ත්වයින්ගෙන් 90% කටත් වැඩි ප්‍රමාණයක් කරන නිසාම කුජ නරක ග්‍රහයෙක් හැටියට තමයි හඳුන්වන්නෙ.** නමුත් කුජ කිව්වම ක්‍ෂය කිරීමයි, ජනිත කිරීමයි 100% ක්ම සමාන නෑ. හොඳ නරක දෙකම තියෙනවා. සමහරවිට නරක පැත්ත ක්‍ෂය කරල හොඳ පැත්ත ජනිත කරන 1% ක් හරි ඉන්නවා. එතකොට ඒ පුද්ගලයටත් කුජ පිහිටනවා. ඒ පුද්ගලයා හොඳ පැත්තට තමයි ජනිත කරන්නෙ.




උපතේ පටන් යමෙක් පාපයක් කරන වැඩපිළිවෙලක ඉඳල, එතැන් පටන් ඒ පුද්ගලයා ඒක නතර කරල හොඳ පැත්තට ගති ගුණ වඩන්න පුළුවන්. ඒ නිසා කුජ බලවත් නම් කෙනෙක් මිනී මරන්නත් පුළුවන්. ඒ ජාතියේ වැඩ කරපු කෙනා පසුව සාන්තුවරයෙක් වෙන්නත් පුළුවන්. කුජගෙ ස්වභාවය ඒකයි. මේ දෙපැත්තටම කුජ බලවත් වෙන්න පුළුවන්. දැන් ලග්නයේ (1 ස්ථානයේ) කුජ හිටියොත් ඒ පුද්ගලයගෙ හිසට වෙඩි වදිනවයි කියල ජ්‍යොතිෂවේදීන් කියනවා. මොනව හරි ඔළුවට පහරක් වදිනවා. ඒ වගේ දෙයක් තමයි දැන් ජ්‍යොතිෂ විද්‍යාව ඉගෙන ගත්තු අය කියන්නෙ. හැබැයි හිසට පහර වදිනකොට, ලෝක සත්ත්වයා වැඩි හරියක් නරක ඒව තමයි ලෝකයේ හදන්නෙ, හොඳ ඒව නෙවෙයි. නමුත් මේ කියන හිසට වදින පහර හොඳ එකක් වෙන්නත් පුළුවන්. ඒක පරමාර්ථ අර්ථයෙන් තේරුම් ගන්න ඕන දෙයක්. නමුත් අද ඒක දන්නෙ නෑ. ඒ කියන්නෙ මේ මස් ලේවලින් හැදිච්ච හිස නෙවෙයි. ඒක තමයි සංකේතය. මේ කියන්නෙ මනස හෙවත් හිත ගැන. මිනිහගෙ ඔළුව හොඳ නෑ කියල අදත් කතාවට කියන්නෙ මස් ලේ ඔළුව නරක් වෙලා කියන එක නෙවෙයි, මනස අවුල් සහගතව වැඩ කරනව නම් තමයි ඒ වගේ කතාවක් කියන්නෙ.

එතකොට කෙනෙක්ගෙ ඔළුවට පහරක් වැදිල වෙනස් වෙනවයි කිව්වම මේ දෙපැත්තම තියෙන බව තේරුම් ගන්න ඕන. සමහරවිට විනාස වෙන්න පහරක් වදින්නත් පුළුවන්. වැඩි හරියක් එන්නෙ එහෙම ඒවා තමයි. හැබැයි සමහරවිට හොඳ පැත්තට විතරක් වදින්නත් පුළුවන්. උදාහරණ විදියට එක පාරටම හදිසි කම්පනයක් (ෂොක් එකක්) ආවයි කියල පෙළක් අය කියනවා. ඒ කියන්නෙ හිතට පහරක් වැදුනයි කියන එක. ඒකෙන් තමන්ගෙ ගමන් මග වෙනස් කළා, හිතට පහරක් වැදිල ඒ පුද්ගලය මළා. ඒ කියන්නෙ මෙච්චර කල් ගෙනාපු අදහස මළා. මළා කිව්වම මස් ලේ කය විතරක් නෙවෙයි ඒ අදහසත් ☞

නැත්නම් ඉතිරි විපාක ශේෂය ඒ ගෙදර උදවියට වෙනත් විදිහකට පරිවර්තනය වෙලා එන්න පුළුවන්. මොකද වාස්තු දෝස ඉවත් කරල කර්ම විපාකයක් නවත්වන්න බෑ. ඒ වගේ දේවල් ඉතින් සාසන මාර්ගයෙන් ගෙවා ගන්නව හැර අනික් ඒවා තාවකාලික උපක්‍රම විතරයි. වාස්තු දෝස ඉවත් කළාට වැඩක් නෑ කියන එක නෙවෙයි ඒකෙන් කියන්නෙ. මොකද කර්ම විපාකවලට අමතරව වාස්තු දෝසත් එක් වුනාම ඒකෙන් එන හානිය වැඩි වෙනවා. ඒ නිසා වාස්තු දෝස ඉවත් කළාම, තවත් දෝස එන්න තියේ නම් කර්ම විපාක කොටසින් එන දෝස විතරයි ඉතිරි වෙන්නෙ. වාස්තු දෝස තිබුනයි කියන්නෙ විපාක ඵල දෙන්න පසු තලය හදල දුන්න වගේ වැඩක්. හරියට අඬන්න ඉන්න මිනිහගෙ ඇහැට ඇඟිල්ලෙන් අනිනව වගේ දෙයක්. ඒ නිසා මේ වාස්තු විද්‍යාවෙදි කරන්නෙ කර්මයට විපාක ගෙවන ප්‍රතිකර්මයක් නෙවෙයි, ඒවා මතු වෙන්න තියෙන පසුතලය හෙවත් සමනන්තරය ඉවත් කිරීම. මොකද ප්‍රයෝග සම්පත්තියකින් ඒ එන දෝසය අයින් කළාට කර්ම විපාකයෙන් එන ටික ඉතිරි වෙනවා. ඒ නිසා මේ වගේ වාස්තු දෝස ඉවත් කරනව වගේම, තමන්ට ඉඩ ලැබෙන හැටියට පින් දහම් ඇතුළු සාසන කටයුතුවල යෙදීමත් හැම පැත්තෙන්ම හොඳයි.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

මෙතන තියෙනවා. නමුත් ඉතින් අද ඉන්න හුග දෙනෙක් මේ කාරණයෙන් මතු පිටින් පෙනෙන පොඩ්ඩක් විතරක් දන්න නිසා, ඒ පොඩි කෑල්ල විතරක් අල්ලගෙන කියනවා, කුජ ලග්නයේ හිටියොත් එක්කො ඔළුව පැළෙනවා, එහෙම නැත්නම් ඔළුවට වෙඩි වදිනවා කියල. නමුත් ඒ එක කොටසක් විතරයි. ඉතින් මේ කාරණය දහමින් පැහැදිලි කරන්න පුළුවන් මහා ගැඹුරු විග්‍රහයක්. මේ පුංචි උදාහරණයක් විතරයි පෙන්නුවෙ.

මීට කලිනුත් විග්‍රහ කළා වගේ ලෝක සත්වයා අවිද්‍යාවෙන් තෘෂ්ණාවෙන් සැරිසරන මේ ක්‍රමය නිසා කවද හරි මේ සක්වලක් හැදිල පිහිටන්නෙත් මේ ග්‍රහ පිහිටීම්වලට අනුව තමයි. ග්‍රහ පිහිටීම්වලට හේතු වෙන්නෙ ලෝක සත්වයා කරපු ග්‍රහණය නම්, ග්‍රහණය කළේ යම් කිසි ලෝක ධර්මතාවයකට අනුව නම්, අනන්ත අප්‍රමාණ සංසාරයේ වෙනත් ක්‍රමයක් තිබුණොත් නැත්නම්, ලෝක සත්වයා සැපයි සුවයි කියල හොයා ගෙන ගියේ මේ ක්‍රමයම තුල නම්, දැන් යන්නෙත්, මතු යන්නෙත් මේ ක්‍රමයටම තමයි. මේ ක්‍රමය තුළ පෙර සංසාරයෙත් ආව නම්, මේ චක්‍රාකාර රටාවම තමයි දැන් යන්නෙත්. මතු යන්න තියෙන්නෙත් මේ රටාවෙම නම්, මතු මේ චක්‍රය යන්නෙත් මේ විදියටමයි. ඒ ඒ සත්වයින්ගෙ ග්‍රහණය කිරීම අනුව මේ චක්‍රය ක්‍රියාත්මක වෙනවා. ග්‍රහණය කරන කොට යමක් මාධ්‍යය කර ගත්ත නම් ඒක තමයි මනුස්ස මාධ්‍යය. ඒකට ආධාර කරන්නා වූ ග්‍රහ වස්තු කියන්නෙ ඒවාට උදව් දෙන දේවල්. සත්ව ලෝකයට ආධාර වශයෙන් තමයි ග්‍රහ ලෝක පිහිටන්නෙත්. එහෙම නැතිව ග්‍රහ ලෝකවල සත්තු හෙව්වට සත්තු නෑ. ග්‍රහණය කර ගත්ත හැටියට ප්‍රතිඵල දෙන්න තමයි ඒවා සකස් වෙලා තියෙන්නෙ. සත්වයින්ගෙ තිබිච්ච ගති ගුණ, දුරට අස් වුන නිසා තමයි දුරස් වුනේ. ස්ව කියන තමන්ගෙන් විසි වෙච්ච නිසා තමයි විශ්ව වුනේ. එතකොට විශ්වයේ දුරට අස් වුනා කියන්නෙ, තමන්ගෙ ඇසුරෙන් දුරට ඈත් වුනා කියන එක. ග්‍රහණය කර ගත්ත හොඳ දේවල් තමයි මුලින්ම ඈත් වුනේ. හොඳ නරක කියන දෙක ගත්තම නරක එකේදි මහා නරක එකකට බැහැගත්තොත් පොඩි නරක එකත් ඈත් වෙනවා. ඊට වඩා විසාල නරක දෙයකට බැහැගත්තොත් ඒ මට්ටමත් ඈත් වෙනවා.

උදාහරණයක් විදියට යම් පුද්ගලයෙක් කේන්ති ගිහින් බනින මට්ටමෙන් විතරක් කටයුතු කරනව නම්, ඒකත් සාපේක්ෂව හොඳයි. ඊට වඩා එහා මට්ටමට ගියොත්, ඒ කියන්නෙ කේන්ති ගිහින් බනින එකෙන් නතර වෙන්නෙ නැතිව පහර දෙන මට්ටමට ආවොත් තවත් දුරස් වෙලා දූෂ්‍ය වෙනවා. ඊටත් වඩා දුරස් වුනොත් තුවාල කරන මට්ටමින් නතර වෙනවා. තවත් දුරස් වුනොත් දූෂ්‍ය වෙලා අත පය කඩල තමයි නතර වෙන්නෙ. තව තවත් දූෂ්‍ය වුනොත් කෙනෙක්ව මරණ තත්වයටම එනවා. මේ සියල්ලම විස කිරණ වශයෙන්, ලෝකයේ විස තැන් වශයෙන් දුරස්ව පිහිටනවා. ගහන්නෙ නැතුව හිටිය හොඳ ගති ලක්ෂණය ගහන කොට දුරස් වෙනවා. බනින්නෙ නැතුව හිටිය හොඳ ගති ලක්ෂණය බනින කොට දුරස් වෙනවා. මේ ක්‍රමයට හොඳ සහ නරක ගති ලක්ෂණ විශ්වයට දුරස් වෙනවා. තමන්ම නැගී ඉඳල කරපුවත්, අන්‍යයන් සමග එකතු වෙලා කරපු ඒවත් හොඳ නරක වශයෙන් දුරට අස් වෙලා ''ස්ව'' කියන තමන්ගෙ දේවල් විශ්ව ගත වෙලා විශ්වයේ පිහිටනවා. තමන් ඇසුරු කරපු දේවල් කොච්චර දුරට විසි වෙලාද, ඒ තරම් දුරට විශ්වයේ ග්‍රහ චක්‍රයත් එක්ක ඒ ටික පිහිටනවා.

ඉතිං මේ විදියට තමන්ගෙ ලෞකික සම්පත්තියක් ලබා ගන්න මේ වගේ දේවල් ග්‍රහණය කළොත් ඒ පුද්ගලයා කුජ ග්‍රහයා හා සම්බන්ධ විපාකයකට උරුමකරුවෙක් වෙනවා. තමන්ගෙ ලග්නයට අවශ්‍ය කරන්නා වූ පිහිටීම අනුව ඒකට විපාක චක්‍රයකුත් හැදෙනවා. එතකොට සමහරු කියනවා කුජ හතේ කියල. හත කියන්නෙ කුටුම්බකස්ථානය. එහෙම නැත්නම් පවුල් ස්ථානය/පවුල් ජීවිතය. පවුල් ජීවිතයක වටිනාකමක් දැක්කම ඒක ගත කරන තවත් කෙනෙක් කෙරෙහි ඉරිසියාවකුත් ඇති වෙනවා. තමන්ට යමක් වටිනව කියල දැනුණම ඒක තමන්ට හිමි කර ගන්න උත්සාහ කරන පෘතජ්ජන ගතියක් තියෙනවා. එතකොට ඒක අනුන්ට ලැබෙනවට කැමති නෑ. අනුන් සතුටින් ජීවිතය ගත කරනවට කැමති නෑ. අනුන්ගෙ පවුල් ජීවිත රැස්සන්නෙ නැතුව යනවා. ''ඕකුන්ට නැතුව ඒ සැප මට තිබුණ නම්'' කියන ඉරිසියා සහගත සිතිවිල්ල මතු වෙලා ඒකට අනුව ගති ලක්ෂණ මතු වෙනවා.

**''අන් සතු සැපතක් දැක දඩි ලොබිනේ - උන්ට නොවී මට වේවයි සිතිනේ''** මේ ආකාරයට කෙනෙක් යම් කිසි කාම සම්පත්තියක්, එහෙම නැත්නම් සතුටු පවුල් ජීවිතයක් ගත කරනව දැකල, උන්ට නැතුව ඕක මට ලැබුණ නම් කියන හැඟීමක් ආවොත්, ඒ පුද්ගලයාට කර්ම විපාක වශයෙන් කුජ හතට එනවා. කුජ හතට ආවොත් පවුල් ජීවිතය අවුල්. ඒ කියන්නෙ අනුන්ට කරපු අවුල දන් තමන්ට අවුලක් බවට පත් වෙලා. තමන්ට සෝකය ගෙන දෙන දෙයක් බවට පත් වෙනවා. ඉතිං මේ වගේ, හේතුවට අනුව තමයි ඵලයත් නිර්මාණය වෙන්නෙ. නමුත් අද කුජ හතේ ඉන්න සියල්ලන්ගෙම මේ ආකාරයට පවුල් අවුල් වෙන්නෙ නෑ. මොකද අද කේන්දර හදන්න ගන්නෙ මේ ලෝකයට දරුවෙක් මවු කුසෙන් බිහි වන, මෙලොව එළිය දකින වෙලාව. නමුත් එදා ඍෂිවරු ඒ සඳහා යොදා ගත්තෙ ගල්ධබ්බයා මවු කුසට ඔක්කන්ති වෙන වෙලාව. ඒ කියන්නෙ අද කේන්දර හදන්නෙ නියම වෙලාවට නෙවෙයි. ආසන්න වෙලාවක් අරගෙන තමයි හදන්නෙ. එදා ඍෂිවරු දායාද කරපු මේ ක්‍රමය දැනගත්තු අය ගුරු මුෂ්ටි හංගගෙන මැරිල ගියාට පස්සෙ මේ නියම ක්‍රමය වැළලිලා ගියා.

ඒ නිසා ඉස්සර ඍෂිවරු දුන්නු කේන්දර ක්‍රමය නෙවෙයි අද භාවිතා කරන්නෙ. ඒ ක්‍රමය අද වෙනකොට වෙනස් වෙලා තියෙන්නෙ. ජීවියෙක් මවු කුසකට ඔක්කන්ති වෙන්නෙ කර්ම ශක්තිය අනුව. ''ගන්ධබ්බො ඔක්කන්ති හෝති'' කිව්වම, ගන්ධබ්බයා ඔක්කන්ති වෙන්නෙ කාටවත් ඕන හැටියට නෙවෙයි. ඒක කාටවත් කරන්න පුළුවන් දෙයකුත් නෙවෙයි. ඒ ඒ සත්වයාගෙ කර්ම ශක්තිය අනුව සුදුසු වෙලාවට තමයි මවු කුසකට ඔක්කන්ති වෙන්නෙ. ඒ විදියට ඔක්කන්ති වන වෙලාව හරියටම දැන ගන්න ක්‍රම එදා ඍෂිවරු දැනගෙන හිටියා. දින, වෙලාවන් මැනල, තත්කාල කියල ක්‍රමයක් මගින් ඒ මොහොතෙ වෙලාවට ඒක හදල එකතු කර ගන්න ක්‍රමයක් එදා තිබුණා.

කාල ගුණ දේශගුණ විපර්යාස නැත්නම්, සත්වයා විකෘති ගති නැති සාමාන්‍ය තත්වයක ඉන්නව නම්, ඒ වගේ මවු කෙනෙකුට පිරිමි දරුවෙක් කුසට ඔක්කන්ති වෙලා මවු කුස තුල ඉන්න කිසියම් වූ කාලයක් තියෙනවා. ඒක මාස දහයයි, දින දහයයි, පැය දහයයි ආදී වශයෙන් වෙනවා. ගැහැණු දරුවෙක් නම් මාස නමයයි, දින නමයයි, පැය නමයයි ආදී වශයෙන් වෙනවා. ඒ තමයි කුස තුළ ඉන්න කාල සීමාව. එහෙම නැතිව අකාලයේ බිහි වෙන්නෙත් නෑ, කල් ගිහින් බිහි වෙන්නෙත් නෑ. කාල ගුණ දේශගුණ වෙනස් වීමෙන්, කන බොන දේවල් වෙනස් වීමෙන්, ශරීර විපර්යාස ආදියෙන් ඒ කාල සීමාව වෙනස් වෙන්න පුළුවන් වුණත්, ඒ වෙනස් වීම හඳා ගන්න ක්‍රමවේද එදා තිබුණා. ගුරු මුෂ්ටි වශයෙන් හංග ගත්ත නිසා අද ඒවා නැති වෙලා. ඉතිං මේ කිව්ව වගේ ඔක්කන්ති වෙලාවට හරියටම කුජ හතේ හිටියොත් තමයි අර වගේ පවුල් ජීවිත අවුල් වෙන්නෙ. අද තියෙන කේන්දරේ වෙලාව ආසන්න වෙලාවක් අනුව හදල තියෙන නිසා, 100% ක් ☞

කේන්ද්‍රය හරි කියන්න බෑ. ඒ නිසා අද මේ කේන්ද්‍ර සාස්ත්‍රය බොහෝ කොටම අපහාසයට පත් වෙලා. මොකද වරද්දල අරන් තියෙන නිසා. අනික ආසන්න වෙලාව කියන්නෙ හරිම වෙලාව වෙන්නත් පුළුවන්, නොවෙන්නත් පුළුවන්.

ඊළඟට හතර කේන්ද්‍රේ පාළු වෙනව කියල එකක් තියෙනවා. 1,4,7,10 කියල ස්ථාන හතරක් කේන්ද්‍රය තුළ තියෙනවා. ලග්න ස්ථානය තමයි 1 න් පෙන්නුම් කරන්නෙ. 4 වන ස්ථානයෙන් පෙන්නුම් කරන්නෙ තමන් කටයුතු කරන ආරම්භක ස්ථානය. 7 වෙනි එකෙන් පෙන්වන්නෙ තමන්ගෙ පවුල් ජීවිතය ගත කරන කුටුම්භකස්ථානය. 10 වැන්නෙන් පෙන්වන්නෙ තමන්ගෙ අනාගතය සකස් කර ගන්න, අභිවෘද්ධිය නගා ගන්න ස්ථානය. මේ ආකාරයට මේ ස්ථාන හතර පාළු වන කොට්ඨාස දෙකක් ඉන්නවා. නමුත් අද මේ ස්ථාන හතර පාළු වන එක කොට්ඨාසයක් ගැන විතරයි දන්නෙ. හතර කේන්ද්‍රය පාළු නම් මහා කාලකන්නියෙක් කියන්න විතරයි අද දන්නෙ. නමුත් හතර කේන්ද්‍රය පාළු වෙච්ච මහා වාසනා-වන්තයොත් ඉන්න කේන්ද්‍ර තියෙනවා. අද ඒවා දකින්නෙ නෑ.

පෙර භවයේ තමන් කෙබඳු තැනක පිහිටලද කටයුතු කළේ, කෙබඳු ගති ලක්ෂණයක පිහිටලද කටයුතු කළේ කියන කාරණය මත ලග්න ස්ථානය හෙවත් ලගින ස්ථානය සකස් වෙනවා. සමහර වෙලාවට නොයෙක් ආකාරයේ වන්නා වූ මත් ද්‍රව්‍යවලට ඇබ්බැහි වෙච්ච, ඒකෙන් අන්තයට ගියපු බේබද්දො, කුඩු කාරයො වගේ අය ඉන්නවා. ඒ අයට ලගින්න ස්ථානයක් ඕන නෑ. කොහේ වුණත් කමක් නෑ. අගුපිලක වුනත් කමක් නෑ. ඒ අයට අල්ල ගත්ත තැනක් නෑ. යමක් තිබුණ නම් ඒකත් තුට්ටු දෙකට කාට හරි විකුණල ඒකෙනුත් කසිප්පු, මත් ද්‍රව්‍ය බොනවා, නොයෙක් දුරාචාර කරනවා. බඩුමුට්ටුවක් විකුණල හරි තමන්ගෙ අවශ්‍යතාවය සපුර ගන්නවා. ඒ තරමටම ආස්වාදයෙන් මත් වෙලා. මේ ආකාරයට ඒ අය තමන්ට කියල මුකුත්ම ග්‍රහණය කරගන්නෙ නෑ. රැකියාක් කරන්නෙත් නෑ, පවුල් ජීවිතයක් කියල දෙයක් නෑ, අනාගතයක් කියල දෙයක් නෑ. හැබැයි ඒ රහත් වෙලා නෙවෙයි. මේ තමයි ආස්වාදයේ කැදරකමක හැටි. ඒ විදියට කිසිවක් ග්‍රහණය කර ගත්තෙ නැති නිසා, ලගින්න තියෙන තැන් නැති කර ගන්නවා. ඒ නිසා ඒ වගේ කාලකන්නියටත් ලග්නෙ ඇතුළු ස්ථාන හතරෙ ග්‍රහයො නැති වෙනවා. ඒකත් හතර කේන්ද්‍ර පාළු වෙච්ච එක ක්‍රමයක්.

4 වන ස්ථානය කියන්නෙ යමක් කමක් හරි හම්බ කර ගන්න, රස්සාවක් කරන තැන. රස්සාවක් කරන්න ඕන නැති, අනාගත බලාපොරොත්තුවක් නැති, තමන්ගෙ දියුණුවට කියල ඕනකමකුත් නැති, මංකොල්ල කාල හරි කමක් නෑ කාගෙන් හරි කඩා වඩා ගෙන හරි කමක් නෑ, ඒ මොහොතෙ ආස්වාදයෙන් කටයුතු කරන්න තිබුණ නම් ඇති කියන මානසිකත්වයෙන් කටයුතු කරන අයටත් ග්‍රහයො නැති වෙනවා. 7 වන ස්ථානය පාළු වෙලා, පවුල් ජීවිතය පාළු වෙන්නෙත් පවුල් ජීවිතයක් ගැන හිතන්නෙ නැති, අඹු දරුවො ගැන හිතන්නෙ නැති, තමන්ගෙ ආස්වාදය තකාම දුරාචාරයට ඇබ්බැහි වෙලා කටයුතු කරන මත් බවෙන් වෙලිල ඉන්න අයටත් ග්‍රහයො නැති වෙනවා. 10 වන ස්ථානය තමන්ගෙ අනාගතය සකස් කර ගන්න, අභිවෘද්ධිය නගා ගන්න ස්ථානය. අනාගතය ගැන ගානක්වත් නැති මත්ද්‍රව්‍ය වගේ දුරාචාරවලට ඇබ්බැහි වෙච්ච අයගෙත් 10 වැන්නෙ ග්‍රහයො නෑ. මේ ආකාරයට හතර කේන්ද්‍රය පාළු වෙච්ච කෙනෙක් ගෙදරක හිටියොත් මුළු පවුලම විනාසයට පත් වෙන්න පුළුවන්. ඒකට ඉතින් ඒ ගෙදර අනික් අයටත් කර්ම විපාකයක් යෙදෙන්න ඕන. ඒක හේතු ඵල ක්‍රමයක්. මේවා ඍෂිවරු නිකන් පෙන්නුව නෙවෙයි. ඍෂිවරු ලෞකික වශයෙන් ඒ ස්වභාවය දැකල තමයි පෙන්නුවෙ.

ඊළඟට තවත් වැදගත් පුද්ගලයො කොටසක් ඉන්නවා. ''මේ ලෝකෙ ස්වභාවය මට නම් වැටහෙනවා, මේවා ඔක්කොම අනිච්චයි, දුක්ඛයි, අනත්තයි, පින් දහම් කර ගන්න එක කොච්චර නම් වටිනවද? උපන් තැනක යහපත් දෙයක් කර ගත්තොත් ඒක තමයි සසරේදි යහපතක් වෙන්නෙ, නිවනට ආධාරයක් වෙන්නෙ. ඒ නිසා මම නම් ගෙදර තියෙන දෙයක් විකුණල හරි කමක් නෑ පිනක් දහමක් කර ගන්නවා'' මෙන්න මේ කියන අදහසින් කටයුතු කරන කෙනාගෙත් ලග්නෙ ග්‍රහයො නෑ. තමන්ට කියල වෙනම ගොඩ ගහගන්න රස්සාවක් කරන්නෙත් නැතිව, යමක් කමක් ආරම්භ කරන්නෙ නැතිව, තමන්ගෙ තියෙන දේත් විකුණල පින් දහම් කරනවා. ඒ වගේ අයගෙ 4 වැන්නෙ ග්‍රහයො නැති වෙනවා. ඔයා කැමති නැත්ද ළමයි එක්ක විනෝද ගමනක් යන්න කියල ගෙදරින් අහනකොට, අනේ මට බෑ, මට ලොකු දානයකට සහභාගි වෙන්න තියෙනවා, මට ඒක ඊට වඩා වටිනවා, එහෙම නැත්නම් මට එදාට සිල් ගන්න යන්න තියෙනව කියල රාග, ද්වේශ, මෝහ ක්ෂය කරන කටයුත්තක නියැලෙන පුද්ගලයා පවුල් ජීවිතය (කුටුම්බකස්ථානය) අල්ල ගෙන නැති මහා පින් ඇත්තෙක්. ඒ පුද්ගලයටත් ඒ හේතුවෙන් 7 වැන්නෙ ග්‍රහයො නැති වන විපාකයක් එනවා.

සමහරු අඹු දරුවන් ගෙදර දාල ඇවිත් දවස් ගණන් පිං අතේ වැඩ කටයුතුවල යෙදෙනවා. ගෙදරින් කතා කරන කල් ගෙවල් පැත්ත පළාතෙවත් යන්නෙ නෑ. එහෙම කරන්නෙ යුතුකම් වගකීම් ඉටු නොකර නෙවෙයි. ඒවත් ඉටු කරල පවුල් ජීවිත බදා ගන්නෙ නැතුව පින් අතේ වැඩවල යෙදෙනවා. මෙහෙම කටයුතු කරන උදවියටත් 7 වැන්නෙ ග්‍රහයො නෑ. නමුත් ලෝභ, ද්වේශ, මෝහ ක්ෂය වෙන යහපත් මහා පිං කටයුත්තක යෙදිල ඉන්නෙ. මේ උදවියගෙත් 7 වැන්නෙ ග්‍රහයො නෑ. අනාගතය ගැන පොඩ්ඩක්වත් හිතන්නෙ නැතුව සමහරු පින් දහම්වලට තම සේසතම යොදවනවා. මට අද මැරුණත් කමක් නෑ පිනක් දහමක් කරගෙන, අනාගතයට මම ගොඩ ගහන්නෙ නෑ කියන මානසිකත්වයෙන් කටයුතු කරන අයටත් 10 වැන්නෙ ග්‍රහයො නෑ. ඒ අයගෙත් හතර කේන්ද්‍රය පාළුයි. නමුත් මහා වාසනාවන්තයෝ. අලෝභ-යෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් කරපු දේවල් නිසා මහා සැප සම්පත්තියක් කාගෙන් හරි ලැබෙනවා. දෙමව්පිය-න්ගෙන් හරි උරුම වෙනවා. තමන් ග්‍රහණය නොකෙරුවත් පාඩු වෙන්නෙ නෑ.

මේ විදිහට තමන් මහන්සි වෙන්නෙත් නැතුව මහා ධනස්කන්ධයකට හිමිකම් ලබනවා. පවුල් ජීවිතය හරි සමගියි. ස්වාමි පුරුෂයාගෙන් බිරිඳට හෝ බිරිඳගෙන් ස්වාමි පුරුෂයාට හෝ කිසි කරදරයක් නෑ. කොහේ ගියත් නිදහස දීල තියෙන්නෙ. කොහේ ගියත් සැකයක් නෑ. ඒ වගේම, අපිට යහපතක් කරනවා, යුතුකම් වගකීම් ටිකත් හරියට කරනවා, ඒ නිසා අපිත් අපේ පාඩුවේ ඉඳිමු කියල පවුලෙ උදවියගෙන් කරදර එන්නෙත් නෑ. ඒ කියන්නෙ 7 වැන්නත් නිදහස් වෙලා තියෙන්නෙ. මේ වගේ ලැබෙන ලැබීම හතර මහා නිධානය පහළ වුනා වගේ. අනාගතය වෙනුවෙන් එක් රැස් කරන්න ඕන කියල හිතන්නවත් දෙයක් නෑ. මේ තමයි හතර කේන්ද්‍රය පාළු වෙච්ච වාසනාවන්තයින්ගෙ ස්වභාවය. ඉතිං මේ පටිච්ච සමුප්පාද දහම් රටාව ලෞකික සහ ලෝකෝත්තර කියන දෙකටම පොදුයි. සියල්ලම සංඛතයි, පටිච්ච සමුප්පන්නයි කිව්වෙත් ඒකයි. සංඛත නොවන, පටිච්ච සමුප්පන්න නොවන කිසිම දෙයක් මේ ලෝකෙ පහළ වෙන්නෙ නෑ. දුක හට ගන්න දේවලුත්, සැප හට ගන්න දේවලුත්, ලෞකික වූ සියළු දේත් සංඛතයි, පටිච්ච සමුප්පන්නයි.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

